සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2560ක් වූ ඇසළ මස (ව්‍යවහාරික වර්ෂ 2016 ජූලි)

58 වෙනි කලාපය

## අපි නොදකින සසර ගනුදෙනු...



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# පින්කම් කර ගමු දෙලොවම තුටු වෙමු







අනේ පිඬු සිටුහු සඟනට දන් පුදති
සෙනේ සපිරි දියණියො උවටැන් කරති
බණේ පැහැද සුමනා දුව පින් කැමති
පිනේ මහිම සෙදගැම් ඵලයෙන් නිවෙති

ලෙඩකින් පෙළුන සඳ මැය තදබල විලස
එසැනින් පැමිණ පිය සිටු විමසයි මෙලෙස
පවසන් දියණියෙනි නුඹ ලෙඩ වුනෙ කෙලෙස
දැනගන් මලණුවෙනි අද මරණයෙ දවස

අනේ මගෙ දුවට සිහි මඳ වෙලාදෝ
දැනේ එබව මලණුවො වුනෙ කෙසේදෝ
විනේ කරපු යකෙකුට බිය වුනාදෝ
වුනේ කිමද නන් දොඩවනු පෙනේදෝ

බාල මගෙ මලේ නුඹ දුක් නොවන්නේ
ආල වැඩුම දුක බව කිම නොදන්නේ
ලෝල නොවෙනු අතිරය සැම සිතන්නේ
සීල වන්ත වෙනු එයමයි වටින්නේ

සුමනා දුවගෙ පණ නල එවිට සැඟවිණ
එසැනා තුසිත දෙව් ලොව උපත සිදුවිණ
සොවිනා සිටුහු බුදු හිමි වෙතට සපැමිණ
අසනා කල මලණුවෙනි පැවසු එකරුණ

සිටු තුම ඔබ පළමු මග ඵලයයි ලැබුවේ
දුටු සෙදගැම් ඵලය දුව ඔබ හට දෙටුවේ
දෙටු බව නිසාමයි මලණුවො යයි දෙඩුවේ
තුටු වනු යෙහෙකි ඇය දැන් තුසිතෙහි පසුවේ

ඉධ නන්දති පෙච්ච නන්දති යනාදී
පද රුත් දහම සිටු තුමහට කියාදී
හොඳ උවසුවෝ දෙලොවම සුව තනාදී
වැද සුගතියට තුටු වෙති දෙසු ඔවාදී

(ධම්ම පදය ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ධම්ම පදය තුලින් නිවන් මග

**25 වන කොටස**

ලොව්තුරා බුදුන් වහන්සේ ධම්ම පදයේ එන මේ ගාථා පෙළ දේශනා කරන්න හේතු වුනේ, කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලයේ පටන්ම එන සිද්ධියක්. ඉතින් කාශ්‍යප බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ කපිල කියල එක්තරා කුල පුත්‍රයෙක් මහණ වුනා. මේ කුල පුත්‍රයා ග්‍රන්ථ ධූරය නමින් තනතුරක් ලබල ත්‍රිපිටකය ඉගෙන ගෙන අනෙක් අයටත් කියා දෙමින් කාලය ගත කළා. ඒ දැනුම නිසා ඔහුට බොහෝ ලාබ ප්‍රයෝජන ලැබුනා. යන යන තැන පිළිගැනීම තිබුනා. මේ ලැබුන ලාබ සත්කාර නිසා ඔහු බොහෝ වෙනස් වුනා. ඔහුගේ තනතුර නිසා ඔහු කියන දේ පිළිගන්න මිනිස්සු මැළිවුනෙත් නෑ. නමුත් ලාබ සත්කාරවලට ගිජු වෙච්ච නිසා නොකළ යුතු දේ කළ යුතු දේ හැටියටත්, කළ යුතු දේ නොකළ යුතු දේ හැටියටත් පෙන්වමින් මිනිස්සු නොමග යවමින් හිටියා. මහ තෙරුන් වහන්සේලා ඉදිරිපත් වෙලා අවවාද අනුසාසනා කළත් කිසි දෙයක් පිළිගත්තෙ නෑ. ඒ නිසාම බොහෝ සිල්වත් ගුණවත් භික්ෂූන් වහන්සේලා මොහු හැර ගියා. මේ කපිල භික්ෂුව නිසා කාශ්‍යප බුදුන් වහන්සේගෙ සාසනයේ ආයුසත් අඩු වුනා.

දූන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, කල්ප කාලාන්තරයක් තිස්සේ අප්‍රමාණ පාරමිතා පුරාගෙන මහා ශක්තියකින් මතු කරපු බුද්ධ සාසනයක ආයුස ඒ වගේ එක භික්ෂුවක් නිසා අඩු වෙන්න පුළුවන්ද කියල. නමුත් බුද්ධ දේශනාවෙම තියෙන දෙයක් තමයි, ආපෝ තේජෝ වායෝ පඨවි කියන සතර මහා ධාතුවට මේ සාසනය විනාස කරන්න බෑ, **මේ සාසනය තුළම හටගන්න පිළිලයක් විසින් සාසනය විනාස කරනවා කියන කාරණය.** සාසනය තුළම කිව්වම භික්ෂු, භික්ෂුනී, උපාසක, උපාසිකා කියන සිව්වනක් පිරිසම අයිති වෙනවා. බෞද්ධ කියන නාම මාත්‍රයක් ගැව්ච්ච කෙනත් අයිතියි. පිළිකාව (පිළිලය) කියන එක පුංචි වුනාට මුළු ශරීරයම විනාස කරන්න පුළුවන්. ඒ වගේ මේ සාසනය නමැති ශරීරයටත් පිළිකාවක් වගේ තමයි ඔය ජාතියේ එක දුස්සීල භික්ෂුවක්. එතකොට මේ බුද්ධ සාසනය තුළම පහළ වෙන අය නිසාමයි සාසනය විනාස වෙන්නෙ. එහෙම නැතුව පිටින් එන අන්‍ය සාසනවල අය නිසා නෙවෙයි. අද



වුණත් මේ සාසනය විනාස වෙන්නෙ මේ තුළ පැවිදි වෙලා ඉන්න සමහර අයගෙන්ම මිසක් අන්‍යාගමිකයන්ගෙන් නෙවෙයි. අන්‍යාගමිකයන් මත වරද පටවන්න හැදුවත් විනාස කරන්නෙ ඇතුලෙන්මයි.

බුද්ධ සාසනයට මුවාවෙලා අධර්මය ධර්මය හැටියට දේශනා කරනව නම් ඒක සාසන පිළිලයක්. නමුත් ඉතින් ඒකට කරන්න දේකුත් නෑ. මොකද බුද්ධ සාසනය මතු කිරීම එක කාරණයක්, පවත්වන්න බැරි වීම තවත් කාරණයක්. පවත්වන්න බැරි වෙන්නෙ ඔය කියන හේතු උඩ. ඒකත් ලෝක ස්වභාවයක්. කොස් ගහක් වගේ මහ ගහක් හදන්න අවුරුදු ගණනාවක් මහන්සි වුණාට, ඒක කපා දාන්න පැය ගණනකින් තනි මිනිහෙකුට පුළුවන්. එතකොට ගහ ඒ මට්ටමට හදන්න යන මහන්සිය කපල විනාස කරල දාන්න යන්නෙ නෑ. ගෙයක් දොරක් ගත්තත් ඒ වගේ, අවුරුදු ගණනාවක් මහන්සි වෙලා හදපු ගෙයක් එක මොහොතකින් සුන්නද්දූලි කරල දාන්න පුළුවන්. යම් කිසි රටක් නගරයක් ගත්තත් ඒ මට්ටමට දියුණු වෙන්න සෑහෙන කාලයක් වෙහෙසක් මහන්සියක් ගියාට බෝම්බයක් ගැහුවොත් ඇහි පිය ගහන මොහොතකින් විනාස කරන්න පුළුවන්.

ලෝකෙ හැම දෙයක්ම ඔහොම තමයි. වෙහෙස මහන්සි වෙලා දහසක් බලාපොරොත්තු තියාගෙන හැදුවට වැඩක් නෑ. ඒ තමයි ලෝකෙ හැටි. ඒ නිසාම තමයි ලොව්තුරා බුදුන් වහන්සේ අනාගත භය සූත්‍රවලින් පෙන්වා තියෙන්නෙ, **ලැබිච්ච වෙලාවෙදි පුළුවන් තරම් ප්‍රයෝජන ගන්න බලනව මිසක් සාසනය වුණත් රැක රැක තියාගෙන ඉන්න බෑ,** අපිට ඕන විදිහට පවත්වන්න බෑ කියල. ඒ කාරණය ඉතින් අද ඉන්න අයටත් බොහොම වැදගත්. මොකද අද වුණත් හුගක් උදවිය සාසනය කියල ගොඩනැගිලි ටිකයි භූමියයි රැක ගන්න දඟලනව මිසක් තමන්ට ලැබිච්ච අවස්ථාවෙන් ප්‍රයෝජන ගන්න බලන්නෙ නෑ.

එතකොට මේ කපිල කියන භික්ෂුව මරණයෙන් පසු අවීචියේ ගිහින් ඉපදුනා. බුද්ධාන්තරයක් තිස්සේ අවීචියේ දුක් විඳල නැවතත් ගෞතම බුදුන් වහන්සේගෙ කාලයේ රන්වන් පාට ශරීරයක් ඇති, නමුත් දරාගත නොහැකි දුගඳක් කටින් හමන මාලුවෙක් වෙලා ඉපදුනා. මේ මාළුවා ඒ කාලෙ හිටපු ධීවර ගම්මානයක ධීවරයන්ගෙ දැලකට අහුවෙලා රජතුමා මාර්ගයෙන් බුදුන් වහන්සේ ළඟට ගෙනාවා. රජතුමාට උවමනා වුනේ, මෙච්චර ලස්සන රන්වන් පාට ශරීරයක් ලැබිලත් ඇයි කටින් දුගඳක් හමන්නෙ කියල හොයාගන්න. ලොව්තුරා බුදුන් වහන්සේ ඒකට හේතු කිව්වා. බුද්ධ සාසනයේ හොඳ කීම, වර්ණනා කිරීම ආදිය නිසා රන්වන් පාට ශරීරයකුත්, තමන් නොමග යද්දි අවවාද අනුසාසනා දුන්න මහ තෙරුන් වහන්සේලාට බැන වැදුන නිසා දුගඳ හමන කටකුත් ලැබුනා.

එතකොට මේ සාසනය විනාස වෙන විදිහට කටයුතු කිරීම මහා බරපතල විපාක ගෙන දෙන පාපයක්. සමහර විට අට මහා නරකයේ උපදින්න තරම් හේතු වෙන්න පුළුවන්. එදා බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලෙත් එහෙම කරල අපාගත වෙච්ච අය හිටියා. අද වුණත් එහෙම අය ඉන්නවා. නමුත් මරණින් මතු අපාගත වුණා කියල අද ඉන්න බොහොමයක් අයට දැනගන්න එහෙම හැකියාවක් නෑ. හැබැයි ඉතින් ඒකට හේතු සිද්ධ වෙනවනම් තමන්ටම දැනගන්න පුළුවන්. මොකද මේ දහම් දේශනා කිරීම් ඇතුළු සාසන කටයුතු කරන කොට ලාභ කීර්ති ප්‍රසංසාවලට, තමන්ගෙ බඩ වඩාගන්න, තමන් උසස් කියල පෙන්වන්න ඒ දේ කරනවනම් ඒක තමන් දන්නවා. ඒ වගේ අය තමන් කියන කරන දේ දහමට එකඟ නොවුණත්, කිසි ප්‍රශ්නයක් නෑ කියල, තමන් කියන කරන එකමයි හරි කියන එහෙම අදහසක් ගන්නවා. එහෙම නැතිව ඒක ත්‍රිපිටක දහමට අනුව විමර්ශනය කරල බලන සිරිතක් නෑ. අද වුණත් දහම් දේශනා කරන හුඟ දෙනෙක් වරද්ද ගත්තු තැනක් තමයි මේ. හුඟ දෙනෙක් ත්‍රිපිටකයට එකඟව කරුණු පෙන්වා දුන්නත් ඒකට විරුද්ධ වෙලා තමන්ගෙ මතයම විස්තර කරනවා. ඒකම ජයගන්න බලනවා. නමුත් ඒක හරි භයානකයි.

සමහර අයගෙ සිරිතක් තියෙනවා, ත්‍රිපිටකයෙන් කරුණු පෙන්වන කොටත්, ඒක පස්සෙ හදාගත්තු එකක්... ත්‍රිපිටක සාහිත්‍යයක්... ආදී වශයෙන් මොනවහරි කියල තමන්ගෙ මතයම ජයගෙන, ඒකම ඇත්ත කියල පෙන්වන්න හදනවා. නමුත් පාලි ත්‍රිපිටකය ධර්මයට විරුද්ධ නෑ. ඒක හරියටම ධර්මයට ගැළපිලා තියෙනවා. සිංහල පරිවර්තනවල දෝස තිබුණත් පාලි ත්‍රිපිටකයේ කොතැනකවත් එහෙම දෝස, පරස්පර තැන් නෑ. අද වෙනකල් කාටවත් එහෙම පරස්පරයක් හොයාගන්න පුළුවන් වෙලත් නෑ. ඒ පාලි වචනවලට පසුකාලීනව සිංහල අර්ථ දෙන්න ගිහින් තමයි පටලවාගෙන වරද්දගෙන පරස්පර වෙලා තියෙන්නෙ. නැණ නුවණ මදි නිසා තෝරගන්න බැරිකමයි ගැටළුව වෙලා තියෙන්නෙ. එහෙම නැතුව පාලි පෙළ දහම වැරදිලා නෑ.

ඒ නිසා අදහස හරියටම ගැළපෙන්න ඕන. එක සූත්‍රයක අදහස තවත් සූත්‍රයකට ගැළපිලා නැත්නම් ඒක පරස්පරයි. එහෙම වෙන්න බෑ. නමුත් ත්‍රිපිටකය තුළ සූත්‍ර 1000 ක් අරගෙන බැලුවත් කොතැනකවත් පරස්පරයක් හොයා ගන්න නෑ. එකකට එකක් ගැළපිලා තියෙනවා. ඒක තමයි මේ පාළි ත්‍රිපිටකයේ තියෙන විශේෂත්වය. පසු කාලීනව ලියපු පරිවර්තන දෝස වෙනයි. නමුත් සූත්‍ර ගැළපීම බැලුවොත් 100% ක්ම හරි. හැබැයි ලෝක සම්මතයේ බොහොමයක් පොත් බැලුවොත් පිටු දෙක තුනක් කියවන කොටත් පරස්පර තැන් අහුවෙනවා. හරියට නිකං විකාර දොඩවනව වගෙයි. ඒ වගේ ගැළපෙන්නෙ නැති තැන් ලෝකයේ තියෙන අනෙක් පොත් පත්වල හොයන්න පුළුවන් වුනත්, පාළි ත්‍රිපිටක ධර්මය සියල්ල අරගෙන බැලුවත් එහෙම තැන් හොයා ගන්න නෑ. ඒක අති විශේෂයි. ඒ නිසා කවුරු හරි දහම ගැන කතා කරනව නම් ඒක ත්‍රිපිටක පෙළ දහමට එකඟ විය යුතුයි.

ඉතින් මේ වගේ අවස්ථාවකදී තමන් අවංකවම තමන්ගෙ අඩුපාඩු හොයල බලල හදාගන්න ඕන. දන්න කියන අය විස්තර කරන කොට විමර්ශනය කරල ඒ අඩුපාඩු හදාග න්න ඕන. එතකොට සාසනය කෙරෙහි ගෞරවයෙන් තමන් කියන කරන දේ හරිද කියල හිතල බලනවා. කෙනෙක් තමන් නොදන්නකමට, තේරුම් ගන්න බැරිව වචන පැටලිලා වරදින්න පුළුවන්. ඒ වගේ චේතනාවක් නැතිව කරන වැරදි නෙවෙයි මේ කියන්නෙ. හිතා මතාම දැන දැනත් ධර්මය අධර්මය කරල කියනවනම් ඒක බරපතලයි. ඒක වැටෙන්නෙ සම්පජාන මුසාවාදයට. යම්කිසි කෙනෙක් නොදැන කියනව නම් ඒ ගැන ටිකක් කල්පනා කරල බලලයි කියන්න ඕන. නොදැන කතා කිරීම පෘතජ්ජනයෙක් අතින් වෙන්න පුළුවන් දෝසයක්. එහෙම නැතිව තමන් හරියටම දන්නෙ නැත්නම්, මම දන්නෙ නෑ කියල බේරෙන්න පුළුවන් ක්‍රම තියෙනවා. ඒ කියන්නෙ මේකමයි හරි කියල එල්ල කරල කියන්නෙ නැතිව, මට වැටහෙන විදිහට මෙන්න මෙහෙමයි... මීට වඩා දෙයක් මට තේරුම් කරල දෙන්න බෑ... මෙන්න මේ කරුණු අනුව මට මෙහෙම කියන්න පුළුවන්... මීට වඩා යමක් කවුරුහරි දන්නව නම් ඒ ගැන විමර්ශනය කරල ඒක ඇත්ත නම් මමත් පිළිගන්නවා... මේ ආදී වශයෙන් යථාර්ථය කියල ගැළවෙන්න පුළුවන්.

එහෙම නැත්නම් සාසනයේ විනාසයට ඒ කාරණය තුඩු දුන්නොත් දහස් ගණනක් සත්ත්වයින් විනාස කරල දැම්මටත් වඩා මහ පාපයක් සිද්ධ කර ගන්නවා. මොකද බුද්ධ සාසනය කියන එක අනෙක් ඒව වගේ නෙවෙයි, ලෝකයේ අති දුර්ලභව පහළ වෙන දෙයක්. ඒ නිසා කරුණු තේරුම් ගන්න බැරිව හිනා වෙවී විහිළුවෙන් තහළුවෙන් දහම් දේශනා කළාට, ඒ වගේ සාසනික කටයුතු කළාට, හරි ගියා වගේම වරද්ද ගත්තොත් ඒකෙ විපාකයත් මහ භයානකයි. හැබැයි ඒ භයානක බව පිටින් බලල තේරුම් ගන්න බෑ, එහෙම පේන්නෙ නෑ. මොකද සාසනයේ එල්ලිලා මොනව හරි කරන නිසා මිනිස්සු සළකනවා, වැඳුම් පිදුම් කරනවා. එතකොට සාමාන්‍ය ලෝකයාට සාසනික කටයුතු කරන විදිහට පිටින් පේනව මිසක්, සාසන විනාසයට කටයුතු කරන බවක් බැලූ බැල්මට පේන්නෙ නැති වෙන්න පුළුවන්. නමුත් හිත අභ්‍යන්තරයෙන් නැගෙන රාග, ද්වේශ, මෝහ බලවත්. හරියට අර කපිල භික්ෂුව වගේ.

මෙතැනදී දැන ගත යුතු විශේෂ කාරණාවක් තියෙනවා. කෙනෙකුට විපාක ලැබෙන කොට, කරපු හොඳ වගේම නරකත් එකට මිශ්‍ර වෙලා තමයි ලැබෙන්නෙ. ධර්මයට අනුව කියනව නම්, විපාකයක් එනකොට ඒ විපාකයට හේතුව එකක් නෙවෙයි. අර මාලුවගෙ රන්වන් පාට ශරීරය ලැබුනෙ එක හේතුවක් නිසා, ඒ වගේම කට ගඳ වුනේ තවත් හේතුවක් නිසා. තවත් පැහැදිලි කරනව නම් මාලුවෙක් වුනේ වෙනම හේතුවක් නිසා. කොටින්ම කියනවනම් කෙනෙකුට එන විපාක බහු හේතුකයි. යම් කාරණයක් නිසාමයි එහෙම වුනේ කියල හරියටම එල්ල කරල කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි. වෙනත් කෙනෙකුට අනුමාන කරන්න පුළුවන්, ඒත් සීයට සීයක්ම හරි නොවෙන්න පුළුවන්. මේ හේතුව නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ කර්ම විෂය අචින්ත්‍යයි කියල දේශනා කළේ. නමුත් මේ කාරණය දන්නව නම් ජීවිතයේ බොහෝ දේවල් අපට හරි පැත්තට හදාගන්න පුළුවන්. ඒ අනුව කටයුතු කරල හරවත් ජීවිතයක් ගත කරන්න පුළුවන්.

උදාහරණයකින් කියනව නම්, කෙනෙකුට හිතෙන්න පුළුවන් පින් කරල වැඩක් නෑ නමුත් විදර්ශනා කරන එක වටිනව

කියල. මොකට මේ මිනිස්සු පින් කර කර කාලෙ නාස්ති කරනවද කියල හිතෙන්න පුළුවන්. ඉතින් එහෙම හිතෙන කෙනෙක්ගෙ ඊළඟ අත්බව සමහර විට කන්නවත් නැති තැනක, හොඳට ප්‍රඥාව තියෙන කෙනෙක් විදිහට ඉපදෙන්න පුළුවන්. පින් නොකළ නිසා ලැබීමක් නැති තැනක ඉපදිලා, ඒ වගේම විදර්ශනා වඩපු කෙනෙක් නිසා ප්‍රඥාව හොඳට ලැබෙන්න පුළුවන්. ඛුජ්ජුත්තරා උපාසිකාවත් මේ වගේ කෙනෙක්. ගෞතම බුදුන් වහන්සේ ළඟ බණ අහල සෝවාන් වෙන්න තරම් ප්‍රඥාව තිබුනා. ඒ වගේම ඒ අහගත්ත ධර්මය සෝමාවතී බිසව ඇතුලු අනෙක් බිසෝවරුන්ට දේශනා කරන්න තරම් ශක්තියකුත් තිබුනා. නමුත් පෙර අත්බවක පසේ බුදුවරයෙකුට කළ අපහාසයක් නිසා ශරීරය කුදු වෙලා තිබුනෙ. අර මාලුවත් ඔය වගේ. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ මේ මාළුවා මුල් කරගෙන එතැන රැස්වෙලා හිටපු පිරිසට මේ ගාථාව දේශනා කළා.

මනුජස්ස පමත්තචාරිනෝ
- තණ්හා වඩ්ඪති මාලුවා විය
සෝ ප්ලවතී හුරා හුරං
- ඵලමිච්ඡංව වනස්මිං වානරෝ

සරළ සිංහල තේරුම,

සිහි නුවණින් තොරව, ප්‍රමාදව හැසිරෙන මිනිසාගේ ආසාව මාලුවා වැලක් වැළඳ ගෙන සිටි රුකක් මෙන් ඔහුගෙ ම විනාසය පිණිස වැඩෙයි. ඒ තෘෂ්ණාවට වසඟ වූ හේ වනයෙහි නොයෙක් ගෙඩි කෑමට කැමතිව ගසින් ගසට දිව පැන ඇවිදින වඳුරකු මෙන් භවයෙන් භවයට පැන පැන ඇවිදී.

මේ ගාථාවෙ අර්ථය පැහැදිලියි. අර කලින් කපිල කියන භික්ෂුව ලාබ සත්කාරවලට ඇති වෙච්ච ගිජුකම නිසාම විනාසයට පත්වුනා, අවීචියට වැටුනා, මාලුවෙක් වුනා. නැවතත් එතැනින් මියගිහින් අවීචියටම වැටුනා. තවමත් අවීචියේ පැහෙනවා. මේ සේරටම මුල් වුනේ අර ලාබ සත්කාරවලට ඇති වෙච්ච තණ්හාව. ලොව්තුරා බුදුන් වහන්සේ මේ තණ්හාව උපමා කළේ, ගහක් වෙලාගන්න මාලුවා වැලකට. ඒ ගහේ පෝෂණයෙන් වැඩිල ඒ ගහම විනාස කරන පරපෝෂිත ශාකයක් තමයි මාලුවා වැල කියන්නෙ. ධර්මයේ සඳහන් වෙන ආකාරයට මේ මාලුවා වැලක ඇටයක් වෘක්ෂ දේවතාවෙක්ගෙ විමානයක් තියෙන ගහක් මුලට වැටුනොත් ඒ දේවතාවා පවා කලබල වෙනවා. මොකද දේවතාවා දන්නවා, ඒ ඇටය පැළවෙලා ගහත් වෙලාගෙන විමානයත් විනාස වෙන බව. ඒකත් ලොව්තුරා බුදුන් වහන්සේගෙ ශ්‍රී මුඛ දේශනාවෙම තියෙන දෙයක්.

මහණෙනි, ග්‍රීෂ්ම ඍතුවේ අන්තිම මාසයේ මාලුවා කරලක් පැසී පුපුරන්නේය. මහණෙනි, ඉක්බිති ඒ මාලුවා ඇටය එක්තරා සල් රුකක් මුල වැටෙන්නේය. මහණෙනි, එකල්හි ඒ සල් ගසෙහි යම් දෙවියෙක් වාසය කරන්නේද ඒ දෙවිතෙම බයට පත්ව, සංවේගයට පැමිණ, තැති ගැනීමට පැමිණෙන්නේය. මහණෙනි, ඉක්බිති ඒ සල් ගසෙහි වසන දෙවියාගේ මිත්‍රයෝද, නෑ සහ ලේ නෑයෝද ආරාමවල වසන දෙවියෝද, වන දෙවියෝද, අරළු ආදී රුක් දෙවියෝද, ඖෂධ වෘක්ෂවලද, තල් පොල් ආදී තෘණ වෘක්ෂවලද, නුග බෝ ආදී වනස්පති වෘක්ෂවලද



වාසය කරන්නාවූ දෙවියෝද එක් රැස්ව මෙසේ අස්වසන්නාහුය. පින්වත බය නොවෙව, පින්වත බය නොවෙව, ඒ මාලුවා ඇටය මොණරෙක් හෝ ගිලිනවා ඇත, මුවෙක් හෝ කනවා ඇත, ලැව් ගින්නකින් හෝ දැවෙනවා ඇත, වනයෙහි වැඩ කරන්නෙක් හෝ උදුරා දමනවා ඇත, වේයන් හෝ කනවා ඇත, බොල් වන්නට හෝ පුළුවන. - (චූල ධම්ම සමාදාන සූත්‍රය - චූල යමක වර්ගය - මූලපණ්ණාස පාළි - මජ්ජිම නිකාය)

ඉතින් මේ මාලුවා වැල තණ්හාවට දෙන්න පුළුවන් හොඳම උපමාවක්. මාලුවා ඇටය ගහක් යටට වැටුනොත් වෙන තැනකට යන්නෙ නෑ. එතැනම හාවෙනවා. හරියට ඒ ගහට ඇලෙනවා කිව්වොත් නිවැරදියි. ඒ තැනට හාවෙලා ඒ තැනම විනාසයට මුල පුරනවා. යම් තැනකට හාවුන ගමන් ඊළඟට වෙන්නෙ ඒ තැනම පෝෂණය වෙනවා, තව තවත් දැඩිව නැගී සිටිනවා. හරියට තණ්හා ප්‍රත්‍යයෙන් හටගන්න උපාදානය වගේ. මේ උපාදානය නිසා ඊළඟ ජාතිය හදන ශක්තියක් ගොඩනැගෙනවා. මේ ශක්තියට කියනවා භවය කියල. ඉහත ගාථාවෙන්, මේ උපාදානය ප්‍රත්‍ය කරගෙන හටගන්න භවයට දුන්න උපමාව තමයි, එක එක ජාතියේ ගෙඩි කන්න ගහකින් ගහකට පනින වඳුරෙක් වගේ කියල. ඒ ගහ අනුව ගෙඩි වෙනස් වෙන්න පුළුවන්. සමහර ගෙඩි රසවත් වෙන්න පුළුවන්. ඒ වගේම සමහර ගෙඩි විස වෙන්න පුළුවන්. නමුත් වඳුරා ගහෙන් ගහට පනිනවා, ගෙඩි හොයනවා, කනවා. එක කාරණාවක් පැහැදිලියි. තණ්හාවෙන් කරන්නෙ භවයෙන් භවයට යන ශක්තිය ගොඩ නගන එක. අර වඳුරා ගහෙන් ගහට පනින කොට ගහට අනුව ලැබෙන ගෙඩි වගේ, භවයක් හොඳ වෙන්න පුළුවන් නරක වෙන්න පුළුවන්. කොටින්ම ලෝක සත්වයා මේ 31 තලයෙම සැරිසරන්නෙ තණ්හාව නිසා.

ලොව්තුරා බුදුන් වහන්සේ මුලින්ම ලෝකයට ධර්ම චක්‍රය දේශනා කරන කොට තණ්හාව මූලික කොටස් තුනකට බෙදල වෙන් කළා. එක කොටසක් කාම තණ්හා හැටියට, තව කොටසක් භව තණ්හා හැටියට, ඊළඟ කොටස විභව තණ්හා හැටියට වෙන් කළා. කෙනෙක්, පංචකාම සැප විඳින එක වටිනවා, ඒක කොච්චර හොඳ දෙයක්ද කියල ඒ දේටම හාවෙලා හිතනව කරනව කියනව නම්, ඒකට කියනවා කාම තණ්හා කියල. අනේ මට මෙහෙම කෙනෙක් වෙන්න ඕන, දොස්තර කෙනෙක්, ඉංජිනේරුවෙක්, එහෙම නැත්නම් ඊට එහා ගිය දෙවියෙක් බ්‍රහ්මයෙක් වෙන්න

තියෙනව නම් කියල හිතල, ඒකටම භාවෙලා හිතනව කරනව කියනව නම්, ඒ තමයි භව තණ්හාව. ඉතින් සමහරු ඉන්නවා, එහෙම කොහෙද දිව්‍ය ලෝක තියෙන්නෙ, දෙවියො කොහෙද ඉන්නෙ, අපායක් නෑ, අපාය කොහෙද තියෙන්න, එහෙම භවයක් නෑ, එහෙම තැනක් නෑ කියල ඒකටම භාවෙලා හිතනව කරනව කියනවා. ඒකට කියනවා විභව තණ්හා කියල.

ඉතින් මේ කොටස් තුනෙන් මොන දේ කළත් භවයක් ගොඩ නගන එක නවත්වන්න බෑ. කෙනෙකුට හිතෙන්න පුළුවන්, තණ්හාවෙන් ගොඩ නගන්නෙ භවයක් නම්, එතකොට ඒක හොඳ හෝ නරක වෙන්නෙ මොකක් නිසාද කියල. හේතු භයෙන් අලෝභ, අද්වේශ, අමෝහ කියන කොටස් තුනෙන් හදන භවය හොඳ තැනක් වෙනවා. ඒ වගේම ඒකෙ අනෙක් පැත්ත ගත්තම ලෝභ, ද්වේශ, මෝහ නිසා සතර අපාගත වෙනවා. ඉතින් දෙවියෙක් වෙන්න කොච්චර ආසාවක් කැමැත්තක් තිබුනත්, කරන්නෙ බලු වැඩනම් ඒ ආසාව කැමැත්ත ඉෂ්ඨ වෙන්නෙ නෑ. ලෝකෙට පේන්න වටේටම දන් දෙනවා, පින් කරනවා. නමුත් හැංගිලා කරන්නෙම බලු වැඩ. ඇත්තටම දන් දුන්නට පින් කළාට, භාවෙලා හිටියෙ බලු වැඩට. තණ්හාව තියෙන්නෙ ඒ තැනට. ඒ අනුව ගොඩනගන භවය බලු භවයක් මිසක් වෙන එකක් නෙවෙයි. ඒකෙන් හදන ජාතිය බලු ජාතිය. නමුත් දන් දුන්නා, පින් කළා. ඒ ලැබීමත් එනවා. හොඳට සල්ලි තියෙන සුඛෝපභෝගී තැනක බල්ලෙක් වෙලා ඉපදෙනවා. ඒකයි ක්‍රමය.

දැන් ඒ ජාතියේ බල්ලෙක් දැක්කම මිනිස්සු කල්පනා කරනවා, අනේ අර බල්ලට තියෙන සැප අපිට නෑනෙ කියල. නමුත් බල්ල කියන්නෙ සතර අපාගත සතෙක්. ඌ අපිට වඩා හොඳ තැනක නිදියන්න පුළුවන්, ඌට අපිට වඩා හොඳ කෑම බීම ලැබෙන්න පුළුවන්. නමුත් ඌට පුළුවන්ද හොඳ කරන්න බැරි ඔළුවෙ කැක්කුමක් හෝ වෙන ආබාධයක් හෝ ආවොත් තමන්ගෙ ස්වාමියාට කියල බෙහෙතක් කරගන්න? මැරෙනකල් විඳව විඳව ඉන්න පුළුවන්. උගේ පැටව් ටික පත්තරේ දැන්වීමක් දාල ඌ ඉස්සරහම වෙන කෙනෙකුට විකුණන කොට, අනේ අපොයි මගේ දරුවො ටික මගෙන් ඈත් කරන්න එපා කියල කෑගහල කියන්න පුළුවන්ද? බලන් ඉන්නව හැර ඌට වෙන දෙයක් කරන්න පුළුවන්ද? අඩුම තරමෙ ගෙදර අය පන්සල් යන කොට හෝ පිනක් කරගන්න කොට හෝ ගෙදර දානයක් දෙනකොට හෝ ඌට ඒකට සහභාගි වෙලා පිනක් කරගන්න ශක්තියක් තියෙනවද? නෑ. ඒ හැම එකකටම උත්තරේ නෑ බෑ කියන එක තමයි. ඒත් සමහරු හිතනව ඌ අපිට වඩා හොඳින් ඉන්නව කියල. නමුත් හරියට බැලුවොත් එහෙම එකක් නෑ කියල වැටහෙන්න ඕන. තණ්හාව වැඩෙන්න පෝෂණය ඕන. ඒකට ආහාර දෙන්න දෙන්න පෝෂණය වෙනවා. ඉතින් මේ දෙවැනි ගාථාවෙන් කියවෙන්නෙ ඒකයි.

යං ඒසා සහතේ ජම්මී
- තණ්හා ලෝකේ විසත්තිකා
සෝකා තස්ස පවඩ්ඩන්ති
- අභිවට්ඨංව බීරණං

සරළ සිංහල තේරුම,

ලාමක හෙයින් ජම්මී (ජන්මයට හේතු කාරක වන) නම් වූද, රූපාදී අරමුණෙහි ඇලෙන හෙයින් විසත්තිකා (විස පෙවුණු දෙයක් වගේ) නම් වූද මේ තෘෂ්ණාව ලෝකයෙහි යමකු මැඩලයිද ඔහුගේ ශෝකයෝ වැස්සෙන් නැවත නැවත තෙමුණු බෙරු තණ කොළ (සුවඳ හොට) මෙන් වැඩෙත්.

තණ්හාව නිසා සිද්ධ වෙන දේ අපි දැන් දන්නවා. ඒත් තණ්හාව මැඩ පවත්වන එක ලේසි නෑ. ඒකට ලොව්තුරා බුදුන් වහන්සේ ඉහත ගාථාවෙන් කදිම උපමාවක් දීල තියෙනවා. ඒ තමයි තණ්හාව මැඩ පවත්වන්න යන කෙනෙකුට එන දුක, හරියට හොඳට වැසි ජලය ලැබුනම වැඩෙන බෙරු තණකොළ වගේ කියල. බෙරු තණකොළ, එහෙම නැත්නම් සුවඳ හොට කියල කියන්නෙ අපි දන්න සැවැන්දරා කියන ශාකය.

ඉතින් මේක ලේසි පහසු කාරණයක් නෙවෙයි. කල්ප කාලාන්තරයක් තිස්සේ අපි මේ භව ගමන ඇවිත් තියෙන්නෙ තණ්හාව නිසා. මොකක් හරි දේකට භාවෙනවා, ඒක පස්සෙ යනවා. ඒකම තමයි කාලාන්තරයක් තිස්සෙ කරල තියෙන්නෙ. ඒක නවත්වන්න ලේසි නෑ. කෙනෙකුට, හැමදාම ඇලුන බැඳුන තැනකට යන්න එපා කියල තහංචි දැම්මොත් මොනතරම් අපහසුතාවයකට පත්වෙනවද? ඒ සම්බන්ධයෙන් හැමෝටම අත්දැකීම් ඇති. ඒ එන දුක් වේදනාව අර කිව්ව උපමාවටත් හොඳටම ගැලපෙනවා. ඒත් ඒක අමාරුවෙන් හරි කර ගන්න ඕන. එහෙම කළොත් මොකද වෙන්නෙ කියල මේ ගාථාවෙන් පැහැදිලි වෙනවා.

යෝ චේ තං සහතේ ජම්මිං
- තණ්හං ලෝකේ දුරච්චයං
සෝකා තම්හා පපතන්ති
- උදබින්දුව පොක්ඛරා

සරළ සිංහල තේරුම,

යමෙක් ලෝකයේ ඉතාම දුක සේ ඉක්ම විය යුතු වූ, ලාමක වූ මේ තෘෂ්ණාව මැඩලයිද ඔහුගෙන් මේ ශෝකයෝ නෙළුම් පතින් වැටෙන දිය බිඳු මෙන් ගිලිහී යෙත්.

ඉතින් ඉහත ගාථාවට අනුව කොහොම හරි උත්සාහයෙන් වීර්යෙන් තමන්ට එන තණ්හාව වලක්වන්න පුළුවන්නම්, ඒ එන ශෝකයන්ට ඔරොත්තු දෙන්න පටන් ගන්නවා. ඉහත උපමාවෙන් පෙන්වන විදිහට, නෙළුම් කොළේට වතුර වැටුන වගේ රඳන්නෙ නෑ, ගිලිහිලා යනවා. මේක හරිම අමාරු වතක්. නමුත් කරන ක්‍රමය ගැන අන්තිම ගාථාවෙන් උන් වහන්සේ පහදල දුන්නා.

තං වෝ වදාමි භද්දං වෝ
- යාවන්තෙත්ථ සමාගතා
තණ්හාය මූලං ඛණථ
- උසීරත්ථෝව බීරණං
මා වෝ නළංව සෝතෝව
- මාරෝ භඤ්ජි පුනප්පුනං.

සරළ සිංහල තේරුම,

මෙහි රැස් වූ යම් පමණ දෙනෙක් ඇත්ද ඒ තොප හැමටම වැඩක් වේවා. මේ කපිල මත්ස්‍යයාට මෙන් අවැඩක් නොවේවා. මේ කරුණෙහිදී තොප හැමට මම අවවාදයක් කියමි. සුවඳ හොට මුලින් ප්‍රයෝජන ඇති එකකු මේ බෙරු තණ උදුරන්නා සේ, තෘෂ්ණාවේ මුල වූ අවිද්‍යාව උදුරා දමව. ගං තෙර හට ගත් හුණ හෝ බට පඳුරක් මැඩ ගෙන යන්නා වූ සැඩ දිය පහරක් මෙන්, මාර තෙම තොප හැම දෙන නැවත නැවත නොපෙළාවා.

කලින් කිව්ව විදිහට වතක් රකින එක අමාරු වැඩක්

වුණත් තණ්හාවට මුල හොයාගත්ත නම්, ඒ මුල උදුරා දැම්ම නම්, එච්චර අමාරුවෙන් වතක් රකින්න ඕන නෑ. ඒක ඉබේම සිද්ධ වෙනවා. කොහොමද තණ්හාවෙ මුල හොයා ගන්නෙ? තණ්හාව නිකං හටගන්නෙ නෑ. තණ්හාවටත් හේතුවක් තියෙන්න ඕන. කෙනෙක් යමකට හාවෙන්නෙ ඇයි? ඒකෙන් තමන්ට ලැබිච්ච දෙයක් තියෙන නිසා. කොටින්ම මොකක් හරි සුව දෙයක් දැනිල තියෙන්න ඕන. බේබද්දෙක් නිතරම තැබෑරුමට යන්නෙ නෑ, ඔහුට යම් කිසි සුවයක් දැනුනෙ නැත්නම්. මේ දැනුන දේට වේදනා කියල කියනවා. මේ වේදනාව තමන්ට හොඳ නිසයි එතැනට යන්නෙ. තණ්හාවට හේතුව තමයි මේ වේදනාව. වේදනාවක් නිකං එන්නෙ නෑ. තමන් කැමති දෙයක් ස්පර්ශ වෙන්න ඕන. එක්කො රසයක්, එහෙම නැත්නම් රූපයක් හෝ මොකක්හරි තමන්ට සුව ගෙන දෙන දෙයක් ස්පර්ශ වෙන්න ඕන. ස්පර්ශයත් නිකං එන්නෙ නෑ. ඇස, කන, නාසය, දිව, ශරීරය සහ මනස මේකට සම්බන්ධ වෙන්න ඕන. එහෙම නැත්නම් ආයතන වෙන්න ඕන. ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස සමග සම්බන්ධයක් ගොඩ නගන්නනම් තමන් කැමති නාම රූප තියෙන්න ඕන.

මෙතැනදි වෙනද වගේ එකට බොන යාළුවො ටික, අරක්කු බෝතලේ, දුම් වැටි, ඒවට අදාල ආහාර පාන මේ සියල්ල තියෙන්න ඕන. නාම රූපත් නිකං ගොඩ නැගෙන්නෙ නෑ, කලින් මතක සටහන් සම්බන්ධ වෙන්න ඕන." අර යාළුවන්ට වඩා මේ ගොල්ලො හොඳයි. අරුන් ටික නම් හරිම කම්මැලියි. කිසිම ගතියක් නෑ. උන් දැක්ක වෙලාවක් ඇත්නම් පන්සලේ. ඉඳල හිටලවත් විනෝද වෙන්න තේරෙන්නෙ නෑ. ඒකට මුන් ටික නම් හරිම විනෝදයි" ඉතින් ඔය වගේ පෙර මතක සටහන් තුළින් විඤ්ඤාණ ගොඩ නැගෙනවා. විඤ්ඤාණත් නිකං ගොඩ නැගෙන්නෙ නෑ. ඒකට හිතන්න ඕන, කියන්න ඕන, කරන්න ඕන. උන් ටිකට වඩා අලුත් යාලුවො කියන සිතිවිල්ලත් මේකට අයිතියි. එහෙම හිතල ඇඳුම් පැළඳුම් ඇඳගෙන පැළඳගෙන අඩුපාඩු අරගෙන තැබෑරුමට යන්න ඕන. මේකට සංඛාර කියල කියනවා. ලෝකෙට ඇලෙන බැඳෙන සංඛාර නිකං කෙරෙන්නෙ නෑ. ඒකටත් හේතුවක් තියෙනවා. ඒ හේතුවට කියන්නෙ අවිද්‍යාව කියල. ඒක තමයි මුල.

ඒ තමයි සසර ගමන හදන මුල. මේ මුල තමයි උගුලල දාන්න කිව්වෙ. මුල ඉගිල්ලුවා කියන්නෙ සංඛාර ගොඩනැගෙන්න විදිහක් නෑ, විඤ්ඤාණ ගොඩ නැගෙන්න විදිහක් නෑ, නාම රූප ගොඩ නැගෙන්න විදිහක් නෑ, සලායතන ගොඩ නැගෙන්න විදිහක් නෑ, ස්පර්ශයක් ගොඩ නැගෙන්න විදිහක් නෑ, වේදනාවක් ගොඩ නැගෙන්න විදිහක් නෑ, තණ්හාවක් ගොඩනැගෙන්න විදිහක් නෑ. තණ්හාවක් ගොඩ නැගෙන්නෙ නැත්නම් ඉතුරු උපාදාන, භව, ජාති සියල්ල ගොඩනැගෙන්නෙ නෑ. කලින් වගේ ශෝකයක් එන්නෙ නෑ. අර නෙලුම් පත උඩට වැටුන වතුර වගේ රඳන්නෙ නෑ. මාරයගෙ උගුලෙන් නිදහස් වෙනවා. මාරයා තව තවත් පෙලන්නෙ නෑ. හැබැයි මේ විස්තර කළේ, මතු භවයක් ගොඩනගන්න හේතු වෙන සංඛාර, විඤ්ඤාණ, ස්පර්ශ, වේදනා... මිසක් නිවන පූර්ණ කරගත් රහතන් වහන්සේ පිරිනිවන් පානකල් පැවැත්මට අවශ්‍ය කරන අවිද්‍යාවෙන් තොර සංඛාර, විඤ්ඤාණ, ස්පර්ශ, වේදනා නෙවෙයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළියේ තණ්හා වර්ගය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**
**072-7536839**

# සංඝත්වය පූජනීයයි වන්දනීයයි

බුදුන් වහන්සේ දේශනා කළ මහා දාන 5 ක් ගැන පසුගිය කලාපයෙන් පැහැදිළි කළා. ඒ වගේම පුද්ගල දාන 14 ක් ගැනත් මජ්ජිම නිකායේ 3 වෙනි කාණ්ඩයේ 523 වෙනි පිටුවේ එන දක්ඛිණ විභංග සූත්‍රයේ සඳහන් වෙනවා.

1. සම්මා සම්බුදු රජාණන් වහන්සේ උදෙසා දෙන දානය 2. පසේ බුදු රජාණන් වහන්සේ උදෙසා... 3. අරිහතුන් වහන්සේ උදෙසා... 4. අරිහත් මගට පිළිපන් ආර්ය ශ්‍රාවකයා උදෙසා... 5. අනාගාමී ආර්ය ශ්‍රාවකයා උදෙසා... 6. අනාගාමී මගට පිළිපන් ආර්ය ශ්‍රාවකයා උදෙසා... 7. සකෘදාගාමී ආර්ය ශ්‍රාවකයා උදෙසා... 8. සකෘදාගාමී මගට පිළිපන් ආර්ය ශ්‍රාවකයා උදෙසා... 9. සෝවාන් ආර්ය ශ්‍රාවකයා උදෙසා... 10. සෝවාන් මගට පිළිපන් ආර්ය ශ්‍රාවකයා උදෙසා... 11. කාමයන්හි වීතරාගී වූ අන්‍ය තාපසයා උදෙසා... 12. පුහුදුන් සිල්වතා උදෙසා... 13. පුහුදුන් දුසිල්වතා උදෙසා... 14. තිරිසන් සත්වයා උදෙසා දෙන දානය.

එක් අවස්ථාවක මහා ප්‍රජාපතී තෙරණින් වහන්සේ, තමන්ගෙම අතින් කපු කැටල නූල් සකස් කරගෙන වියාගත් පිළි සඟලක් බුදුන් වහන්සේට පිළිගන්වා සිටියා. ඒ වෙලාවෙ බුදුන් වහන්සේ ඇය අමතල ගෝතමිය, මහා සංඝ රත්නය විෂයෙහි පූජා කරන්න, එකල්හි මමද පූජිත වෙමි... කියල උපදේශයක් දුන්නා. ඒ පිළි සඟල බුදුන් වහන්සේටම පූජා කිරීමේ කැමැත්ත තිබිච්ච තෙරණින් වහන්සේ නැවතත්, ඔබ වහන්සේ උදෙසාම සකස් කළ මේ පිළි සඟල පිළිගන්නා සේක්වා... කියල ඉල්ලා සිටියා. ඒ වතාවෙත් බුදුන් වහන්සේ, මහා සංඝ රත්නයට පූජා කරන්න කියල දේශනා කළා. ඔය විදිහට තුන් වෙනි වතාවටත් තෙරණින් වහන්සේ තමන්ගෙ ඉල්ලීම ඉදිරිපත් කළා. නමුත් උන් වහන්සේ පිළි සඟල පිළි නොගෙන, මහා සංඝ රත්නයට පූජා කරන්න කියල දේශනා කළා. පිළි සඟල පිළි නොගැනීම ගැන යම් සංවේගයකට පත්වුන තෙරණින් වහන්සේ මේ කාරණය ආනන්ද හාමුදුරුවන්ට කියා සිටියා.

ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේට වැඳ නමස්කාර කරල, බෝසතාණන් වහන්සේගෙ ළදරු ළමා විය නොයෙක් ආකාරයෙන් සිහිපත් කරමින්, මහා ප්‍රජාපතී ගෝතමීන් වහන්සේ සුළු මව්තුමිය හැටියට බෝසතාණන් වහන්සේට උපකාර වූ අන්දමත්, බෝසතාණන් වහන්සේ බුදු බව ලැබීම නිසා ගෝතමීන් වහන්සේට සසර දුකින් සදහටම මිදීමට උපකාර වූ අන්දමත් විස්තර කළා. ඒ විස්තර සිහිපත් කරල, ඔබ වහන්සේ උදෙසා ගෞරවයෙන් සකස් කරන ලද ඒ පිළි



සඟල පිළිගන්නේ නම් මැනවි... කියල ඉල්ලීමක් කළා. ඒ අවස්ථාවේ උන් වහන්සේ ඉහතින් පෙන්වූ පුද්ගල දාන 14 දේශනා කරල සාංඝික දාන 7 ක් ගැනත් විස්තර කළා.

1. බුද්ධ ප්‍රමුඛ උභතෝ සංඝයා උදෙසා දෙන දානය 2. බුදුන් පිරිනිවි කල භික්ෂු භික්ෂුනී උභතෝ සංඝයා උදෙසා දෙන දානය 3. භික්ෂු සංඝයා උදෙසා දෙන දානය 4. භික්ෂුනී සංඝයා උදෙසා දෙන දානය 5. මෙපමණ භික්ෂූන්ද මෙපමණ භික්ෂුනීන්ද යයි යම් ප්‍රමාණයකට සංඝයා උදෙසා දෙන දානය 6. මෙපමණක් භික්ෂූන් යයි යම් භික්ෂූ ප්‍රමාණයකට සංඝයා උදෙසා දෙන දානය. 7. මෙපමණක් භික්ෂුනීන් යයි යම් භික්ෂුනීන් ප්‍රමාණයකට සංඝයා උදෙසා දෙන දානය.

ඊට පස්සෙ මේ කාරණයත් දේශනා කළා. **"ආනන්දය, අනාගත කාලයෙහි ගෝත්‍රභූ වූ, දුසිල් වූ, පාප ස්වභාව ඇති, කෂාය කණ්ඨ කෙනෙක් වෙති. ඒ දුස්සීලයන් කෙරෙහි, සඟුන් උදෙසා දන් දෙති. ආනන්දය, මම එකල්හිද සංඝගත දක්ෂිණාව අසංඛෙය්‍ය අනුපමේය අනුසස් ඇතැයි කියමි. ආනන්දය, මම කවර අයුරකින් වුවද සංඝගත දක්ෂිණායෙන්, පෞද්ගලික දානය මහා ඵලතර යයි නොකියමි..."**

මෙතැනදි "මහා සංඝ රත්නය" කියන කොට, ආර්ය ශ්‍රාවක කියල වෙන් කිරීමක් නෑ. සසුන පිරිහිලා යන කාලයක, කහ නූලක් අතේ බැඳගෙන ඉන්න කාෂාය කණ්ඨක කියන, මහා සංඝරත්නය නියෝජනය කරන්නාත් අයිති වෙනවා. ඒ වගේම එදිනම පැවිදි වෙච්ච, සත් හැවිරිදි සාමණේරයන් වහන්සේටත්, සුදුවත් අඳින අනාගාමී ආර්ය ශ්‍රාවකයා වඳිනවා. බුදුන් වහන්සේ පිරිනිවන් පැවත්, උන් වහන්සේ දේශනා කරන ලද ශ්‍රී සද්ධර්මය ලෝකයාට විද්‍යමාන කරන්න මූලික වෙන්නෙ මහා සංඝරත්නය. පරපුරෙන් පරපුරට මහා සංඝ පරම්පරාවක් ලෝකයේ පවත්වාගෙන එන්නෙ මහා සංඝ රත්නය විසින්. දායක පින්වතුන්ගේ කුඩු මහත් සියලු පුණ්‍ය කටයුතුවලට අත හිත දෙමින්, වෙහෙර විහාර, බෝධීන් වහන්සේලා, පූජනීය ස්ථාන ආදිය පවත්වාගෙන යන්න මූලික වෙන්නෙ මහා සංඝ රත්නය.

තම තමන්ගෙ ව්‍යාපාරික කටයුතු, රාජකාරී කටයුතු, ගෙදර දොර අඹු දරුවන්ගෙ කටයුතුවලින් පැයක් දෙකක් තරම් කෙටි වෙලාවක්වත් වෙන් කරල, බණ පදයක් අහන්න කාලය මිඩංගු කරන්න බැරි බෞද්ධ පිරිස කොච්චර ඉන්නවද? එබඳු සමාජයක, සුපුරුදු ගේ දොර, දෙමාපිය, ඥාති හිත මිත්‍රාදීන්ගෙන් වෙන් වෙලා, ජීවිත කාලයම සම්බුද්ධ සාසනයේ චිර පැවැත්ම උදෙසා කැප කරන්න හිතක් පහළ වීමම අති විශේෂයි, වන්දනීයයි කියල පිළිගන්න ඕන. හැඩ වැඩ දාපු විචිත්‍ර ඇඳුම් ආයිත්තම් ඇඳ පැළඳ ගෙන ඉන්න අය අතරෙ, ගහකින් ඉඳිල වැටෙන ☞

කොළයක කහට පැහැය ගත්ත, කැලි කැලි කපල මූට්ටු කරල සකස් කර ගත්තු ගොරෝසු සිවුරක්, උනුසුම් සීත නොබලා පෙරවගෙන සිටීම පවා හැම කෙනෙකුටම කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. හැම කෙනෙකුටම කරන්න පුළුවන් යමක් කිරීම වීර ක්‍රියාවක් නෙවෙයි. සම්මා සම්බුද්ධ වෙන්න පාරමිතා පිරීම හැම කෙනෙකුටම කරන්න බැරි නිසා තමයි බුදුන් වහන්සේ ''මහා වීරයන් වහන්සේ'' නමින් හඳුන් වන්නෙ. බුද්ධ පුත්‍රයන් වහන්සේලා වන මහා සංඝ රත්නයත් ඒ වගේම වීරයන් වහන්සේලා පිරිසක් වෙනවා. උන් වහන්සේලා තමන්ගෙ විමුක්තිය වගේම ජාති, ආගම්, ඥාති, කුල භේද කිසිවක් නොතකා, ලෝක නාථයන් වහන්සේ දුන් මග අනුග මනය කරමින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් කටයුතු කරනවා.

දුර්භික්ෂ කාලවල වැඩ වාසය කරපු මහා සංඝ රත්නය ජීවිත පරදුවට තියල තමන්ට පුළුවන් තරමින් මේ සද්ධර්මය රැකගන්න කටයුතු කරල තියෙනවා. සංඝ පරපුරක් නොතිබුණා නම් අද වෙනකොට බණ පදයක් අහන්න ලැබෙන්නෙ නෑ. පිරිත් ටිකක්, සූත්‍ර දේශනාවක් අහන්න ලැබෙන්නෙ නෑ. දහමක් විමර්ශනය කරල නිවන් දකින මගක් තෝරගන්න ලැබෙන්නෙ නෑ. අවුරුදු 2560 කට පසුවත් නිවන් මග පිරිසිදුව පැහැදිළිව තියෙන්නෙ මහා සංඝ රත්නයේ ඇප කැප වීම නිසා. බුදුන් වහන්සේ විසින් මහා ගරු ප්‍රඥප්තියක් පැනවූ මේ මහා සංඝරත්නය උදෙසා පූජා කරන ලද දෙය, අනෙක් අය විසින් පරිහරණය කිරීම ගැලපෙනවද, නිකම්ම මලක් පහනක් පුදන සාසන ළදරුවන් වගේ කටයුතු කිරීම ගැලපෙනවද කියල තම තමන්ම කල්පනා කරල තේරුම් ගන්න ඕන.

ගුරුවරයා ශිෂ්‍යයන්ට පාඩම අවසන් කරල නැගිටල ගියාම, ඒ ගුරු ආසනයේ යම් ශිෂ්‍යයෙක් වාඩි වුනොත්, ඔහු ගැන වැඩිහිටි අය හිතන්නෙ කොහොමද? කිසිම ගුරු ගෞරවයක් නැති ළමයෙක්... ඒ වගේ අයට පාඩම් පිහිටන්නෙ නෑ... කියනවා. කාර්‍යාලයකට යම් කටයුත්තක් සඳහා ගිය කෙනෙක්, අදාල නිලධාරියා ආසනයෙන් ඉවත්ව ගියාම ඒ ආසනයේ ඉඳ ගන්නවද? එබඳු පුද්ගලයා අනෙකුත් නිලධාරීන්ගේ උපහාසයට ලක් වෙනවා. බෙහෙත් ටිකක් ගන්න රෝහලකට යන රෝගියෙක්, රෝගීන් සඳහා වෙන් කරල තියෙන අසුන් පිරිල නම් වෛද්‍යවරයා නැගිටල ගියාම, අනේ මට හරි අමාරුයි... කියල වෛද්‍යවරයගෙ ආසනයේ ඉඳ ගන්නවද? එහෙම නොකරන සම්ප්‍රදායක් ඇති වුනේ ඇයි කියල කල්පනාවට ගන්න ඕන. යම් ආසනයකට අයිති කටයුතු කිරීමේ සුදුසුකම් හැම දෙනාටම නෑ. ඒ සුදුසුකම් ලබා ගන්නෙ යම් කැප කිරීමක් කරල. ගුරුවරයා තවත් ගුරුවරයෙකුට රාජකාරී වශයෙන් සමානයි. නමුත් මුල් ගුරුවරයා, උප විදුහල්පති... ආදී වශයෙන් ඒ අය අතරෙත් ගරුත්වයෙන් ඉහළ පිරිසක් ඉන්නවා. ලෞකික වශයෙන් ගත්තමත් පේනවා, ඒ ඒ අයට හිමි ආසනයේ වෙනත් කෙනෙක් ඉඳ ගැනීම නොගැලපෙන කාරණාවක් කියල.

බුදු දහම තුළ යම් ආර්‍ය මාර්ග යක් පූර්ණ කරගෙන යන උත්තමයෙක් හෝ උත්තමාවියක් ඉන්නව නම්, ඒ සඳහා කැපවුන කෙනෙක් ඉන්නව නම් ඒක හරි විශේෂයි, ශ්‍රේෂ්ඨයි. ආර්‍ය මාර්ගය අනුගමනය කරන අය යම් ගුණයකින් යම් තැනක ඉන්නවද, ඒ ගුණ ඇත්තෝ ගුණ ඇත්තන්ට සමානයි. සෝවාන් පුද්ගලයා සෝවාන් පුද්ගලයාට සමානයි. සකෘදාගාමී පුද්ගලයා සකෘදාගාමී පුද්ගලයාට සමානයි. අනාගාමී පුද්ගලයා අනාගාමී පුද්ගලයාට සමානයි. අරිහතුන් වහන්සේ අරිහතුන් වහන්සේට සමානයි. නමුත් ගිහි පැවිදි දෙකේ වෙනසක් තියෙනවා. ඒ නිසා මේ කියන සමානත්වයටත් එහා ගිය කාරණයක් බුදුන් වහන්සේ පෙන්වා දීල තියෙනවා. ඒ තමයි සම්මත සංඝත්වය. ඒක බුදුන් වහන්සේගෙ පැනවීමක්. මාර්ග ඵල ලාභියාටත් ඒ පැනවීම සම කරන්න බෑ. සාමණේර, උපසම්පදා ආදී ක්‍රම වේදයක් සකස් කරල, පැවිදි සංඝත්වයේ චිර පැවැත්ම සඳහා මාර්ග ඵල ලාභිත්වයට වඩා විශේෂ තැනක් දීල, සංඝ ප්‍රඥප්තියක් පනවල තියෙන්නෙ බුදුන් වහන්සේ. මේවා කඩ කළොත් බුදු අණ කඩකිරීමක් වෙනවා. මේ බුද්ධ සාසනය මෙච්චර කාලයක් පැවතුනේ මේවා කඩ නොකර රැකගත් නිසා.

සාස්තෘ ගරුත්වය, ධර්ම ගරුත්වය, ගුරු ගරුත්වය කියන මේවා නැත්නම් ගුණ දහම් පිහිටන්නෙ නෑ. අච්චර භාවනා කළා, මෙච්චර භාවනා කළා, මට තවම ප්‍රතිඵලයක් ගන්න බැරි වුනානෙ කියල කම්පා වෙන අය, තමන් ළඟ මේ වගේ අඩුපාඩු තියෙනවද කියල විමස විමසා බලන්න ඕන. සාසන ගරුත්වය, ගුරු ගරුත්වය සතර ඉරියව්වෙදිම සිහි තබාගන්න ඕන.

මීට වඩා භයානක පැත්තකුත් තියෙනවා. ඒ සඳහා උදාහරණයට ගන්න පුළුවන් කතාත් අහන්න ලැබෙනවා. හැබැයි ඒ කතාවල රසය විඳල විතරක් මදි. කර්ම විපාකයේ බරපතලකමත් තේරුම් ගන්න ඕන. ඵුස්ස බුදු පියාණන් වහන්සේගෙ කාලයෙදි, මහා සංඝ රත්නයේ ගුණ සුළු කොට තකල තමන්ගෙ කුසගින්න දැඩිව ගත් පිරිසක්, බුද්ධ ප්‍රමුඛ මහා සංඝ රත්නය උදෙසා සකස් කරන ලද දන් වැට කන්න ගත්තා.ඒ හේතුවෙන් මරණින් පසු ඔවුන් ලෝකාන්තරික නරකයේ ඉපදුනා.

මෙතැනදි දැනගන්න තවත් කාරණයක් තියෙනවා. යම්කිසි කල්පයක් විනාස වෙන කොට සතර අපාය, මනුස්ස, දිව්‍ය ලෝක ඇතුළු ආභස්සර බඹ තලයට පහල තියෙන බඹ තලත් විනාස වෙලා ඒ ලෝකවල ඉන්න සියළු සත්ත්වයින් ආභස්සර කියන බඹ ලොව ගිහින් උපදිනවා. හැබැයි අට මහා නිරයටත් වඩා බලවත්, නියත මිත්‍යා දෘෂ්ටි ගතිකයින් ඉපදෙන ලෝකාන්තරික නරකය කල්ප විනාසයටවත් විනාස වෙන්නෙ නෑ. ඒ සත්ත්වයෝ කර්ම ශක්තිය ගෙවිලම චුත වෙනකල් ඒ නරකයේ දුක් විඳිනවා. ඉතින් මේ කියන පිරිසත්, ලොව සත්‍යය යථාර්ථය දත් ශ්‍රමණ බමුණන් කියල විශේෂ කොටසක් නෑ කියන නියත මිත්‍යා දෘෂ්ටියේ ඉඳගෙන කටයුතු කරපු නිසා තමයි මරණින් මතු ලෝකාන්තරික නරකයේ ගිහින් ඉපදුනේ. ලෝකාන්තරික නරකයේ කල්ප 31 ක් දුක් විඳල, ඵුස්ස බුදුන් වහන්සේගෙන් කල්ප 31 කට පසු පහළ වෙච්ච කකුසඳ බුදුන් වහන්සේගෙ කාලයේ ලෝකාන්තරික නරකයෙන් මිදිල අර දන් වැට කාපු අකුසලය නිසාම මහ ප්‍රේත රැලක් වෙලා උපන්නා.

ඔවුන්ට බඩගින්න, පිපාසය අධිකයි. නමුත් කන්න බොන්න යමක් ලැබෙන්නෙ නෑ. ඉතින් බොහෝ කාලයක් ප්‍රේත ලෝකෙ දුක් විඳල, කකුසඳ බුදුන් වහන්සේ පහළ වුනාම උන්වහන්සේ හමු වෙන්න ගිහින්, අපි මේ දුකෙන් නිදහස්

වෙන්නෙ කවදද කියල විමසනවා. උන් වහන්සේගෙන් පසු මතු බුදුවන කෝණාගමණ බුදුන් වහන්සේගෙන් විමසන්න කියල උන්වහන්සේ දේශනා කළා. කෝණාගමණ බුදුන් වහන්සේ පහළ වුනාම උන්වහන්සේ හමුවේ පෙනී සිටිමින් විමසා සිටියා. මතු බුදුවන කාශ්‍යප බුදුන් වහන්සේගෙන් විමසන්න කියල උන් වහන්සේ දේශනා කළා. මේ විදිහට ගෞතම බුදුන් වහන්සේගෙ කාලය දක්වාම මහා දුක් විඳල, උන්වහන්සේ හමුවේ පෙනී ඉඳල දුක් අඳෝනා කියන්න ගත්තා.

බුදුන් වහන්සේ දුන් උපදෙස් අහල, පෙර දවස ඔවුන්ගෙ ඥාතියෙක් වූ බිම්බිසාර මහ රජතුමාට හීනෙන් පෙනී ඉඳල දුක කියන්න ගත්තා. ඒ මහා බියකරු අමුතු භයානක අඳෝනා ශබ්දවලට රජතුමා බය වුනා. පහුවදා උදෑසනම බුදුන් වහන්සේ හමු වෙච්ච බිම්බිසාර රජතුමා, තමන් දැකපු භයානක හීන පිළිබඳව විමසල ප්‍රේතයන් පිළිබඳ තොරතුරු දැනගත්තා. බුද්ධ ප්‍රමුඛ මහා සංඝ රත්නයට දන් පැන් පූජා කරල, ඒ ඥාති ප්‍රේතයන්ට අනුමෝදන් කරල, ඒ දුක්ඛිත අත්බවින් නිදහස් වෙන්න ඔවුන්ට සහනයක් ලබා දුන්නා. ලොව සත්‍යය යථාර්ථය දත් මහණ බමුණන් නෑ කියන මිත්‍යා දෘෂ්ටියේ පිහිටල, මහා සංඝරත්නය උදෙසා සකස් කරපු දානය පූජා කරන්නත් පෙර පරිභෝග කරපු පවින් පළමුව ලෝකාන්තරික නරකයෙත්, ඉන්පසු ප්‍රේත ලෝකයෙත් කල්ප ගණනක් බොහෝ දුක් විඳින්න සිද්ධ වුනා. ඒ පාප විපාකයෙන් නිදහස් වෙන්න පුළුවන් වුනේ, බුද්ධ ප්‍රමුඛ මහා සංඝ රත්නයට දන් පැන් පූජා කරල ලබා ගත් පින් අනුමෝදන් කිරීමෙන්මයි. මහා සංඝ රත්නයේ විශේෂත්වය මෙයින් තේරුම් ගන්න පුළුවන්.

සාසනය උදෙසා පූජා කරන ලද කොඩියක්, හුළං හමාගිය වෙලාවක ඉරිල ගිහින්, කුඹුරක වැඩ කරමින් හිටපු ගොවියෙක් ඉදිරි පිටට වැටුනා. ඒ කාලයේ රෙදි බොහොම දුර්ලභ නිසා, ගොවියා ඒක අරගෙන විලි වසා ගන්න අමුඩයක් විදිහට ගැට ගහ ගත්තා. ඒ ගොවියා, මරණින් පස්සෙ අත් පා ආදිය හොලවන්න බැරි වෙන විදිහට, දහස් පොලකින් බැඳුන ප්‍රේතයෙක්ව උපන්නා. බොහෝ කාලයක් දුක් විඳල, එක දවසක් පෙර අත්බැවක තමන් විසින් උපකාර කරපු කෙනෙක් දන් පැවිදි වෙලා පිඬු සිඟා වඩිනව දැක්කා. කර්ම විපාකයේ හැටියට බැරි මරගාතෙ පාවෙවී ගිය මේ ප්‍රේතයා අර භික්ෂූන් වහන්සේ පිඬු සිඟා වඩින මග ඉදිරියේ පෙනී ඉඳල, තමන්ව බේර ගන්න කියල බොහොම බැගෑපත්ව ඉල්ලා සිටියා. ඒ සඳහා කුමක් කළ යුතුද කියල උන් වහන්සේ විමසුවම, සාසනය උදෙසා කොඩි දහසක් පූජා කළොත් තමන්ට නිදහස් වෙන්න පුළුවන් බව ප්‍රේතයා දන්වා සිටියා. වරින් වර ලැබෙන ලැබෙන පමණින් රෙදි පිඬු සිඟා



ගෙනත්, කොඩි සකස් කරල සාසනයට පූජා කිරීමෙන් පසු ප්‍රේතයා නිදහස් වුනා. අව්වට වැස්සට දුර්වර්ණ වෙච්ච රෙදි කෑල්ල වුණත් සාසනයට පූජා කරපු කොඩියක් කියල දැනගෙන පරිහරණය කරපු නිසා විපාකය විඳින්න සිද්ධ වුනා.

හැබැයි මෙතැනදි ඒ වැටිච්ච කොඩිය සාසනය උදෙසා පූජා කරපු එකක් බව නොදැන පාංශුකූල සංඥාවෙන් ගත්ත නම් ගොවියාට ඒ වගේ අවැඩක් සිද්ධ වෙන්නෙ නෑ. එතකොට පොළවට පස් වෙන්න ඉවතට දාපු දෙයක් කියන පාංශුකූල සංඥාවට වැටෙන්නෙ. නමුත් ඒක සාසනයට පූජා කරපු කොඩියක් බව දැනගෙන, සාසනයට අයිති දෙයක් කියන සංඥාවෙන් ගත්තම පාපයක් සිද්ධ වෙනවා. එතැනදි චේතනාව අත්‍යවශ්‍යයි. හිමිකාරයෙක් නැත්නම් පාංශුකූලයට සම්බන්ධ වෙනවා. හිමිකාරයෙක් ඉන්නවද කියල විමසුවෙ නැත්නම් හිමිකාරයා හොයාගෙන ගිහින් කවද හරි අහන්න ඕන. ඒ කාලෙ වැඩ හිටපු එක්තරා භික්ෂූන් වහන්සේ නමක්, බිම දාල තිබිච්ච රෙද්දක්, වැටිල තිබිච්ච සංඥාවෙන් (පාංශුකූල සංඥාවෙන්) ගත්තයි කිව්වට ඒක අරගෙන ගියේ නියම ක්‍රමයට නෙවෙයි. ඒ නිසා අනෙක් භික්ෂූන් වහන්සේලා ඉදිරිපත් වෙලා, රෙදි හොරකම් කරල පාරාජිකා වුනා කියල උන් වහන්සේට චෝදනාවක් ඉදිරිපත් කළා. උන් වහන්සේගෙන් ඒ ගැන ඇහුවම, මෙහෙම බිම දාල තිබිච්ච රෙද්දක් අරගෙන ආව කිව්වා. ඒ දාල තිබිච්ච රෙද්ද කාගෙද කියල හොයල බැලුවෙ නැත්ද ඇහුවම නෑ කිව්වා. බැරි වෙලා හරි ඒ රෙද්දට හිමිකාරයෙක් ඉඳල කිව්වොත්, මම ඒක වේලන්න වනල ගියේ කියල උන් වහන්සේ පාරාජිකාවට අහුවෙන බවත්, මට අවශ්‍ය නැති නිසා මම ඒක අහකට දාල ගියා කිව්වොත් බේරෙන බවත් කියල, එතකල් පාරාජිකාද නැත්ද කියල තීරණයක් දෙන්නෙ නෑ කියල, දැන් ඉතින් හිමිකාරය හොයාගෙන ගිහින් විමසල බලන්න කිව්වා.

**ඒ නිසා පාංශුකූල දෙයක් වුණත් ගන්නකොට, පාරෙ වැටිල තිබිච්ච දෙයක් වුණත් වටපිට හොයල බලන්න ඕන හිමිකාරයෙක් ඉන්නවද කියල. එහෙම හිමිකාරයෙක් ඒ වෙලාවෙදි හමු නොවුණොත්, පසුව එහෙම හිමි කාරයෙක් ආවොත් දෙනව කියල ඒ සංඥාවෙන් ඒක ගන්න පුළුවන්. දන්නෙ නැති දෙයක් ගන්න කොට ඒ වෙලාවෙ එහෙම චේතනාවක් පිහිටුවල තමයි ගන්න ඕන.**

සාසනයට පූජ කරපු දෙයක් වුණත්, ඒ බව දන්නෙ නැත්නම්, සැකයක් තියේනම් පාංශුකූල සංඥාවෙන් තමයි ගන්න ඕන. එහෙම නැතිව නිකං වැටිල තිබිච්ච පලියට ගන්න බෑ. විමර්ශනය කරල බලන්න ඕන. නිකම්ම පාංශුකූල සංඥාව ගත්තට බෑ. එතැනදි තමන් අවංක වෙන්න ඕන. ඒ දේ වැටිල තිබිච්ච විදිහට අවස්ථානුකූලව හිතලයි පාංශුකූල සංඥාවත් ගන්න ඕන. එහෙම නැතිව අන් සතු දෙයක් බව දැන දැනත් පාංශුකූල සංඥාවෙන් ගත්තයි කියන්න බෑ. එහෙම තමන්ගෙ වාසියට ගන්න බෑ. ඒක තමන්ම රවටා ගැනීමක්.

ඒ වගේම මේ සාංඝික දේපළ ගැන කතා කරන කොට අපි නොදන්න පැත්තකුත් තියෙනවා. උදාහරණයක් විදිහට කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලයේ

යම් කිසි ප්‍රදේශයක සීමා මාලකයක් පනවල තිබුණ නම්, ඒ වගේ ස්ථානයක අද වුණත් උපසම්පදා විනය කර්ම සිද්ධ කරන්න පුළුවන්. ඒකට අලුතින් සීමා මාලකයක් පනවන්න අවශ්‍ය නෑ. මෛත්‍රී බුදුන් වහන්සේ පහළ වෙලා මේ මහා භද්‍ර කල්පය අවසන් වෙනකල් කල්පාන්තය දක්වාම ඒක සාංඝිකයි. ඒ අතර අබුද්ධෝත්පාද කාලයක් ආවයි කියල සාංඝික කරපු එක නැති වෙන්නෙ නෑ. සාංඝික කළාට පස්සෙ ඒක කල්පාන්තය දක්වාම සාංඝිකයි. ඒව වෙන කාටවත් අයිති කරගන්න බෑ. නමුත් ඒ කාරණය අපි දන්නෙ නෑ. යම් කිසි විදිහකින් දිවැස් තියෙන අය ඉන්නව නම් ඒ වගේ ස්ථාන බලා ගන්න පුළුවන්. එහෙම නැත්නම් පුරා විද්‍යා නටඹුන්, සෙල්ලිපි ආදිය මගින් ඒ බව අදටත් දැනගන්න පුළුවන්. අදටත් ඒ වගේ ස්ථානවල චෛත්‍ය, ආරාම ආදියේ නටඹුන් දැක ගන්න පුළුවන්. ගෞතම බුද්ධ සාසනය තුළ සාංඝික කරල පූජා කරපු භූමි නම් අදටත් පැහැදිලිව තියෙනවා.

ඒ වගේම ඒ කාලෙ හිටපු රජවරු සංඝයා වහන්සේලාට ඇප උපස්ථාන කරන අයටත් කෙත්වතු කුඹුරු ආදිය ලබා දීල තිබුණා. ඒවා දුන්නෙත් ඒ අයට ගොවිතැන් බත් කරල පළමු කොටසින් බුද්ධ ප්‍රමුඛ මහා සංඝයාට දන් දීල, හේවිසි බෙර ගහල පුද පූජාවන් පවත්වල ඉතිරි ටිකෙන් කාල බීල ජීවත් වෙන්න. එතකොට ඒ කෙත්වතු කුඹුරු සාංඝික නෙවෙයි. දැන් මේ කියන සාංඝික සහ සාංඝික නොවන ඉඩම් වර්ග දෙකම මේ වෙන කොටත් විශේෂයෙන් උතුරු මැද හා උතුරු නැගෙනහිර පළාත්වල තියෙනවා.

එතකොට මේ කියන සඟ සතු පූජා භූමි නම් ඒවා සාමාන්‍ය අයගෙ වාසස්ථානවලට හෝ වෙනත් ව්‍යාපාරික කටයුතුවලට ආදී සාසනික නොවන දේවල්වලට පරිහරණය කිරීම ගැළපෙන්නෙ නෑ. රජයට වුණත්, නැති බැරි අයට කියල ඒවා බෙදල දෙන්න බෑ. අදටත් අනුරාධපුර, පොළොන්නරුව, දිගාමඩුල්ල, වව්නියාව, ත්‍රිකුණාමලය, යාපනය ආදී ප්‍රදේශවල ඒ වගේ සීමා මාලක පනවල සඟ සතු කරල පූජා කරපු ඉඩම් බොහොමයක් තියෙනවා. ඒවායින් යම් ප්‍රමාණයක් පුරා විද්‍යා කැණීම් මගින් සොයාගෙනත් තියෙනවා. ඒවායේ නටඹුන් පවා තවමත් ඉතිරියි. ඒ වගේ ස්ථාන සඟ සතු පූජා භූමි කියල සාමාන්‍ය අයට පවා පහසුවෙන් දැනගන්න පුළුවන්.

අනෙක් කාරණය මේ මහා භද්‍ර කල්පයේ පහළ වූ කකුසඳ, කෝණාගමන, කාශ්‍යප, ගෞතම කියන සිව් බුදුවරුන්ට සම්බන්ධ ඒ පුණ්‍ය භූමි, බුදුවරු අනුව වෙනස් වෙලත් නෑ. ඒ නිසා තමයි අටමස්ථාන, සොළොස්මස්ථාන ආදිය පිහිටුවන කොට එදා වැඩ හිටපු දිවැස් ලාභී මහරහතන් වහන්සේලා මල් අට මිටක් දාල පූජා කරල අධිෂ්ඨාන කරල විසුරුවල, මෙන්න මේ මේ ස්ථානවල මේවා පිහිටුවන්න කියල එදා හිටපු රජවරුන්ට පෙන්වා දුන්නයි කියන්නෙ. මෙන්න මේ ස්ථානයේ පෙර චෛත්‍යය තිබුණෙ, මේ ස්ථානයේ සීමා මාලකය තිබුණෙ, මේ ස්ථානය සඟ සතු කරල තිබුණෙ... ආදී වශයෙන් පෙර කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලයේ පුණ්‍ය භූමි තිබ්බ්ච තැන් පෙන්වන කොට, ඒ ස්ථානවල තමයි නැවතත් ඒ අටමස්ථාන සොළොස්මස්ථාන ආදිය පිහිටෙව්ව කියන්නෙ. ඒ නිසා මතු බුදු වන මෛත්‍රී බුදුන් වහන්සේගෙ කාලෙදිත් ඒ ස්ථාන බුද්ධ ප්‍රමුඛ මහා සංඝයාට පූජා කළ විශේෂ ස්ථාන වෙනවා.

නමුත් සමහරු මේ බවක් නොතකා ඒ වගේ තැන්වල ඒ නටඹුන් වෙනස් කරල කඩා බිඳ දමල තමන්ගෙ වාසස්ථාන, ව්‍යාපාරික ස්ථාන හෝ වෙනත් ගොඩනැගිලි හෝ ඉදිකිරීම් කරනව නම්, ඒවා ලෞකික කටයුතු උදෙසා පරිහරණය කරනව නම් ඒකෙන් මහ අවැඩක් වෙන්න පුළුවන්. රජයට වුණත් එහෙමයි. කවුරු හරි දැනුවත්ව ඒ වගේ පූජනීය ස්ථාන ලෞකික කටයුතු උදෙසා අත්පත් කර ගන්නව කියන්නෙ ඒක තමන්ටම කරගන්න විනාසයක්. ඒ වගේ දෙයක් යාදෙන්නෙ නෑ, ලැබීමක් නෑ. කවුරුහරි නොදැනුවත්ව ඒ වගේ ස්ථාන ලෞකික කටයුතුවලට පරිහරණය කරනව නම් ඒක ඒ අයගෙ කර්ම වේගයක්. මොකද ඒ කාලෙත් සාසනික දේවල් අයුතු විදිහට පරිහරණය කරපු උදවියගෙ පරම්පරා අදටත් එන්න පුළුවන්. ඒ අය නිකං කාල බීල වැටීගෙන මැරෙනකල් ජීවත් වෙනව මිසක් මෙලොවට පරලොවට අභිවෘද්ධියක් කර ගන්නෙ නෑ. සසරෙ කරගෙන ආපු විදිහට අදත් නිකං ඉන්නව මිසක් යමක් ලැබුණත් ඒවා යාදෙන්නෙ නෑ. විශේෂයෙන් තවමත් උතුරු මැද, උතුරු නැගෙනහිර පළාත්වල කිසිම වගතුවක් නැතිව පාළු වෙලා විනාස වෙලා යන්න මේ කාරණයත් හේතුවක් වෙලා තියෙනවා. හැබැයි නියම විදිහට බැලුවොත් ඒ වගේ පළාත් එහෙම පාළු වෙන්න බෑ. බොහොම සශ්‍රීකව තියෙන්න ඕන. මොකද බොහොමයක් බුද්ධ ප්‍රමුඛ මහා සංඝයා උදෙසා පූජා කරපු භූමි. නමුත් අද වෙනකොට යුධ කලකෝලාහලවලින්, වස විසවලින් ඒ ස්ථාන පාළු ස්වභාවයකට පත් වෙලා තියෙන්නෙ විවිධාකාර පිරිස් විසින් ඒවායේ තියෙන සඟ සතු දේ බලහත්කාරයෙන් අල්ලගෙන සාසනික කොටස නොදීම නිසා. ඒවා අල්ල ගත්තු උදවියටත් හරි ගියෙත් නෑ. ඒවා අල්ලගෙන මොන විදිහට ඉන්න ගියත් වගතුවක් වෙන්නෙ නෑ, යා දෙන්නෙ නෑ.

එතකොට කොහොමද දැන් ඒ තත්ත්වයෙන් මිදෙන්නෙ? එදා සඟ සතු කරල පූජා කරපු පුණ්‍ය භූමි ගැන සන්නස් පත්‍ර, සෙල් ලිපි, නටඹුන් ආදිය අදත් තියෙනවා. ඒ වගේ ස්ථාන නැවත ප්‍රතිසංස්කරණය කරල නගා හිටවල, භික්ෂූන් වහන්සේලා වඩම්මවල ඉන්දවල, ඒ සාසනික කටයුතු කරගෙන යන්න උදව් උපකාර කළොත් ඒකට වන්දි ගෙවල නිදහස් වෙලා ඒ තත්ත්වයෙන් මිදෙන්න පුළුවන්. ඒක අද වුණත් කරන්න පුළුවන්.

මේ කථාවලින් පැහැදිලි කළේ, **මහා සංඝරත්නය උදෙසා කියල සකස් කළ හෝ පූජා කරන ලද දෙයක්, ඒ බව දැනගෙන ගිහියන් විසින් පරිහරණය කිරීම මහා බරපතල දුක් විපාක විඳින්න සිද්ධ වෙන කාරණයක් බව.** ඒ බරපතල විපාක විඳල නිදහස් වුනත්, මතු උපදින අත්බැව්වල විවිධ රෝගාබාධ ඇති වෙන්න පුළුවන්.

ඊළඟට දීඝ නිකායේ 2 වෙනි කාණ්ඩයේ එන මහා පරිනිබ්බාන සූත්‍රයේ මෙහෙම සඳහන් වෙනවා. ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේගෙන් විමසනවා, වහන්ස, අප මාගම (ස්ත්‍රීන්) කෙරෙහි කෙසේ පිළිපැදිය යුතුද කියල. ආනන්දයෙනි, නොබලා ඉන්න... කියලයි බුදුන් වහන්සේ උත්තර දුන්නෙ. ඒ වගේම තවත් අවස්ථාවක ස්ත්‍රී රූපය තරම්, ස්ත්‍රී ශබ්දය, ස්ත්‍රී ගන්ධය, ස්ත්‍රී රසය, ස්ත්‍රී ස්පර්ශය තරම් පුරුෂයාට මන වඩන වෙනත් රූප, ශබ්ද, ගන්ධ ...ආදියක් නෑ කියලත් දේශනා කරල තියෙනවා. සංයුක්ත නිකායේ 1 වෙනි කාණ්ඩයේ එන නජ්ජරතී

සූත්‍රයෙන් දේශනා කරල තියෙනවා, ස්ත්‍රිය බඹසරට කිලුටය කියල. ඉතිරි (ස්ත්‍රී) කියන ගති ලක්ෂණයේ තියෙන අඩුපාඩුවක් බුදුන් වහන්සේ දකින නිසයි මේ වගේ කරුණු දේශනා කරල තියෙන්නෙ.

මේවායින් පෙන්වන්නෙ, භික්ෂූන් වහන්සේලාට පැවිදි කටයුතු රැකගැනීමට ස්ත්‍රී රූපය බාධකයක් වෙන්න පුළුවන් කියන කාරණය. බෝසතාණන් වහන්සේගෙ කිරිමව් වුන මහා ප්‍රජාපතී ගෝතමීන් වහන්සේ ඇතුළු 500 ක් ශාක්‍ය කුමාරිකාවන් පැවිදි වෙන්න අවසර ඉල්ලුවම බුදුන් වහන්සේ අවසර දුන්නෙ නෑ. දෙවන තුන්වන වතාවට ඉල්ලුවත් අවසර දුන්නෙ නෑ. ආනන්ද හාමුරුවො බුදුන් වහන්සේගෙන් විමසුවා, ස්ත්‍රීන්ට පැවිදි වෙලා මගඵල ලබන්න බැරිද කියල. මගඵල ලබන්න පුළුවන් කියල දැනගත්තම, සුළුමව් තුමිය ඇතුළු ශාක්‍ය කුමාරිකාවන් වෙනුවෙන් පැවිදි උපසම්පදාවට අවසර ඉල්ලුවා.

බුදුන් වහන්සේ පනවන ගරු ධර්ම අට පිළිපදින්න කැමති නම් අවසර දෙන්න උන් වහන්සේ අනුමත කළා. එතැනදි ප්‍රජාපතී ගෝතමීන් වහන්සේ ඇතුළු 500 ක් කුමාරිකාවන් ඒ ගරු ධර්ම අට හිස පළඳින මල් දමක් වගේ හිස් මුදුනින් පිළිගන්නව කියල කැමති වුනා. පැවිදි බව ලබාගෙන උත්සාහ වීර්ය වඩල අරිහත්වයට පත්වුනා. නමුත් ටික කාලයකට පස්සෙ ඒ ගරු ධර්ම අට ඉවත් කරන්න පුළුවන්ද කියල මහා ප්‍රජාපතී තෙරණින් වහන්සේ බුදුන් වහන්සේගෙන් ඉල්ලා හිටි බවත් සඳහන් වෙනවා. මේකෙන් පෙන්වන්නෙ රහත් බව ලැබුවත් ''ඉතිරි'' කියන ගති ලක්ෂණය වෙනස් වෙන්නෙ නෑ කියන එක. ඒක ස්ත්‍රීන්ගෙ වරදක් නෙවෙයි, වාසය කිරීමේ න්‍යාය නිසා හට ගන්නා වාසනා ක්ලේශයක්. ඉතින් මේ ගති ලක්ෂණය නිසා සම තැන් ගන්න, පිදුම් ගන්න මනාප හිත් පහළ වෙනවා. ඒක තමන්ටත්, මේ ධර්ම මාර්ගයේ ගමන් කරන්න තමන්ට බොහෝ උපකාර කරන භික්ෂූන් වහන්සේලාටත් දෙපිරිසටම ආර්ය මාර්ගය පූර්ණ කරගන්න බාධාවක් වෙනවා.

ඒ වගේම සාසනයට පූජා කරල තියෙන ආසනවල ගිහි අය ඉඳගැනීමත් සුදුසු නෑ. විශේෂයෙන් කාන්තාවන් ඉඳගැනීම කොහෙත්ම ගැලපෙන්නෙ නෑ කියන එක පැහැදිලි කරන්නයි මේ කරුණු ඉදිරිපත් කළේ. භික්ෂූන් වහන්සේලා වැඩ සිටින අසුන්වල ගිහි අය ඉඳ ගැනීම සුදුසු නෑ කියන කාරණයත් හොඳින් තේරුම් ගන්න ඕන.

පාසලකට ගියත්, පූජනීය ස්ථානයකට ගියත්, සිල් මෑණිවරු ඉන්න ආරාමයකට ගියත්, කවුරු වුනත් පැවිදි පක්ෂයට ගරු කළ යුතු වෙනවා. ඒක විශේෂ දෙයක්. සමව ඉඳගන්න හොඳ නෑ. ඒක සම්ප්‍රදායානුකූලව ගැලපෙන්නෙ නෑ. තමන් බලාපොරොත්තු වෙන තැනට, ඒ කියන්නෙ ලෞකිකව විතරක් නෙවෙයි, ලෝකෝත්තර වශයෙන් වුනත් සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත් කියන මේ හැම තත්වයක්ම ලබන්න, ආර්ය මාර්ගය වඩන්න, අර කරන කටයුත්ත බාධාවක් වෙනවා. ඒ නිසා තමන්ට සුදුසු තැන දැනගෙන වාඩි වෙන්න ඕන. නමුත් සමහර අය ඒක ගණන් ගන්නෙ නෑ. ගුණ ධර්මයක් ගැන තේරුම් ගැනීමක් වැටහීමක් නැත්නම්, සමව ඉඳගැනීම වැරදි නෑ කියන අදහස් එනවා. නමුත් ගුණ ධර්ම පිළිබඳ දැනගත්තොත් මේකෙ යථාර්ථය, විශේෂත්වය දකිනවා. ඒ නිසා තමයි මේවා ගෙනහැර දක්වන්නෙ.

උදායී තෙරුන් වහන්සේ ගැන අහල සිත පැහැදුන එක්තරා කාන්තාවක්, උන්වහන්සේගෙන් බණ ටිකක් අහන්න ඕන කියල හිතාගෙන දානයකට ආරාධනා කළා. දන් පැන් හොඳින් සකස් කරල පිළිගන්වල අවසානෙදි, ඒ කාලෙ තිබුණ කිසියම් සිරිතකට අනුව හිස වහගෙන සළුව පෙරවගෙන, පාවහන් පැළඳගෙන, තෙරුන් වහන්සේ වැඩ සිටි අසුනට සමාන තවත් අසුනක් ලං කරගෙන බණ පදයක් අහන්න කියල ඉඳගත්තා. නැගණිය, දැන් ඊට කාලය නෙවෙයි කියල උන් වහන්සේ ධර්ම දේශනා නොකර ආපසු වැඩියා. දෙවන දවසෙත් ඒකම සිද්ධ වුනා. උන් වහන්සේ මට ධර්මය දේශනා නොකරන්නෙ ඇයි කියල විමසුවම, ධර්ම ශ්‍රවණය කරන පිළිවෙලක් තියෙනවා, ඒ විදිහට ඉන්න ඕන කියල දැනුම් තේරුම් ඇති අයෙක් කරුණු පහදා දුන්නා. පහුවදා හිස් වැසුම් පාවහන් ඉවත් කරල, මිටි ආසනයක ඉඳගෙන ඇය ධර්ම ශ්‍රවණය කළා.

බොහොමයක් විහාරස්ථානවල යම් භික්ෂූන් වහන්සේ නමක් ධර්ම දේශනා කරන වෙලාවට, ශ්‍රවණය කරන්න ඉන්නෙ ගිහි උපාසක උපාසිකා පිරිස විතරයි. නමුත් සමහර බෞද්ධ විහාරස්ථානවල විශේෂ ධර්ම දේශනා නිතර සිද්ධ වෙනවා. ඒ දේශනා ශ්‍රවණය කරන්න භික්ෂූන් වහන්සේලාත් සහභාගි වෙනවා. මේ නිසා ඒ භික්ෂූන් වහන්සේලා වෙනුවෙන් පනවන ආසනවලටත්, ධර්මාසනයට ඇති ගරුත්වය වගේම ගරුත්වයකින් කටයුතු කරන්න ඕන. ධර්ම ගරුත්වයේ, ගුරු ගරුත්වයේ වටිනාකම, පැවිද්දේ ඇති විශේෂත්වය දැන ගැනීම ආර්ය මාර්ගය පූර්ණ කර ගැනීමේදී වැදගත් වෙනවා. බුදුන් කෙරෙහි, සද්ධර්මය කෙරෙහි, මහා සංඝ රත්නය කෙරෙහි, ගුණ දැන පැහැදීමටයි සද්ධාව කියන්නෙ. මේ ආර්ය මාර්ගය මුල පටන් ගන්නෙ සද්ධාවෙන්.

ගුරු සිත නොරිදවා
වේලාව නොවරදවා
බැති පෙම් උපදවා
අකුරු උගනී කුමරු සොඳවා

මේ කවිය අනුව ලෞකික ඉගෙනීම්වල පිහිටන්න වගේම, ලෝකෝත්තර වූ නිවන් මාර්ගය වඩා ගන්නත් මේ ගුරු ගරුත්වය තියෙන්න ඕන. පුංචි කාලෙ ඉගෙන ගත්තු යහපත් දේවල් නිවන් දකින තුරුම ප්‍රයෝජනයට ගන්න ඕන. මහා සංඝ රත්නයේ පූජනීය, වන්දනීය ගුණ හැම දෙනාම වටහා ගෙන උතුම් නිවන් මග පූර්ණ කර ගනිත්වා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැගවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 8

# අපි නොදකින සසර ගනුදෙනු

සාමාන්‍ය ලෝකයා කාට හරි උදව්වක් කරන්නෙ යමක් තමන්ට ලැබෙයි කියන බලාපොරොත්තුවෙන්. හැබැයි තමන්ගෙ ඉච්චතාවය හෙවත් කැමැත්ත ඒක වුනාට සිද්ධ වෙන්නෙ අන් දෙයක්, අනිත් දෙයක්. අන් + ඉච්ච - අනිච්ච කිව්වෙ ඒකයි. අපි කැමති වුනාට හරි යන්නෙ නෑ. ලෝක ධර්මතාවය ක්‍රියාත්මක වෙන්නෙ අපේ කැමැත්ත මත නෙවෙයි. ධර්මයේ සඳහන් වෙනවා, උපකාර කරන්නෝ දුර්ලභයි, කෘතෝපකාර කරන්නෝ පරම දුර්ලභයි කියල. මේ හැම එකක්ම සිද්ධ වෙන්නෙ හේතු ඵල ධර්මතාවය අනුව මිසක් සත්ත්වයින්ගෙ කැමැත්තට ඕන විදිහට නෙවෙයි. සත්ත්වයන්ගෙ අනන්ත සසර ගමන තුල ඇති කරගන්නා වූ සසර ගනුදෙනුවල ස්වභාවය හේතු ඵල ධර්මය අනුව විමසා බැලීමක් තමයි මේ ලිපියෙන් කරන්නෙ.



අපි හිතමු කෙනෙක් තමන්ගෙ මිතුරෙක් ලොකු අමාරුවක වැටිල ඉන්න වෙලාවක ඔහුට උදව් කරනව කියල. උදව් කරන කෙනා තමන්ගෙ අතේ තියෙන මුදලුත් වියදම් කරගෙන තව ඉඩකඩම් එහෙමත් විකුණල ඒ මුදලුත් යොදාගෙන, එහෙම නැත්නම් තමන්ගෙ තියෙන කණකර ආභරණත් උකස් කරල බොහොම කැමැත්තෙන් තමන්ගෙ මිතුරා වැටිච්ච කරදරෙන් ගොඩඑන්න උදව් කරනවා. හැබැයි උදව් ලබන මිතුරා මෙච්චර උදව් කරන තමන්ගෙ මිතුරට කිසිම කළ ගුණ සැලකීමක් කරන්නෙ නෑ. කරන්නෙම විරුද්ධකම්. දැන් උදව් කරපු මිතුරට මොකක්ද හිතෙන්නෙ? "මූ කිසිම කෙළෙහි ගුණයක් නැති එකෙක්" ඔය වගේ අදහස් තමයි එන්නෙ. අපිට මේ වගේ සිදුවීම් අද සමාජයේ අහන්න ලැබෙනවා.

මෙතනදී දැනගන්න වැදගත් දෙයක් තියෙනවා. අපි සමාජයේ ජීවත් වෙද්දී එක එක්කෙනාට උදව් උපකාර කරනවා. අපිට සමහරුන්ට උදව් කරන්න හිතෙනවා. නමුත් පෙළක් අය දැක්කම අපිට උදව් උපකාර කරන්න හිතෙන්නෙ නෑ. එහෙම නැත්නම් හිංගි හිංසාමයි කරන්න හිතෙන්නෙ. මේක ලෝකයේ සාමාන්‍යයෙන් එදිනෙදා දකින්න තියෙන දෙයක්. තවත් සමහර වෙලාවට හිඟන මිනිස්සු හිඟමන් ඉල්ලගෙන එනවා. සමහරුන්ගෙ අත් නෑ, කකුල් නෑ, ඇස් නෑ, කන් ඇහෙන්නෙ නෑ, විවිධ ආබාධ, විකෘති තියෙනවා. තව සමහර හිඟන්නො හොඳට ඇඳ පැළඳගෙන එනවා, එහෙම අඩුපාඩු මුකුත් නෑ. මෙතැනදී පොදුවේ බැලුවොත් වැඩි පිරිසක් උදව් උපකාර කරන්නෙ සාමාන්‍යයෙන් හොඳට ඉන්න හිඟන්නන්ට. තදබල විකෘති තියෙන අයට උදව් කරනව බොහොම අඩුයි. ගොඩක් අය ඒ වගේ අය දිහා බලන්නවත් කැමති නෑ. එතකොට ඇයි එහෙම වෙනසක් තියෙන්නෙ? කෙනෙකුට සමහර අය දැක්කම යමක් දෙන්න හිතෙනවා. සමහර අය දැක්කම එහෙම දෙන්න හිතෙන්නෙ නෑ. සමහර වෙලාවට තමන්ට කොච්චර කරදර කළත් කලින් සඳහන් කළා වගේ දේපල ඉඩ කඩම් උකස් කරල හරි උදව් උපකාර කරන්න හිතෙනවා. එහෙම කරන අයත් ඉන්නවා.

උදාහරණයක් විදිහට කෙනෙක් තවත් කෙනෙක්ගෙන් රුපියල් ලක්ෂ පහක් ණයට ගන්නවා. දෙන්න බලාපොරොත්තුවෙන් තමයි ගන්නෙ. කාලයක් ගතවෙනවා. ණය හිමියා මුදල බලාපොරොත්තුවෙන් ඉන්නවා. ණයකාරයත් දෙන්න බලාපොරොත්තුවෙන් ඉන්නවා. ඔය අතරෙ ණයකාරයා කොහොමහරි මුදල් ටිකක් හොයාගෙන ගිහින් දෙනවා. අපි හිතමු රුපියල් පනස් දාහක් ගෙව්ව කියල. ඒත් තව දෙන්න තියෙනවා. පියවන්න තියෙන මුදල පොලියත් එක්ක එන්න එන්න වැඩි වෙනවා. ඔහොම ඉන්නකොට ණයකාරයා මැරෙනවා. ණය හිමියත් ටික කාලෙකින් මැරිල යනවා. දැන් ඒ සිද්ධිය, ඒ ගනුදෙනුව අවසන් වුනා වගේ තමයි අපට පේන්නෙ. හැබැයි ණය හිමියා තමන්ගෙ මුදලයි පොලියයි ගන්න බලාපොරොත්තුව හිතින් අයින් කරගෙන තිබුනෙ නෑ. ණයකාරයගෙ ණය ගෙවන බලාපොරොත්තුවත් එහෙමම තිබුණා. දැන් මේ සිද්ධිය දෙන්නටම අමතක වුනාට මේ ගති ලක්ෂණය කර්ම වේගයක් වශයෙන් පසු පසින් හඹා එනවා. ගන්න බලාපොරොත්තු වුන කෙනා මුදලයි පොලියයි දෙකම ගෙවල ඉවර වෙනකල් සැනසෙන්නෙ නෑ. දෙන්න බලාපොරොත්තු වුන කෙනාට මුදලයි පොලියයි ගෙවල ඉවර වෙනකල්, දැන් දුන්න ඇති කියල හිතෙන්නෙ නෑ.

අනන්ත සසර ගමනේ එනකොට අපි මේ ජාතියේ ණය ගත්ත අවස්ථා, ණය පියවන්න තියෙන අවස්ථා බොහොමයි. ණය වෙන්නෙ මුදල්වලින් විතරක් නෙවෙයි. අපි සසර ගමනෙදී අන්‍යෝන්‍ය වශයෙන් උදව් උපකාර කර ගන්නවා. ඒවත් ණය වීම් ගණයට වැටෙනවා. දෙන්න තියෙන එක දෙන්න ඕන. ගන්න තියෙන එක බලාපොරොත්තුවෙන් තමයි ඉන්නෙ. මෙහෙම එන සසර ගමනෙදී මේ අය නැවත නැවත ඉපදෙනවා. දැන් මේ ණය ගනුදෙනුවට අදාළ පුද්ගලයො දෙන්න නැවතත් සසරෙදී මුණගැහුණ ගමන් එක දෙයක් සිද්ධ වෙනවා. දැන් දෙන්නටම පෙර අත්බවේ ගනුදෙනුව මතක නෑ. එතැනදී කැමැත්තෙන් හෝ අකමැත්තෙන් හෝ දෙන්න බලාපොරොත්තුව හිටිය කෙනාට කාරණයේ මුල අමතක වුනාට දෙන්න ඕන කියල හිතෙනවා. කර්ම වේගයෙන්ම ඒකට ක්‍රමයක් ☞

සකස් වෙනවා. ඒ වගේම ගන්න තිබුණ කෙනාට මොන ගුණයක්වත් මතක් වෙන්නෙ නෑ, කොහොමහරි මේකගෙන් ගන්න ඕන කියල හිතෙනවා. ගනුදෙනුව පියවිලා ඉවර වෙනකල් මොන සාධාරණයක්වත් බලන්නෙ නෑ, කොහොමහරි හූරල ගන්නම ඕන කියන අදහස තමයි ඔහුට එන්නෙ. ඒ වගේම ණය ගෙවන්න තිබුණ කෙනාට මොන විදිහෙ දුක් කරදර තිබුනත්, දීල ඉවර වෙනකල් දැන් ඇති කියල නවත්වන්න හිතෙන්නෙත් නෑ. සමහර විට එහෙම ඇති කියල හිතුණත්, වෙනත් මොනව හරි ක්‍රමයකින් තමන් ළඟ තියෙන මුදල් ඔහු කරා ඇදී යනවා.

මෙතැනදි ගුණ ධර්ම සම්බන්ධයක් නෑ. සසර ගනුදෙනුව පියවන ක්‍රමය තමයි සකස් වෙලා එන්නෙ. හැබැයි දුන්න කෙනාට හිතෙන්නෙ, තමන් හොඳ ගුණවත් වැඩක් කළා කියල. ඒ වගේම උදව් ලබපු කෙනාව කිසිම කෘත ගුණයක් නැති කෙනෙක් විදිහට තමයි පේන්නෙ. හැබැයි මෙතැන හේතු ඵල ධර්ම ක්‍රියාත්මක වීමක් තමයි සිද්ධ වෙලා තියෙන්නෙ. දුන්නු කෙනා ගැන හොඳට විමර්ශනය කරල බැලුවොත් ඒක වැටහේවි. දැන් ඇයි තමන් මේ උදව්ව වෙන කෙනෙකුට නොකෙරුවෙ? තවත් මේ වගේ කරදරවල වැටිච්ච යාළු මිත්‍රයො නෑදැයො නැත්ද? අඩු ගානෙ තමන්ව හදපු වඩපු අම්මට තාත්තට උදව්වක් කළාද? තමන්ගෙ එක කුසේ උපන් සහෝදරයෙකුට සහෝදරියෙකුට මේ වගේ උදව්වක් කරන්න හිතෙනවද? දැන් බැලුවම කොහේවත් යන කෙනෙකුට තමයි මේ උදව් කරන්න හිතිල තියෙන්නෙ. මොකක්ද වෙලා තියෙන්නෙ? සසර ණය ගනුදෙනුවල හැටි ඔහොම තමයි. සමහරුන්ට නිකම්ම දෙන්න හිතෙනවා. ගන්න කෙනාට බලෙන්ම වගේ ගන්න හිතෙනවා. පිටින් බලල මේකෙ ගුණ ධර්ම තීරණය කරන්න බෑ.

සසර ගමනේදි ගනුදෙනු පියවගන්න නොයෙකුත් ක්‍රම යෙදෙනවා. පෙර අත්බවේදි ණය හිමියයි, ණයකරුවයි දෙන්නම හිත දූෂ්‍ය කරගෙන බලහත්කාරයෙන් ගන්න හෝ නොදී ඉන්න හැදුවනම්, සමහරවිට මේ ගනුදෙනුව බේරගන්න වෙන්නෙ තිරිසන් බවට පත්වෙලා. ණය ගන්න එනකොට කොහාට හරි වෙලා මුවා වෙලා හැංගිලා හිටිය කෙනා "මුවා" වෙලා තිරිසනෙක් විදිහට ණය දෙන්න උපදිනවා. මට වෙච්ච පොරොන්දුව ඉෂ්ට නොකළොත් ඕකව මරාගෙන කනව කියල කියපු ණය හිමියා, කෝ+ඉෂ්ට - "කොටිය" වෙලා ණය ගන්න උපදිනවා. කොටියට මුවා මුණ ගැහුණු වෙලාවට අර ණය ගනුදෙනුව පියව ගන්නවා. හැබැයි මෙතනදි කොටියත් මුවා මරල පාපයක් සිද්ධ කර ගන්නවා. කොටියා මාංශ භක්ෂක වුණත් ධර්මතාවයෙන්ම ඌට ඒ වගේ පව් කර ගන්න අත්බවක් ලැබිල තියෙන්නෙ කර්ම වේගයෙන්. ඒ නිසා තමයි තිරිසන් වුණොත් එතැනින් පසු තවත් පහත් අත්බැව්වලට යනව මිසක් ලේසියෙන් ගැළවීමක් නෑ කියන්නෙ.

මේ විදිහට සසර ගනුදෙනුවල හැටි තෝරගන්න ඕන. මතුපිටින් බලල මේවායෙ හේතු ඵල තෝරන්න බෑ. දැන් සමහර ගෙවල්වල එකම පවුලේ විවිධාකාර ගති ලක්ෂණ තියෙන ළමයි ඉන්නවා. පවුලක් සකස් වෙලා එනකොට දෙමව්පියන්ගෙන් ගන්න හිමිකම් තියෙන අය දරුවො විදිහට ණය ගන්න එනවා. සමහරු, දරුවො විදිහට උප්පත්තියට ඇවිත් ණය පියවන්න සම්බන්ධ වෙනවා. ධර්මතාවයෙන් ගන්න හෝ දෙන්න හේතුකාරක වෙලා දරුවො විදිහට උපදිනවා. දැන් ණය ගන්න ආපු දරුව කොහොමහරි දෙමව්පියන්ට වද දීල හරි හොඳින් හෝ නරකින් ගන්න බලනවා. ඒ වගේම දෙන්න ආපු දරුවා තමන් නොකා නොබී ඉඳල හරි, හරිහම්බු කරල දෙමව්පියන්ට ගෙනත් දෙනවා. ලෝක සම්මතයෙන් බැලුවොත් එහෙම එක දරුවෙක් දෙමව්පියන්ට හොඳට සලකනවා, තව දරුවෙක් දෙමව්පියන්ට දුක් කරදර දෙනවා. මේ වගේ පවුල් අපිට සමාජයේ දකින්න ලැබෙනවා.

නිකමට සෝදිසි කරල බැලුවොත්, මේ වගේ දරුවො සම්බන්ධයෙන් දෙමව්පියන්ගෙ ප්‍රතිචාරය කොහොම වෙයිද? බලෙන් හරි මංකොල්ල කාල හරි වද දීල හරි දෙමව්පියන්ගෙ දේපළ අරන් යන දරුවට කවුරු හරි බැන්නොත් එහෙම ඒ දෙමව්පියො බොහෝ විට කියන්නෙ මේ වගේ දෙයක්. "ඒකා පොඩි එකා. ඌ කොහෙන් ඉල්ල ගන්නද අපෙන් ඉල්ලන්නෙ නැතුව! පව් බඩ පිස්සා" මේ වගේ ධර්මතාවයෙන්ම ඒ දරුවට වැඩි සෙනෙහසක් ඒ දෙමව්පියන්ගෙන් උරුම වෙනවා. ලැබුණු දෙයක් හංගල තියල හරි ඒ දරුවට දෙනවා. හරිහම්බ කරල ගෙනත් දෙන අනෙක් දරුවට කවුරු හරි හොඳක් කිව්වත් මෙහෙම පිළිතුරක් තමයි ලැබෙන්නෙ. "ඌ ගෙදර ලොකු එකා. ඌ තමයි පවුල නඩත්තු කරන්න ඕන. ඌ නැතිව වෙන කවුරු අපිට සලකන්නද?" මේ වගේ කොච්චර කළත් යමක් දෙන දරුවට හොඳක් කියන්න කැමති වෙන්නෙ නෑ. කර්ම වේගයෙන්ම සසර ගනුදෙනුව පියවන්න පවුලෙ ලොකු එකා සහ පොඩි එකා වෙලා ඉපදෙනවා.

දැන් පිටින් බලන කෙනෙකුට මේ අවස්ථා දෙක පේන්නෙ කොහොමද? එක පැත්තකින් දෙමව්පියන්ට කරන සැලකීමක්, තව පැත්තකින් දෙමව්පියන්ට කරන හිංසාවක්, අයුක්තියක් අසාධාරණයක් විදිහට තමයි පේන්නෙ. නමුත් ගුණ ධර්ම නිසා ආපු දෙයක් නෙවෙයි මෙතැන සිද්ධ වෙන්නෙ. ගන්න ආපු කෙනා ගත්තා. දෙන්න ආපු කෙනා දුන්නා. මේවා සසර ගනුදෙනු නිසා ඔවුන්ට ආපු අදහස්. මේකට හේතු වෙච්ච අතීත සිද්ධිය, එහෙම නැත්නම් හේතු ඵල රටාව ඇහැට පේන කනට ඇහෙන දෙයක් නෙවෙයි. මේ වගේ අවස්ථාවලදි බොහොමයක් පෘතජ්ජනයො මතුපිටින් බලල තමන්ට ගෝචර නොවන දේවල්වලට තීරණ දීල අනුන්ගෙ ගනුදෙනුවලට පැටලෙනවා. මෝහය නිසා අහක යන කුණු ගොඩවල්වලට මැදි වෙලා එක්කො රාගයෙන් ඇලෙනවා, නැත්නම් ද්වේශයෙන් ගැටෙනවා.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, දෙමව්පියන් දරුවන්ට සළකන්නෙ සසර ගනුදෙනු නිසා නම් ඒ කරපු සැළකීම්වලට දරුවන් නැවතත් දෙමව්පියන්ට සළකන්න ඕනද, එතකොට දෙමව්පියන්ට නොසැළකුව කියල පවක් සිද්ධ වෙන්නෙ නැත්ද, දෙමව්පියො දරුවන්ට සළකන්නෙ නැතිව දරුවො දෙමව්පියන්ට සැළකුවොත් මොකද වෙන්නෙ... ඔය ආදී වශයෙන්. දෙමව්පියො දරුවන්ට සළකල දරුවො දෙමව්පියන්ට නොසැළකුවොත්, අර වගේ සසර කර්ම වේගයක් තිබුණ නම් ඒක ඉවර වෙනකල්ම ඒ ගනුදෙනුව යනවා. කොටසින් කොටස ඒ ගනුදෙනුව ගෙවෙනවා. එහෙම ගෙවිල ඒ ගනුදෙනුව ඉවර වුණාම සමහර විට ඒ දෙමව්පියන්ට දරුවන් එපා වෙන්නත් පුළුවන්. ඒ වගේ සසර ගනුදෙනුවක් ගෙවීමක්ද, නැත්නම් නව ගනුදෙනුවක් හදාගත්තද කියන කාරණා දෙකෙන් මොකක් හරි වෙන්න පුළුවන්. ඒක අපිට නිගමනය කරන්න බෑ. මෙතැනදි

පොදුවේ ගත්තම දරු සෙනෙහස කියල දෙයක් තියෙනවා. ඒක තාවකාලික එකක්. ඊට අමතරව කර්ම වේගයට අනුව සසර ගනුදෙනුවක් නිසා හැදෙන දරු සෙනෙහසක් වෙනම තියෙනවා. මේ කියන තාවකාලික දරු සෙනෙහස සතුන්ටත් තියෙනවා. සතෙක් ගත්තම පැටව කාලෙ ඉඳන් උෟට තනියෙන් හොයාගෙන කන්න පුළුවන් මට්ටමට එනකල් මව්පිය සතුන්ගෙ සෙනෙහසත් රැකවරණයත් ලැබෙනවා. ජීවිතය කැප කරල හරි උන් පැටව් රකිනවා. හැබැයි උෟ ලොකු මහත් වෙලා තනියෙන් හොයාගෙන කන්න පුළුවන් මට්ටමට ආවම කොටල හපාකාල පන්නනවා. කුරුළු පැටව් ගත්තත් බලු බළල් පැටව් ගත්තත් ඒ තත්ත්වය දකින්න පුළුවන්. ඒක සතෙක්ගෙ පැවැත්මට ලෝකයේ සකස් වෙලා තියෙන පොදු ක්‍රියාවලියක්. ඒ කියන්නෙ පැවැත්මට මොනව හරි ක්‍රමයක් යෙදෙනවා.

ඒකට තවත් හොඳ උදාහරණයක් තමයි පාර අයිනක බළල් පැටියෙක්, බලු පැටියෙක් වැටිල හිටියොත් හුග දෙනෙක්, අනේ පව් අහිංසක පැටිය කියල උෟව ගෙනත් කන්න දීල සළකන සිරිතක් තියෙනවා. නමුත් වයසට ගිය බල්ලෙක් බළලෙක් කන්න නැතිව පාරෙ වැටිල හිටියට එහෙම අනුකම්පාවක් දක්වල ගෙනත් සළකන්නෙ නෑ. හුඟක් අය ඒ දිහා බලන්නෙවත් නෑ. එතකොට අර පැටව කාලෙ, බලන හැමෝටම උගේ ආරක්ෂාවට ආදරයක් අනුකම්පාවක් එනවා. හුඟක් වෙලාවට කොටිය වඳුරු පැටියෙක් බිම වැටිල හිටියොත් උෟව මරාගෙන කන්නෙ නෑ. හැබැයි ලොකු වඳුරෙක් අහුවුණොත් මරාගෙන කනවා. ධීවරයො වුණත් මඩු පැටව් වගේ පොඩි මාළු පැටව් දැලට අහුවුණොත් උන් නැවතත් මුහුදට දානවා, ලොකු වුණාට පස්සෙ අල්ල ගන්න පුළුවන් කියල. ඒක ආර්ථික වාසි තකා උපක්‍රමශීලීව කරන දෙයක් වුණත් ඒකෙන් පොඩි පැටවුන්ට ජීවත් වෙන්න අවස්ථාවක් ලැබෙනවා. ඒ තමයි ලෝක ධර්මතාවයේ හැටි. ඒක සතුන්ගෙ ප්‍රජාව හට ගන්න හැඳුණු ක්‍රමවේදයක්. ඒක මනුස්සයින්ටත් තියෙනවා. හැබැයි ඊට අමතරව තමයි විශේෂයෙන් සසර ගනුදෙනු කියල ක්‍රියාවලියක් එන්නෙ. ඒක හොඳ නරක දෙපැත්තටම එනවා.

පොත්වල සඳහන් වෙලා නොතිබුණත්, අම්ම කෙනෙක් දරුවෙකුට මව් කිරි දීල උස්මහත් කරන්නත් හේතුවක් තියෙනවා. ඒකත් ඈත අතීතයට යන සසර ගනුදෙනුවක්. මනුස්ස ලෝකය ආරම්භ වන කාලයේ මනුස්සයෝ උපන්නෙ ඕපපාතිකව මිසක් මව් කුසකින් නෙවෙයි. පසු කාලයක තමයි මව් කුසක උපන්නෙ. ඒකට හේතුව තමයි මුල් කාලෙ මනුස්සයින්ගෙ භුක්තියට පොදුවේ තිබ්බච ස්වයංජාත ඇල්, වැඩිපුර ගෙනත් දින 7 ක් යනකල් ගොඩග හගෙන අනුන්ගෙ කොටසත් භුක්ති විඳින්න පටන් ගැනීම. ඒකෙන් අනුන්ට පාඩුවක් වුණා. ඒකට මුල් වුණේ ස්ත්‍රිය. ස්ත්‍රිය තමයි පුරුෂයාට කිව්වෙ දින 7 කට ඇති වෙන්න ස්වයංජාත ඇල් කපාගෙන එන්න කියල. ඊට පස්සෙ සියලු දෙනාම ඒක අනුගමනය කරන්න පටන් ගත්තම පිරිසකට ආහාර හිඟ වුණා. එතකොට ඒ වැඩිපුර ගැබ් කර ගත්තු කොටසට වන්දි ගෙවන්න සිද්ධ වෙනවා. ඒ නිසා තමයි මව්ගෙ ගැබට ඇවිත් ඉපදිලා කිරි බීල වැඩෙන්න හේතුව. වැඩි පුර ගැබ් කර ගත්තු හේතුවට දරු ගැබක්



ආවා. ඒකට හේතුව මේකයි කියල හේතු ඵල වශයෙන් දකින්න පුළුවන්. එතකොට හැදෙන වැඩෙන කාලෙදි මව්ට හැම වෙලේම දරුවා කෙරෙහි දැඩි ලෙන්ගතුකමක් එනවා. තිරිසන් සතාටත් එහෙමයි.

ඇත්ත වශයෙන්ම අම්ම තාත්ත වුණත් දරුවන්ට සළකන්නෙ මමත්වයෙන් අරගෙන තමයි. ඒ කියන්නෙ අපේ දේපළ වතුපිටි ඉඩකඩම් ආරක්ෂා කරල, අපේ පරපුර ගෙනියයි, අපිට වයසට ගියාම සළකයි, අපේ තත්ත්වය රැකගෙන ජීවත් වෙයි, අපි මැරිල ගියාම අපි වෙනුවෙන් පින් දහම් කරයි කියන බලාපොරොත්තුවෙන්. හැබැයි දරුවෙකුට තනියෙන් මුකුත් කරකියාගන්න බැරි කාලෙදි කරපු සැළකීම් නිසා දෙමව්පියන්ට සිව්පසයෙන් ඇප උපස්ථාන ලබන්න හිමිකමක් එනවා. එතැන දෙමව්පියන් තුළ ලෞකික වශයෙන් බ්‍රහ්ම, පූර්වාචාර්ය, ආහුනෙයිය කියන ගුණ තියෙනවා. (අංගුත්තර නිකාය 1 - දේවදූත වර්ගය - 245 පිටුව) එතකොට එහෙම සළකපු නිසා ඒ හිමිකම තිබුණට, පසු කාලීනව සසර ගනුදෙනු ක්‍රමය ක්‍රියාත්මක වුණොත් ඒ තත්ත්වය ඊට වඩා වෙනස් වෙන්න පුළුවන්. සමහර විට සම්පූර්ණයෙන්ම විරසක වෙන්නත් පුළුවන්. උදාහරණ විදිහට සමහර අවස්ථාවල දෙමව්පියො පුංචි දරුව අවුරුදු දෙක තුනක් යනකල් හොඳට හදල අතහැරල දාල යන අවස්ථා තියෙනවා. දරුවො දෙමව්පියන්ටත් ඒ වගේ, මුලින් හොඳට සළකල පසුව එළියට ඇදල දාන අවස්ථා තියෙනවා.

එතකොට කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ සසර ගනුදෙනු නම්, ඒ යුතුකම් ඉටු කිරීම පින් පව්වලට ගළපන්නෙ කොහොමද කියල. කෙනෙක් ඒ යුතුකම් ඉටුකිරීම පැහැර හැරියොත්, දස වස්තුක මිත්‍යා දෘෂ්ටියේ එන නත්ථි යිට්ඨං - යුතුකම් ඉටු කිරීමේ ඵල විපාක නෑ, එහෙම කළාට කමක් නෑ කියන දෘෂ්ටියට තමයි ඒක වැටෙන්නෙ. ඒ කියන්නෙ මිත්‍යා දෘෂ්ටියට වැටෙනවා. ඒක දස අකුසලයට අයිතියි. ඒ නිසා යුතුකම් ඉටු කිරීම කියන්නෙත් පිනක්. හැබැයි නව නිර්මාණ හෙවත් අලුතින් හදාගන්න ගනුදෙනු වෙනයි, පෙර සසර ගනුදෙනු වෙනයි. පෙර සසර ගනුදෙනු නම් නිරායාසයෙන්ම එනවා. මම මෙහෙම කෙරුවෙ මට මෙහෙම සළකපු නිසා කියන එක එක කාරණයක්. එහෙම නැතිව සළකන අයත් ඉන්නවා. ඒ කියන්නෙ යුතුකම්වල සම්බන්ධයක් නැතිව සළකනවා. ඒව තමයි පුද්ගලයින් අතර සිදුවන සසර ගනුදෙනු කියන්නෙ. ඒ නිසා තමයි සමහර දෙමව්පියො, දරුවො තමන්ට පහර දුන්නත් ආදරෙන් කතා කරන්නෙ, කන්න බොන්න දෙන්නෙ. හැබැයි සමහර පුද්ගලයො කපටිකමෙන්ම තවත් අය බය කරගෙන එහෙම කරනවා. එතකොට නව ගනුදෙනුවක් හැදෙනවා.

හැබැයි මේ කොයි විදිහට කළත් අංශු මාත්‍රයක හෝ සසර ගනුදෙනුවක් නැත්නම් එහෙම දේවල් වෙන්නෙත් නෑ. ඒ ගනුදෙනුව අඩු වැඩි වෙන්න පුළුවන්. නමුත් අසාධාරණයට ලක් වෙන පාර්ශවය කවද හරි කාටහරි කරපු අවැඩක් නිසා තමයි එහෙම වෙන්නෙ. දරුවෙක්ගෙන් හරි දෙමව්පියො අපහාසයක්

ලබනව කියන්නෙ, තමනුත් කවද හරි දවසක දෙමව්පියන් වගේ අයට අපහාස කිරීමේ විපාකයක්. කවුරු හරි සංඝ රත්නයට අපහාස කරනව නම්, ඒ පුද්ගලයට ඒකට පෙරළා සංඝ රත්නය විසින් අපහාස නොකළත්, කවද හරි දවසක දරුවන්ගෙන් හරි අපහාස ලබන්න සිද්ධ වෙන්න පුළුවන්. එතකොට දරුවන්ට යහපත කරල දීලත් ඒ අය නිසා දුක් විඳින්න සිද්ධ වෙනවා. මොකද දරුවො පෘතජ්ජන නම් දරුවන්ගෙ මානසිකත්වයත් ඒ පැත්තටමයි නැමෙන්නෙ. ඒක ලෝකෙ හැටි. ලෝකෙ හැදිල තියෙන්නෙ තරඟ කාරීත්වයෙන්, එකට එක කිරීමක් වශයෙන්. මට ගැහුවොත් මාත් ගහනවා, බැන්නොත් මාත් බනිණවා කියන තැන තමයි ලෝක සත්ත්වයා ඉන්නෙ. පොඩ්ඩක් හරි තමන්ට රිදවීමක් ආවොත් ඒකට ලොකුවට පෙරළා කරන්නයි බලාපොරොත්තුව. ඒක තමයි පෘතජ්ජන සිරිත. සතෙකුට වුණත් ඒ වගේ. පහරක් ගැහුවොත් ඌට ඒක මතක තියෙනවා. ඌ පළි ගන්න බලාපොරොත්තු වෙනවා. මිනිස්සුත් ඒ වගේ. තමන්ට මොනව හරි නපුරක් කළා කියල දැන ගත්තම පළි ගන්න බලාපොරොත්තු වෙන්නෙ ඒ වගේ සිය දහස් ගුණයකින්. ඒ තමයි පෘතජ්ජන සාමාන්‍ය ලෝකයාගේ ස්වභාවය.

එතකොට දෙමව්පියො දරුවන්ට සැළකීමයි, දරුවො දෙමව්පියන්ට සැළකීමයි කියන්නෙ කාරණා දෙකක්. දෙමව්පියො දරුවන්ට සළකන්නෙ යුතුකම් විදිහට, උපකාරයක් විදිහට. දරුවො දෙමව්පියන්ට සළකන්නෙ කෘතෝපකාරයක් විදිහට. කෘතෝපකාරය පරම දුර්ලභයි. උපකාරය තමන් විසින් කළ යුතු යුතුකමට වැටෙන්නෙ. මාව හදපු වඩපු නිසා මමත් සළකනව කියන හැඟීම තමයි දරුවො දෙමාපියන්ට සැළකීමෙදි තියෙන්නෙ. නමුත් වෙනත් සසර ගනුදෙනුවක් ආවොත් ඒ තත්ත්වය වෙනස් වෙන්න පුළුවන්. එතකොට උපකාරයට කෘතෝපකාරයෙදි දරුවන් දෙමාපිය ගුණ සිහි කරලයි දෙමව්පියන්ට සළකන්නෙ. දෙමව්පියො සසර ගනුදෙනුවක් නිසා දරුවන්ට සැළකුවත්, දරුවන් හිතනව නම් අපිට බැරි කාලෙදි ඒ අය නොකා නොබී හරි කන්න අඳින්න දුන්න කියල, එතැන තියෙන්නෙ ගුණ සිහි කිරීමක්. ගුණයක් සිහි කරල යමක් දීම පිනක්. කාසාව කණ්ඨකයට යනකල් සාංඝික කියන ගුණය සිහි කරල භික්ෂූන්ට දන් දෙන්න පුළුවන්. එතකොට බුදුන් වහන්සේට පුද්ගලික දානයක් දුන්නටත් වඩා ඒක ආනිසංසයි කියල උන් වහන්සේම දේශනා කරනවා. මොකද ගුණ සිහි කරල දෙන නිසා. ඒකෙ වෙනසක් තියෙනවා. ඒ වගේ දරුවො දෙමව්පිය ගුණ සිහි කරල යමක් දුන්නට, දෙමව්පියන්ට දරු ගුණ සිහි කරල දරුවන්ට යමක් දෙන්න බෑ. මොකද ඉපදිලා උස්මහත් වෙලා යමක් තේරුම් ගන්න හැකියාව ලැබෙනකල් දරුවො කියන්නෙ පෝෂණය වෙන අය මිසක් ගුණයක් තේරුම් අරගෙන යමක් කරන අය නෙවෙයි. ඒ අය හැදිල වැඩිල පසු කාලයක තමයි මොනව හරි කරන්න බලන්නෙ. එතකොට දරුවො දෙමව්පියන්ගෙ ගුණ සිහි කරන්න ඕන. මේ දෙමව්පිය ගුණය කොච්චරද කියනව නම්, දරුවෙක් තමන්ගෙ දෙමව්පියො මැරුවොත් ඒකාන්තයෙන්ම ඒක ආනන්තරීය පාප කර්මයක් වෙලා ඊළඟ අත්බවේ නිරයට යන්න හේතු වෙනවා. හැබැයි දෙමව්පියො තමන්ගෙ දරුවෙක් මැරුව කියල පාප කර්මයක් වුණත් ඒක ආනන්තරීය පාප කර්මයක් වෙන්නෙ නෑ. ඒකෙන්ම පේනවා දෙමව්පිය ගුණය කොච්චරද කියල.

ඒ වගේම ඒ දරුවා ප්‍රඥාවන්තයෙක් වුණොත්, බුද්ධ දේශනාව අනුව ඒ දෙමව්පියන් සාසනයට සම්බන්ධ කරල ශ්‍රද්ධා මාත්‍රයක්, සීල මාත්‍රයක්, සෘත මාත්‍රයක්, ත්‍යාග මාත්‍රයක්, ප්‍රඥා මාත්‍රයක් හෝ පහළ කරවල, පින් දහම් කරවල දෙමව්පියන්ට සළකන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවකදි දෙමව්පියන්ට පුළුවන් ඒ දරුවන්ගෙ ආර්ය ගුණ සිහිකරන්න. භික්ෂූන් වහන්සේලාටත් පුළුවන් තමන්ගෙ වයසට ගිය, නැති බැරි, රෝගී වූ දෙමව්පියන්ට පණ්ඩපාතෙ කරල හරි කන්න බොන්න අඳින්න දෙන්න. භික්ෂූන් වහන්සේ තමන් හැදූ වැඩූ දෙමව්පිය ගුණ සිහි කරලයි එහෙම කරන්නෙ. ඒ ලෞකික ගුණ දැකල උපකාරයට කෘතෝපකාරයක් වශයෙන්.

හැබැයි එහෙම දුන්න කියල දෙමව්පියන් දරුවො සිහි කරන්න ඕන සඟ ගුණයෙන්. මොකද සංඝ සම්මතය හරි බලවත්. හැබැයි දෙමව්පියන් පෘථජ්ජන නම් තමන්ගෙ දරුවන්ගෙ වුණත් ආර්ය ගුණ දකින්නෙ නෑ. ඒ නිසා සමහර විට පෘථජ්ජනයෙකුට වගේ කතා කරන්න පුළුවන්. උදාහරණයක් විදිහට සැරියුත් මහරහතන් වහන්සේගෙ මව්ගෙ කතාව ගන්න පුළුවන්. උන් වහන්සේගෙ මව, උන් වහන්සේ මහණ වුණාට පස්සෙ දැකල තිබුණෙ නෑ. ඉතින් ඔහොම කාලයක් ඉඳල තමන්ගෙ මව්ට යහපත කරන්න උන් වහන්සේ මව් ගෙදරට වැඩියා. උන් වහන්සේ සමග රාහුල හාමුදුරුවොත් වැඩියා. ඒ වෙලාවෙදි ඒ මව් සැරියුත් හාමුදුරුවන්ට දානය පිළිගන්වල කියනවා, මෙච්චර සැප සම්පත් වස්තුව තියෙද්දි හැම තැනම හිඟා කකා ඇවිදින්නෙ නැතිව අදවත් බඩ පිරෙන්න කන්න කියල. ඉතින් සැරියුත් හාමුදුරුවො නිහඬව හිටියලු. ඊට පස්සෙ බුදුන් වහන්සේ රාහුල හාමුදුරුවන්ගෙන් ඇහුවලු, සැරියුත් හාමුදුරුවන්ගෙ මව මොකද කිව්වෙ කියල. මෙන්න මෙහෙම දෙයක් කිව්ව කියල කිව්වම උන් වහන්සේ නැවතත් ඇහුවලු, එතකොට සැරියුත් හාමුදුරුවො මොකද කිව්වෙ කියල. උන් වහන්සේ නිහඬව හිටිය කිව්වම, සාරිපුත්ත මහා ප්‍රාඥයි කියල බුදුන් වහන්සේ ප්‍රසංසා කළාලු. එතකොට බලන්න මෙච්චර කාලයක් පෙරුම් පුරාගෙන රහත් ඵලයට පත්වෙලා, ගෞතම බුද්ධ සාසනයේ අගසව් වෙච්ච උන් වහන්සේ කෙරෙහි, තමන්ගෙ දරුව කියන ලෞකික හැඟීම මිසක් සඟ ගුණ ගැන කිසිම හැඟීමක් තිබිල නෑ. අඩු ගානෙ ඒ මව ඒ වෙනකොට තමන්ගෙ පුතා රහත් වෙලා ඉන්නෙ කියලවත් දැනගෙන ඉඳල නෑ.

ඒවගේමසමහරවිටදෙමව්පියො දරුවන්ගෙන් ගැළපෙන්නෙ නැති දේවල් ඉල්ලන්න පුළුවන්. ඒ කියන්නෙ මත් පැන් බොන්න, සූදුවට වගේ දුරාචාරවලට මුදල් ඉල්ලන්න පුළුවන්. මම උඹට මෙහෙම කළා, දැන් උඹ මට මේ වැඩේ කරල දීපන් කියල අසාධාරණ වැඩක් කරල දෙන්න කියල ඉල්ලන්න පුළුවන්. නමුත් ඒක හරියන්නෙ නෑ. ඒක තමයි ප්‍රඥාවෙන් තීරණය කරන්න ඕන. ඒ නිසා අවශ්‍යතාවය විතරක් නෙවෙයි, ඒක ගැළපෙනවද කියලත් බලන්න ඕන.

පවුලක සැමියා සහ බිරිඳ අතර තියෙන්නෙත් සසර ගනුදෙනුවක්. දැන් බලන්න සමහර පවුල්වල සැමියා කොච්චර වෙහෙස මහන්සි වෙලා හරිහම්බ කරල ගෙනත් දුන්නත් බිරිඳගෙන් හොඳක් නම් අහන්න ලැබෙන්නෙ නෑ. සැමියගෙ නුගුණ හැම තැනම කිය කියා ඇවිදිනවා. කොච්චර මොනවා කිව්වත්, දරු පවුල අනාථ වෙන්න දෙන්න බෑ කියල සැමියා තවත් වැඩියෙන්

මහන්සි වෙලා කොහොම හරි දරු පවුල රක්ෂා කරන්න, නොකා නොබී වෙහෙසෙමින් හම්බු කරන හැම සතයක්ම බිරිඳට ගෙනත් දෙනවා. මේ එක පැත්තක්. තවත් සමහර පවුල්වල බිරිඳ දහදිය මහන්සිය වගුරමින් වෙහෙසිලා කුලී වැඩ කරල, පවුලට කන්න බොන්න දෙන්න, ගෙයක් දොරක් හදා ගන්න මුදල් හොයනවා. සමහර විට මැද පෙරදිග වහල් සේවයට, එහෙම නැත්නම් කොහේ හරි පොහොසත් ගෙදරක වැඩකාරකමට යනවා. සැමියා මුකුත් නොකර මත් පැන් බිබී බිරිඳටයි දරුවන්ටයි කරදර හිරිහැර කරනවා. බිරිඳ හම්බ කරන මුදලත් බලෙන් අරගෙන, නැත්නම් ගෙදර බඩු මුට්ටු විකුණල හරි බිරිඳගෙ කණකර ආභරණ උකස් කරල හරි සුරා සූදුවට යොදවනවා. හැබැයි සැමියා මොන කරදර කළත්, "මොනවා කරන්නද මේ මගේ මනුස්සයනෙ, දරු පවුල රැකගන්න ඕනනෙ" කියල බිරිඳ තමන්ට හැකි උපරිමයෙන් සැමියට සහ පවුලට සලකනවා.

මීට අවුරුදු විසිපහකට විතර උඩදී එක්තරා ප්‍රදේශයක බිරිඳට විවිධ දඬුවම් දෙන, ඒ වගේම අභූත චෝදනා කරන සැමියෙක් හිටියා. දවසක් මේ සැමියා බිරිඳව අල්ලල ගහක බැඳල නිරුවත් කරල දිමි ගොටුවක් ඇඟට දැම්මා. මේ වගේ අමානුෂික වධ හිංසා තමයි ඒ සැමියා බිරිඳට දුන්නෙ. ඔහොම ඉඳල සැමියා හදිසියේ මියගියා. දැන් බිරිඳ හොඳටම අඬා වැලපෙනවා. අනේ මගෙ බුදු මහත්තයා ජාති ජාතිත් මගේ මහත්තයාම වෙන්න ඕන... මේ ආදී වශයෙන් කියමින් කෑ ගහනවා. එතකොට සැමියගෙන් මෙච්චර දුක් කරදර ලැබිලත් කෝ තවමත් ඇයට සැමියා එපා වෙලාද? නෑ. මොකද තවමත් ණය ගෙවල ඉවර නෑ. මතුවටත් ගෙවන්න බලාපොරොත්තු වෙනවා. දැන් තවත් සමහර පවුල්වල බිරින්දෑවරු ඉන්නවා, පොඩ්ඩක් වචනයක් වැරදිච්ච ගමන් දමල ගහල අම්ම තාත්ත ගාවට යනවා. පොඩ්ඩක්වත් ඉවසන්නෙ නෑ. මේ අද සමාජයේ අහන්න දකින්න ලැබෙන සිද්ධි. මේ වගේ අවස්ථාවලදී අපිට කියන්න පුළුවන් කමක් නෑ, කෙනෙක් ගුණ ධර්ම නිසා සියලු හිංගි හිංසා ඉවසගෙන හිටියා, නැත්නම් වැරද්දක් නිසා සියල්ල දාල ගියා කියල. මොකද මේ සසර ගනුදෙනු ක්‍රියාත්මක වෙන හැටි විවිධාකාරයි. ඒවා ගෙවන්න නොයෙකුත් ක්‍රම සකස් වෙනවා. ඒ වගේ අවස්ථාවලදී බොහොමයක් තියෙන්නෙ ගුණ ධර්ම නිසා ගන්න තීරණ නෙවෙයි. ප්‍රඥාවෙන් තොරව, එන විපාකය අනුව කටයුතු කිරීම තමයි බොහෝකොටම මේ වගේ අවස්ථාවල සිද්ධ වෙන්නෙ.

ගෞතම බුදු පියාණන් වහන්සේ ජීවමාන කාලයේ සිද්ධ වෙච්ච රජ්ජුමාලා දාසිය පිළිබඳ කතාව සසර ගනුදෙනු ගැන දැනගන්න හොඳම උදාහරණයක්. රජ්ජුමාලා කියන්නෙ සිටු දුවක් ළඟ වහල් සේවයට හිටපු දාසියක්. සිටු දුවට හැම තිස්සෙම පේන්නෙ ඇගේ වැරදිමයි. වරදක් දුටු තැන කෙස් වැටියෙන් අල්ලල පහර දෙනවා. මේක ඉවසන්න බැරි තැන රජ්ජුමාලා කෙස් වැටිය කපල දැම්මා. ඒත් ඇයට බේරෙන්න බැරි වුනා. කෙස්



වැටිය කපල දැම්ම නිසා සිටු දුව ඒ වෙනුවට ඇයගෙ බෙල්ලෙ වැලක් ගැට ගැහුවා. මාලා කියන දාසිය ඒ බෙල්ලෙ තිබ්බ වැල්පට නිසා තමයි රජ්ජුමාලා වුනේ. දැන් සුළු හෝ වරදක් දක්කම ඒ වැලෙන් අල්ලගෙන පහර දෙනවා. ඇය වහලියක් නිසා වැල ගලවල දාන්න ඇයට අයිතියක් නෑ. බේරෙන්න බැරි තැන ඇය සිය දිවි නසාගන්න කල්පනා කළා. වතුර ගේන්න යන විදිහට ගඟ ළඟට ගිහින් බෙල්ලෙ තිබ්බ වැල් පටෙන් එල්ලිලා මැරෙන්න උත්සාහ කළා. නමුත් ඇයට තිබ්බ හේතු වාසනාවකට, බුදු පියාණන් වහන්සේ මහා කරුණා ඥානයෙන් මේ බව දැකල මනෝමය ඍද්ධියකින් එතැනට වැඩම කරල කරපු ධර්ම දේශනාවකින් ඇය සෝවාන් ඵලයට පත් වුනා. දැන් එතැනත් සසර උරුමයක්/ ගනුදෙනුවක් තිබ්බ නිසාමයි උන් වහන්සේගෙ මහා කරුණා සමාපත්ති ඥානයට ඇය යොමු වෙලා ඒ වගේ හේතු වාසනාවක් පහළ වුණේ. ඊට පස්සෙ බොහොම සතුටින් චිත්ත ප්‍රසාදයෙන්, සිටු දුව මොනව කළත් ඉවසනව කියල හිතල නැවතත් සිටු මාලිගයට ගියා. හැබැයි එතැනින් පස්සෙ මුකුත් කරදරයක් වුනේ නෑ. ඒ පාපය ගෙවුනා.

මේකට හේතුව වුනේ, මීට බුද්ධාන්තර ගණනාවකට පෙර වෙච්ච සිද්ධියක්. අද රජ්ජුමාලා එදා සිටු දුවක්. අද සිටු දුව එදා දාසියක්. අද වගේම එදා සිටු දුව දාසියට හිංගි හිංසා කළා. ඒ හේතුව නිසා එදා දාසිය පැතුමක් පැතුවා. අද මට මේ වධ දෙන මේ සිටු දුව කවද හරි මගේ දාසියක් වෙන්න ඕන, මම සිටු දුවක් වෙන්න ඕන. ඇය ඒ ප්‍රාර්ථනාව හිතේ තියාගෙනම පින් දහම් කළා. අවසානයේ හේතු වාසනා තිබුණ නිසාම ඇගේ පැතුම ඒ විදිහටම ඉටු වුනා. එතකොට මේ සිටු දුවගෙ සැඩ පරුෂ බවත්, දාසියගෙ ඉවසීමත් පෙර කරන ලද කර්මයක විපාකයක් මිසක් එවෙලෙ ඇති වෙච්ච දෙයක් නෙවෙයි. ඒ වගේම සමාජයේ පිරිස් අතර තියෙන නොයෙකුත් උදව් උපකාර කර ගැනීම්, ගහ බැන ගැනීම්, නිග්‍රහ කිරීම්, එහෙම නැත්නම් හිතවත්කම් අහිතවත්කම් සසර ගති ලක්ෂණ හේතු කොටගෙන තමයි බොහෝකොටම එන්නෙ. ඒ ගනුදෙනු අවසන් වෙනකල්ම ඒ සිත් නිවෙන්නෙ නෑ. ඒ සිත් රාගයෙන්, ද්වේශයෙන් ගිනි ගන්නවා. මෙතනදි රජ්ජුමාලා පැත්තෙන් ගනුදෙනුව අවසන් වුණාට, ඇයට හිංසා කරපු සිටු දුව ඒ කර ගත් පාපයට සසරෙදි වෙනත් කාගෙන් හෝ ස්වභාවික හේතුවකින් හෝ වන්දි ගෙවන්න වෙනවා.

අජාසත් රජතුමා තමන්ගෙ පියා වෙච්ච බිම්බිසාර රජතුමාව විවිධාකාර වධ හිංසා දීල මරා ගත්තා. අන්තිමට බිම්බිසාර රජතුමා මරණාසන්න මොහොතෙදි ඒ කර්ම වේගය අවසන් වෙලා, අජාසත් රජතුමාට තමන්ගෙ පියා ගැන අනුකම්පාවක් ඇතිවෙලා පියා බේරන්න කියල දුවගෙන ගියා. හැබැයි බිම්බිසාර රජතුමා එතකොටම මියගියා. ඒ කර්ම ශක්තිය තියෙනකල්ම අජාසත් රජතුමාගෙ හිත දැඩි වුනා. පියා කියල කිසිම අනුකම්පාවක් කළේ නෑ. ඒ වගේම ඒකට ගැළපෙන දෙව්දත් ථෙර වගේ පාප මිතුරු ඇසුරකුත් අජාසත් රජතුමාට ලැබුනා. ඒ සියල්ල කර්ම වේගය අනුව ගැලපිලා එනවා. ඒක කවුරුවත් පිටිපස්සෙන් ඉඳගෙන මෙහෙයවන එකක් නෙවෙයි. කර්ම ශක්තියේ ක්‍රියාකාරීත්වය හරියටම දකින්නෙ ලොව්තුරා බුදුන් වහන්සේ නමක් විතරයි. ශ්‍රාවකයෙකුට අනුමානයෙන් හේතු ඵල ගලපල විස්තර කරන්න පුළුවන් මිසක් හරියටම ඉලක්කයටම කියන්න හැකියාවක් නෑ. මොකද

සියල්ලම බහු හේතුකයි. එක හේතුවකින් වෙනව නෙවෙයි. ඒ සියල්ලම දකින්න පුළුවන් සර්වඥයන් වහන්සේ නමකට විතරයි.

එක අවස්ථාවක ගෞතම බුදු පියාණන් වහන්සේට එක්තරා තැනැත්තියක් කැවුමක් පූජා කළා. හැබැයි ඇය ඒ කැවුම පූජා කරන්න හිතාගෙන ආවෙ මහා කාශ්‍යප මහ රහතන් වහන්සේට. මහා කාශ්‍යප මහ රහතන් වහන්සේගෙ ස්වරූපය බුදු පියාණන් වහන්සේගෙ ස්වරූපයට බොහෝ සෙයින් සමානයි. පිටින් බැලුවම වෙන් කරල අඳුන ගන්න බැරි තරම්. ඒ නිසා ගොඩක් දෙනෙක් රැවටෙනවා. බුදුන් වහන්සේට කැවුම පූජා කරල ටික වෙලාවකින් ඇය දැක්කා මහා කාශ්‍යප මහ රහතන් වහන්සේ පිටු පසින් වඩිනවා. අනේ මම වෙන ශ්‍රමණයෙකුටනේ කැවුම පූජා කළේ කියල, එවෙලෙම බුදු පියාණන් වහන්සේ පිටුපසින් දුවගෙන ගිහින් කැවුම ආපසු ඉල්ලුවා. බුදු පියාණන් වහන්සේ අනන්ත දාන පාරමිතා පුරල තිබුණත්, පූජා කරපු ආහාරය නැවත ඉල්ලන්න තරම් හේතු වුනේ මොකක්ද කියල ඒ වෙලාවෙ සිහි කරල බැලුවා. එතකොට උන් වහන්සේ දැක්කා, පෙරුම් පුරපු කාලය තුල කාට දන් දුන්නත් ඒ තැනැත්තියට කිසිවක් දීල නැති බව. ඒ නිසා දන් උන් වහන්සේට ඇගෙන් යමක් ගන්නත් හිමිකමක් නැති බව දැක්කා. ඒ නිසා උන් වහන්සේ අධිෂ්ඨාන කළා, පාත්‍රය තුල තියෙන අනෙකුත් ආහාර ඇයට නොපෙනේවා ඒ කැවුම විතරක් පෙනේවා කියල. මොකද නැත්නම් ඇය තමන්ට හිමි නැති, පාත්‍රයේ තියෙන අනෙක් දාන ආහාරත් ගත්ත නම් ලොකු අවැඩක් වෙන නිසා. ඒ නිසා ඒ තැනැත්තිය ඒ කැවුම විතරක් නැවතත් අරගෙන ගිහින් මහා කාශ්‍යප මහ රහතන් වහන්සේට පූජා කළා. දැන් බලන්න ශ්‍රාවකයන් වහන්සේ නමකට චිත්ත ප්‍රසාදයෙන් දන් දෙන්න බලන් හිටපු කෙනාට ලොව්තුරා බුදු පියාණන් වහන්සේ කෙරෙහි චිත්ත ප්‍රසාදයක් ඇතිවුනේ නෑ. දීපු දානයත් ආපසු ඉල්ල ගත්තා. අද කාලෙ දුස්සීල භික්ෂුවකටවත් මුහුණ දෙන්න සිද්ධ නොවෙන දෙයකට එදා ලොව්තුරා බුදුන් වහන්සේට මුහුණ දෙන්න සිද්ධ වුනා.

එතකොට කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, දුන් දෙයක් මිස නුදුන් දෙයක් ලැබෙන්නෙ නැත්නම්, කොහොමද අලුතින්ම කෙනෙක් බුදුවරයෙකුට හෝ භික්ෂූන් වහන්සේ නමකට දානයක් පිරිනමල සාසනයට ඇතුල් වෙන්නෙ කියල. එතැනදි සියල්ලම පෙර කර්මයෙන් වෙන්නෙ නෑ කියන කාරණයත් තේරුම් ගන්න ඕන. ඒ කියන්නෙ තමන් විසින් නැණ නුවණින් තීරණය කරන්න ඕන කොටසකුත් තියෙනවා. ඒක තමන් විසින්ම අවස්ථානුකූලව කළ යුත්තක්. ඉහත උදාහරණයෙදි ඒ කාන්තාව, කාට වුණත් පූජා කරපු දෙයක් නැවත ඉල්ලන්න සුදුසු නෑ කියල ලෞකික නැණ නුවණින් හරි තේරුම් අරගෙන, ඒ කැවුම ආපසු නොඉල්ලා හිටිය නම් උන් වහන්සේ ඒක බාර ගන්නවා. නමුත් පිටිපස්සෙන් ඇවිත්, දීපු කැවුම නැවත ඉල්ලපු නිසයි උන් වහන්සේ ඒක නැවත දුන්නෙ. ඉතින් පෘථජ්ජන ගතිය නිසාම ඒ වගේ ඥානවන්ත තීරණයක් ගන්න බැරි වෙන්න පුළුවන්. එතකොට හැම වෙලේම කර්ම ශක්තියට වහල් වෙනවා. නමුත් දහම් අවබෝධය ලබල ආර්ය භාවයට පත් වුණාම ඒ තත්ත්වය ඉක්මවා යනවා.

ඉතින් මේ වගේ පළවෙනි ගනුදෙනුව හදන කොට, සමහර විට කල්‍යාණ මිත්‍ර සේවනයත් උපනිශ්‍රය වෙනවා. කල්‍යාණ මිත්‍රයා දහමට යොමු වෙලා හිටපු කෙනෙක් නම්, මිතුරුකම නිසාම ඒ අවස්ථාවට අතගහල ගනුදෙනුවට සම්බන්ධ වෙන්න පුළුවන්. මෙහෙම දෙයක් තියෙනව කියල අඬගහගෙන යන්න පුළුවන්, සාධු කියල කියවන්න පුළුවන්. එතකොට අවබෝධය නැතත් මිතුරුකම නිසාම ගනුදෙනුවට සම්බන්ධ වෙනවා. ඒකෙන් අලුත් ගනුදෙනුවක් හදාග න්නවා. ඒ නිසා බුදු කෙනෙකුට වුණත් කෙලින්ම දන් දෙන්න අවස්ථාවක් නැත්නම් වක්‍රව දෙන්න පුළුවන්. සත් පුරුෂ සේවනය විශේෂයි, කල්‍යාණ මිත්‍ර සේවනය සාසන දියුණුවේ මුල පටන් ගැන්මට විශේෂයි කියල පෙන්වන්නෙ ඒ නිසා. එතකොට ඒක තමන් නැණ නුවණින් මෙහෙයවල කර ගත යුත්තක්.

දුන් දේ මිස නුදුන් දේ නොලැබීම ධර්මතාවයක්. ඒ කාරණයත් හැම එකකටම සම්බන්ධයි. තමන්ගෙ වත්තෙ තියෙන ගස්වැල්වල එළදාවටත්, ළිඳේ තියෙන වතුර ටිකටත් ඒක බලපානවා. ඒකට තමයි අත්ගුණය කියන්නෙත්. හිමිකමක් නැත්නම් සමහර කෙනෙකුට මහ පොළොවෙ වතුර ටිකවත් ලැබෙන්නෙ නෑ. සමහර අය තමන්ගෙ වත්ත පිටියෙ කිසිම එළදාවක් නැතිව කාටහරි විකුණනවා. හැබැයි අලුතින් මිලදී ගන්න කෙනාට අර කලින් කෙනාට නැති එළදාවක් බොහොම සශ්‍රීකව ලැබෙනවා. ඒ වගේ කාරණා අදටත් අත්දකින්න පුළුවන්. කෙනෙකුට හිටි ගමන් එළදාව නැති වෙනවා. සමහර විට ගස්කොළන් විනාස වෙලා යනවා. වතුර හිඳිල යනවා. ඒ තමයි මේ ධර්මතාවයේ හැටි. නුදුන් දේ කියන්නෙ අසාධාරණයක්. ලෝකයේ යමෙක් හැදෙන්නෙ තනියෙන් නෙවෙයි. කෙනෙක්ගෙ පුංචි කාලෙ ඉඳල වැඩිමහළු වෙලා අන්තිමට මැරෙනකල්ම අන්‍යොන්‍ය ආධාර උපකාර මත තමයි ජීවත් වෙන්නෙ. ඒව ආධාරයෙන් තමයි කෙනෙක් හැදෙන්නෙ වැඩෙන්නෙ. එතකොට එහෙම හැදිච්ච වැඩිච්ච කෙනෙක් පොදුවේ යමක් ලෝකයට නොදුන්නොත් ඒක අසාධාරණයක්. තමන්ට ලැබුණ වගේම තමනුත් ලෝකයට යමක් දෙන්න ඕන. මේ විදිහට නොදුන්නොත් ලෝකයට ණය වෙනවා.

උදාහරණ විදිහට පුංචි ළමයෙකුට සීත උෂ්ණ මැසි මදුරු පීඩාවලින් ආරක්ෂා කරන්න දෙමව්පියන් ඇඳුමක් අන්දවනවා. එතකොට ඒ ඇඳුම නිෂ්පාදනය කරල ගෙනත් ඒ ළමයට අන්දවන්න කී දෙනෙක් නම් සම්බන්ධ වුණාද? කවුරු හරි ඒ කපු වවල සකස් කරපු කෙනෙක්, නූල් කටින කෙනෙක් හිටිය නම් ඒ සියළු දෙනාමත් ඒකට සම්බන්ධයි. ඒ ළමය උස් මහත් කරන්න පෝෂණය කරන්න කිරි ටිකක් දෙන්න හරකෙක් හිටිය නම්, ඒ සතාට කන්න බොන්න දුන්නු සාත්තු සප්පායම් කරපු අය පවා ඒ ළමයගෙ පෝෂණයට සම්බන්ධයි. ඔය වගේ බැලුවම හැම තැනම තියෙන්නෙ අන්‍යොන්‍ය සම්බන්ධතා. ඒ සියලු දෙනාම සම්බන්ධ වෙලා තමයි ඒ ළමය ඇඳුමක් ඇන්දෙ, කිරි ටිකක් බීල පෝෂණය වුණේ. එහෙම නැතුව අම්ම තාත්ත ඒ දරුවට සැළකුවා කිව්වට, අම්ම තාත්තට වුණත් අර කියපු අන්‍යොන්‍ය සහයෝගය නැතිව තනියෙන් ඒ දේ කරන්න පුළුවන්කමක් නෑ. අම්ම තාත්ත මූලික වෙච්ච එක වෙනම කාරණයක්. නමුත් තවත් සැහෙන්න පිරිස් ඒ වටා ඉන්නවා. ඔය විදිහට කෙළවරක් නැතිව බලාගෙන ගියාම, කියන්න බැරි තරම් පිරිසක් අන්‍යොන්‍ය වශයෙන් සහසම්බන්ධ වෙලා ඉන්නවා. මේ ජීවත් වෙන හැම කෙනෙකුටම එහෙමයි. එතකොට ඔය සම්බන්ධයට ☞

පොදුවේ සාධාරණයක් කළේ නැත්නම් ඒකෙ විපාකය තමන්ටත් කවද හරි ලැබෙනවා. ඒකයි නුදුන් දේ කියන්නෙ. එහෙම නැතුව නිකම්ම නුදුන් දේ නෙවෙයි. දිය යුතු වුණත් නොදී හිටියොත් තමන්ගෙ යුතුකම් පැහැර හැරිය වෙනවා.

මේ වගේ කවුරු වුණත් ලෝකයට දිය යුත්තක් තියෙනවා. පැවිදි වුණා නම් මෙත් වැඩීමෙන් හරි ඒක ලෝකයාට දිය යුතුයි. නැත්නම් ණයකාරයෙක් වෙනවා. ඒ නිසා ලෝකයට දෙන කොටත් එක එක්කෙනාට විවිධ ක්‍රම තියෙනවා. ඒ ක්‍රමයකට දිය යුතුයි. ඉතින් මේ විදිහට බලන කොට මුළු ලෝකෙම තියෙන්නෙ සසර ගනුදෙනු තමයි. ඒ නිසා කෙනෙක් තනියෙන් ගොවිතැන් බත් කරල, මම ඔය එකෙක්ගෙන්වත් උදව් ගත්තෙ නෑ, කවුරුවත් මට කරල දුන්නෙ නෑ, මම තනියෙන් කරල මමම හදා ගත්තු, ඒ නිසා මම එකෙකුටවත් සලකන්නෙ නෑ කියල කිව්වොත් ඒක මහ සාපයක් වෙන කතාවක්. ඒක අවිද්‍යාවෙන් වැහිල කරන මෝඩ කතාවක්. මේ විදිහට අපිට උදව් උපකාර ලැබෙන අපි නොහිතන පැති තියෙනවා.

කෙනෙක් කියන්න පුළුවන්, අපි කම්කරුවන්ගෙන් වැඩ ගත්තෙ ඒ අයට වැටුප් ගෙවල, ඒ නිසා අපි කාටවත් දෙන්න ඕන නෑ කියල. නමුත් එහෙම කියල බේරෙන්න බෑ. කම්කරුවන්ගෙ සම්බන්ධයත් ඒ කතාවට වඩා හුඟක් එහා ගිය එකක්. මොකද ඒ අයට වුණත් ගෙවන්නෙ සොච්චමයි. බලාපොරොත්තු වෙච්ච ගාන ගෙවන්නෙ නෑ. අනික ඒ අයට ගෙව්වට වඩා වැඩි දෙයක් ඒ අයගෙ න් සිද්ධ වෙනවා. ඒක කාටවත් නෑ කියන්න බෑ. ඒ නිසා පොදුවේ හැමෝම ලෝකයට යමක් දිය යුතුයි. නැත්නම් නුදුන් දේ ගත්ත වෙනවා. තමන්ට දුන්න දේට ප්‍රතිචාර නොදක්වුව වෙනවා. නුදුන් දේ ගැන්මෙන් වෙන්ව, නුදුන් දේ ගැන්ම අතහැර, දුන් දේම ගන්නේ, දෙන දෙයක්ම බලාපොරොත්තුවෙන් වාසය කරමි කියන අදින්නාදානා වේරමණී සික්ඛා පදයෙන් කියවෙන්නෙත් ඒ වගේ දෙයක්. රහතන් වහන්සේ තමයි 100% ක්ම ඊට අනුකූලව ඉන්නෙ. ඉතින් යමක් දෙනව කියන කාරණය අපි හරියට තේරුම් අරගෙන කරන්න ඕන.

තමන් තමන්ගෙ යුතුකම් ඉටු කරන්නෙ නැතිව තමන්ට විතරක් ගන්න බැලුවොත් කවද හරි ඒකෙන් තමන්ට පාඩුවක්මයි වෙන්නෙ. ඒ හැම එකක්ම විශ්ව ධර්මතාවයෙන් ඒ පුද්ගලයට විරුද්ධවමයි ක්‍රියාත්මක වෙන්නෙ. ඒ නිසා ඒ වගේ පුද්ගලයෙක්ගෙ දේපළ වුණත් යා දෙන්නෙ නෑ, හරියට ඵලදාව දෙන්නෙ නෑ. ගහකොල වුණත් විනාශ වෙන්න බලනවා. ගහකොළකින් ඵලදාවක් එන්නත් කර්ම ශක්තිය බලපානවා. යුතුකම් පැහැර හරින කොට ප්‍රයෝග විපත්තිය තමයි එන්නෙ. ඒකෙන් ගති විපත්තිය, කාල විපත්තිය ඇවිත් අන්තිමට උපධි විපත්තිය එනවා. ඒ කියන්නෙ ඵලදාව ගත්තම නිසරුයි, අඩුයි. ඒ තමයි විපාකය. ඉතින් ඒවත් සසරෙදි පිරිසක් සමග එකතු වෙලා කළා නම් ඒ එකතු වෙච්ච පිරිසටම එකට විපාක විඳින්න සිද්ධ වෙනවා. තනියෙන් කරගත්තු ඒවා තනියෙන් විඳින්න වෙනවා. මහ නියගයක් ඇවිත් පිරිසකගෙ කුඹුරු යායක්ම විනාස වෙන්න පුළුවන්. කඳු කඩා වැටිල පවුල් පිටින් අවතැන් වෙන්න පුළුවන්. වසංගත හැදිල පරම්පරා පිටින් වැනසෙන්න පුළුවන්. එකතු වෙලා කරපු හැටියට ඒවත් ආපසු ලැබෙනවා. ඉතින් කර්ම විෂය අචින්ත්‍ය නිසා අපමණ සසරේ පටන් එන ඒවා කොච්චරද කියන්න අපි දන්නෙ නෑ. එකතු වෙලා කරගත්තු කර්මත් කෙළවරක් නෑ. ඒවාට එන විපාකත් ඒ වගේ.



එතකොට අපිට කාට හරි මොනව හරි දෙන්න හිතෙන්නෙ, උපකාරයක් කරන්න හිතෙන්නෙ ඇයි? සසර අනාදියේ පටන් මොකක් හරි අන්‍යොන්‍ය හෝ පෙර කර්මයක සම්බන්ධයක් හෝ නැත්නම් අපට එහෙම කරන්න හිතෙන්නෙ නෑ. හිංගි හිංසා, කරදර කරන්න වුනත් හිතෙන්නෙ එහෙම සසර ගනුදෙනුවක් නිසා. සතෙකුට යමක් කන්න දුන්නත් එහෙමයි. හිමිකමක් නැත්නම් සතාට වුනත් කාගෙන් හරි යමක් ලැබෙන්නෙ නෑ.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන් මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා කියන ලෞකික ගුණ ධර්ම බුදුන් වහන්සේ පහළ වෙන්න පෙරත් යෝගීන් අතර තිබ්ච්ච නිසා මේ කියන සියල්ලම සසර ගනුදෙනු වෙන්න පුළුවන්ද කියල. ඒ කියන්නෙ, ඔය සියල්ලම සසර ගනුදෙනු නම් මේ ලෞකික ගුණ ධර්ම නිසා කරන දෙයක් නැත්ද කියල ගැටළුවක් එන්න පුළුවන්. එතකොට ඒ කාරණයෙ වෙනසක් තියෙන්න ඕන. ඒ වෙනස තමයි, සසර ගනුදෙනුවක් නොවී එහෙම ලෞකික ගුණ ධර්මයක් නිසා යමක් කරනව නම්, සතුරු මිතුරු බේදයකින් තොරව පොදුවේ සියළු සත්ත්වයන් කෙරෙහිම ඒ දයානුකම්පාව නැගිල එන්න ඕන. ඒ ගුණය වෙනම තේරුම් ගන්න පුළුවන් දෙයක්. පොදුවේ තියෙන විශේෂය තමයි, තමන්ගෙ හිතේ හැමෝම කෙරෙහි අනුකම්පාව පිහිටා තිබීම. මගේ අය, අපේ අය, මම කැමති අය, මට කරදර කරන අය... ආදී වශයෙන් වෙන් කිරීමකින් තොරව සියලු සත්ත්වයන් කෙරෙහි මෛත්‍රී සහගතව කටයුතු කරනවා. ඒකෙන් හොයන්න පුළුවන් ඒක සසර ගනුදෙනුවක්ද, නැත්නම් අනුකම්පා සහගත, මෙත් සහගත සිතක් වැඩීමක්ද කියල. එහෙම අනුකම්පා සහගත මෙත් හිතක් නැති අයට තමයි අර කියන සසර ගනුදෙනුවක් නිසා සාමාන්‍යයෙන් කෙනෙකුට නොහිතෙන විදිහට අනුන්ට උදව් උපකාර කරන එහෙම අදහස් පහළ වෙන්නෙ.

සසර ගනුදෙනු නිසා සමහර අයට දෙන්න හිතෙන්නෙ නෑ. ණය වෙච්ච අයගෙන් ගන්න හිතෙනවා. සමහරක් අයට දෙන්න හිතෙනවා. මෙන්න මෙහෙම හේතු ඵල රටාවක් ක්‍රියාත්මක වෙනවා. දැන් අපිට ඒකෙ යම් යම් අවස්ථා දැකල, මොහු අන් අයට උදව් කරන හොඳ කෙනෙක්, නැත්නම් මොහු අන් අයට හිංගි හිංසා කරන නරක කෙනෙක් කියල ඒ ක්‍රියාවලිය තුලින් නිගමනය කරන්න බෑ. ඉතින් මේ වගේ අවස්ථාවලදී අපිට අවැඩ අසාධාරණ කරන අයට ගහල බැනල වැඩක් නැති බව වටහාගන්න ඕන. අපි අද මුකුත් වරදක් නොකෙරුවත්, සසරෙ කවදහරි කරපු වරදකට ලැබෙන විපාකයක් බව තේරුම් අරගෙන ඉවසීමෙන් කටයුතු කරන්න ඕන. එතකොට අපේ පැත්තෙන් ගනුදෙනුව අවසන් කරන්න අපිට පුළුවන්.

දැන් එතකොට මේ ලිපිය කියවන සමහර කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඔය කියන විදිහට සියල්ල කර්ම වේග අනුවනෙ සිද්ධ වෙන්නෙ, අපිට හිතල මතල මේවා වෙනස් කරගන්න අවස්ථාවක් නැනෙ, අපිට තියෙන්නෙ සිද්ධ වෙනකල් බලාගෙන ඉන්න විතරද කියල. එහෙම නැත්නම් අපි කර්ම ශක්තියේ වහල්ලු නේද කියල අදහසක් එන්න පුළුවන්. කර්ම, ධර්ම, ආරම්මන, විපාක කියල අපට කර්ම විපාක ගෙනත් දෙන ක්‍රමයක් තියෙනවා. අපි යම් කිසි කර්මයක් කරන කොට ඒක ශක්තියක් බවට පත් වෙලා ධර්ම වශයෙන් අපේ කර්ම භවයේ තැන්පත් වෙනවා. ඒ කියන්නෙ අනන්තරයේ තැන්පත් වෙනවා. යම් කිසි දවසක මේ භවයේ හෝ ඉදිරි භවයකදි හෝ විපාක ගෙනත් දෙන්න ඒ කර්ම ශක්තිය අනුව පරිසරය සකස් වෙනවා. ඒ කියන්නෙ සමනන්තරය සකස් වෙනවා. දැන් අනන්තර - සමනන්තර ප්‍රත්‍ය තුලින් අපේ මනසට ධර්ම ගට්ඨනය වීම තුළින් සහ පරිසරය සකස් වීම තුළින් අපට විපාක විදිහට අරමුණක් ආපසු එනවා.

මෙන්න මේ අවස්ථාවෙ තමයි අපි තීරණය කරන්නෙ, මොකක්ද අපි කරන්නෙ කියල. පෘතජ්ජනයෙක් නම් සාමාන්‍යයෙන් ඒ ආපු අදහස අනුවම ක්‍රියාත්මක වෙනවා. හිතල බලල හරි තීරණයක් ගන්න ඔහුට ප්‍රඥාවක් නෑ. පෘතජ්ජන බව නිසා තරහ එන කොට පලි ගන්නමයි හිතෙන්නෙ. සමහර විට යම් කිසි ලෞකික නුවණකින් කලාතුරකින් හොඳ තීරණයක් ගන්න ඉඩ තියෙනවා. හැබැයි යම් කිසි පුද්ගලයෙක් උත්තරීතර ධර්මාවබෝධය ලබපු දවසට මේ තත්වය ඉක්මවා යනවා. එතකොට කර්ම වේගවලට වහල් වෙලා තීරණ ගැනීමේ මානසිකත්වය දුරු වෙනවා. කර්ම වේග අභිබවා ප්‍රඥා මූලිකව තීරණ ගැනීමේ හැකියාව ලැබෙනවා. එදාට සසර හේතු නිසා අන් අයට හිංගි හිංසා කරන, ගහන බනින ගති ලක්ෂණ තිබුණ නම් ඒවා ක්‍රමයෙන් අඩු වෙලා ධර්මාවබෝධය තුලින් කටයුතු කරන්න පටන් ගන්නවා. මුලින්ම සතර අපාගත වන මට්ටමේ ඇලීම් ගැටීම්වලින් සහමුලින්ම වැළකිලා යනවා. ඒ නිසා හොඳින් වටහාගන්න ඕන, අපි පෙර කරන ලද කර්මවල වහල්ලු නොවන බව. මනසට විපාක විදිහට ධර්ම ගැටීම තුලින් අපට එන දුශ්චරිත අදහස් ඉක්මවා යාමේ හැකියාව අපට තියෙනවා.

ඒ වගේම මේ ලිපිය කියවල, අන් අයට හිංගි හිංසා කිරීම හොඳ දෙයක් කියල වරදවා වටහා නොගත යුතුයි. කොයි විදිහට කවුරු කළත් අන් අයට කරදර කිරීම හීන දහමක්, පහත් දහමක්, පවක්, දස අකුසලයට අයිති දෙයක්. මේ උත්සාහ කළේ ලෝකයේ සසර ගනුදෙනු කියල දෙයක් තියෙන බවත්, ඒවා පියවගන්න සකස් වෙන ක්‍රම වේදත් පෙන්වා දෙන්න. ඒ වගේම තමන්ට එන විපාක අනුව කටයුතු නොකර ඒවාට ප්‍රඥාවෙන් තීරණ ගැනීමේ හැකියාව අපිට තියෙන බව වටහා ගන්න ඕන. මේ විදිහට දැනුවත් වීම තුලින් අපිට අනුන්ගෙ ගනුදෙනුවලට මැදිහත් නොවී කටයුතු කිරීමේ හැකියාවත් ලැබෙනවා.

උදාහරණ විදිහට මුගලන් මහරහතන් වහන්සේගෙ කතා වස්තුව ගන්න පුළුවන්. උන් වහන්සේ පෙර අත්බවක බිරිඳගෙ කීමට තමන්ගෙ ඇස් අන්ධ අම්මයි තාත්තයි මහ කැළේකට අරන් ගිහින්, හොරු ඇවිත් පහර දෙන විදිහට ඇට කටු කුඩු වෙනකල් තලල මරල දැම්මා. පසුව එතැනින් ගිය තරුණ පිරිසක්, ඒ මරල දාල තියෙන අමානුෂික විදිහ දැකල, ඔය අපරාධය කරපු එකා අහු වුනොත් අපි ඒකවත් මේ විදිහටම ඇටකටු කුඩු කරල මරනව කියල දැඩි අදහසක් ගත්තා. ඒ අදහස ඒ අයගෙ කර්ම භවයේ තැන්පත් වුණා. එදා ඒ කරගත්ත ආනන්තරීය පාප කර්මයෙන් අවීචි මහා නරකාදියෙත් ගිහින් ඉපදිලා, ඒ විපාකයත් ගෙවල පාරමිතා පුරල තමයි මුගලන් මහරහතන් වහන්සේ ගෞතම බුදුන් වහන්සේගෙ වමත්සව් විදිහට රහත් ඵලයත් පූර්ණ කරල සෘද්ධිමතුන් අතර අග්‍රස්ථානයත් ලැබුවෙ. විශේෂයෙන්ම මුගලන් මහරහතන් වහන්සේගෙ සෘද්ධි ප්‍රාතිහාර්යන් නිසාත් බුද්ධ සාසනයට මහා පිරිස් ඇදෙන්න පටන් ගත්තා. ඒ අවස්ථාවෙදි අන්‍ය පරිබ්‍රාජකයින් පිරිසක් බුදුන් වහන්සේගෙ ශ්‍රාවකයින්ට ලැබෙන ලාභ සත්කාර හේතුවෙන් තමන්ට තැනක් නොලැබෙන නිසා මුගලන් මහරහතන් වහන්සේව මරන්න තීරණය කළා. ඒ පිරිස ඒ කටයුත්ත හොරු කණ්ඩායමකට බාර දුන්නා. ඒ කටයුත්ත බාර ගත් හොරු කණ්ඩායම තමයි පෙර අත්බවක මුගලන් හාමුදුරුවො අම්මවයි තාත්තවයි මරල දාපු විදිහ දැකල දැඩි තීරණයක් ගත්ත අර තරුණ පිරිස.

දැන් බලන්න මේක අහම්බෙන් වෙච්ච දෙයක් වගේ තමයි පේන්නෙ. කර්ම වේග අති සූක්ෂම විදිහට ක්‍රියාත්මක වෙන හැටි හරි පුදුම සහගතයි. ඒ තරුණයින්ට ඔවුන්ගෙ කර්ම භවයේ තිබ්ච්ච ඒ අදහස ඇදිල ඇවිත්, ඒ කටයුත්ත ඔවුන් බාර ගත්තා. ඊට පස්සෙ මුගලන් මහරහතන් වහන්සේට පහර දීල ඇටකටු කුඩු කරල එදා හිතපු විදිහටම මරල දැම්මා. හැබැයි ඔවුන්ට යම් ලෞකික ප්‍රඥාවක්වත් තිබුණ නම් රහතුන් වහන්සේ නමක් මරල දාන්න බාර ගනියිද? ඒක තමයි කලින් පැහැදිලි කළේ, පෘතජ්ජනයො තමන්ට එන අවස්ථාව, අදහස ඒ විදිහටම බාර අරගෙන ඒ අනුව කටයුතු කරන බව. අන්තිමට ඒ පිරිස රහතන් වහන්සේ නමක් මරල ආනන්තරීය පාප කර්මයක් කර ගත්තා. මුගලන් මහරහතන් වහන්සේටත් තමන් පෙර කරපු ආනන්තරීය පාප කර්මයේ ශේෂයක් පශ්චිම අත්බවේ ගෙවන්න තිබ්ච්ච නිසා සියල්ල හරියටම ගැළපුනා. පසුව කොසොල් රජතුමා මේ හොරු කණ්ඩායම අල්ලගෙන ඒ අයටත් දඬුවමක් නියම කළා. ඒ තමයි ඒ පිරිසව පොළොවෙ කරවටක් ගිල්වල අලින්ට නගුල් බැඳල ඒ අලි ඔවුන් මතින් යැවීම. මේ අවස්ථාවෙ බුදුන් වහන්සේ ඒ ස්ථානයට වැඩම කරල මේ අතීත සිද්ධිය දේශනා කරල, මේ හොරුන්ගෙ තීරණයට මුගලන් හාමුදුරුවන්ගෙ පෙර පාපය හේතු වෙච්ච හැටි පැහැදිලි කළා. ඒ දේශනාව අහපු කොසොල් රජතුමා පසුව ඒ දඬුවම ලිහිල් කළා. හැබැයි ඒ අය මරණින් මතු ඒකාන්තයෙන්ම නිරයට ගියා. මොකද ආනන්තරීය පාප කර්මයක් කරගත්තෙ.

ඒ වගේ අදත් රටේ තොටේ පුංචි ළමයි/කාන්තාවො දූෂණය කරල මරා දමපු සිද්ධි රූපවාහිනී නාලිකා ඇතුළු විවිධ ජනමාධ්‍යවලින් පෙන්වන කොට ඒ ළමයි/කාන්තාවන් කෙරෙහි රාගයෙනුත්, ඝාතකයින් කෙරෙහි ද්වේශයෙනුත් බැඳිල පැත්තක ඉන්න අය අනුන්ගෙ ගනුදෙනුවලට මැදිහත් වෙලා තමනුත් ගනුදෙනුවක් හදාග න්නවා. ඒ කියන්නෙ ඒ පැත්තක ඉන්න අය ඒ සිද්ධිය දිහා බලල, ඒ ඝාතකයින්ව කපල කොටල මරන්න ඕන කියන ඒ වගේ අදහස් ගන්නවා. ඒ වගේම ඒ සිද්ධියට මුහුණ දීපු අය කෙරෙහි අනේ පව් කියන හැඟීමක් ඇති කර ගන්නවා. කෙටියෙන් කියනව නම් මේ වගේ අවස්ථාවක් දැක්කම, අනේ කරපු අපරාධයක් කියල කියනවා. ඒ කිව්වෙ අපර අර්ධය හෙවත් පසු අර්ධය විදිහට ආපු ඵලය තමයි දක්කෙ. පෙර අර්ධය හෙවත්

පරාදය දක්කෙ නෑ. පෙර රාග, ද්වේශ, මෝහ තුළින් පරාදයක් කර ගත්ත නිසා තමයි අද අපරාධයකට මුහුණ දෙන්න සිද්ධ වුණේ. හේතුවට අනුකූලව ඵලය විදිහට ලැබෙන අපර අර්ධය හෙවත් අපරාධය ගැන හේතු ඵල සම්බන්ධය නොදකින සාමාන්‍ය ලෝකයා, ඒ වගේ මුලා අදහස් අරගෙන අළුතින් තමනුත් සසර ගනුදෙනු හදා ගන්නවා. ඒ නිසා ඒ වගේ අවස්ථාවලදි මුගලන් මහරහතන් වහන්සේ මරපු තරුණ පිරිසට වෙච්ච සිද්ධිය ආදර්ශයට අරගෙන ධර්මානුකූලව ක්‍රියා කළ යුතු ආකාරය මෙයින් තේරුම් ගන්න ඕන.

එහෙම නැතිව සර්ව සාධාරණ ලෝකයක් ගොඩනගන්න කවුරු හරි උත්සාහ කරනවනම් ඒක අවිද්‍යාවේ ලක්ෂණයක්. ඇත්තටම කිව්වොත් ලෝකය සර්ව සාධාරණ තැනක්. අපිට ඒක නොතේරෙන්නෙ, අපි දකින්නෙ ඵලය මිසක් හේතුව නොවන නිසා.

ඒ කියන්නෙ කෙනෙකුට පහර ගහල, අසාධාරණ කරල, හිංගි හිංසා කරල තමන්ට බේරෙන්න බෑ, නිදහසක් ලබන්න බෑ. තමනුත් එතකොට ණයකාරයෙක් වෙනවා. ඒකාන්තයෙන්ම ඒ ණය ගෙවල සමතුලිත වෙන්න සිද්ධ වෙනවා. කොහොම වුණත් අපරාධයක් කරන කෙනාට ධර්මතාවයෙන්ම දඬුවමක් හිමි වෙනවා. අපි ඒකට මැදිහත් වෙලා අහක යන ගනුදෙනුවලට පැටලිලා සසරෙදි තවත් අනාථ වෙන්න අවශ්‍ය නෑ. අරිහත් ඵලයට පත් වෙනකල්ම ඒවා පල දෙනවා. අරිහත්වයට පත් වෙලත් පල දෙන කොටසක් තියෙනවා. එතකොට අරිහත් ඵලයට පත් වුණාම අහෝසි වෙන කර්ම කොටසක් තිබුණත්, ඒකත් නිකම්ම අහෝසි වෙනව නෙවෙයි. අප්‍රමාණ ආර්ය මෙත් වැඩීම නිසයි ඒ කර්ම ගෙවිල අහෝසි වෙන්නෙ. ඒ කියන්නෙ ඒකට හරියන්න, ඒකට අවශ්‍ය කරන ශක්තිය උන් වහන්සේගෙන් නිකුත් වෙනවා. එතකොට කර්මය ගෙවෙනවා. යම්කිසි කරපු කර්මවල ශේෂ මාත්‍රයක් තියෙනව නම් ඒව තමයි ප්‍රවෘත්ති විපාක විදිහට ඇදිල එන්නෙ. අංගුලිමාල, මුගලන් මහරහතන් වහන්සේලාට ආවෙත් ඒ වගේ ශේෂ මාත්‍ර. ඒ හැර මතු පටිසන්ධියකට හේතු වෙන කර්ම අහෝසි වෙනවා. හැබැයි ඒවත් නිකම්ම අහෝසි වෙනව නෙවෙයි.

ඒ අහෝසි වෙන විවිධ ක්‍රම තියෙනවා. එකක් තමයි මෙත්තා සහගත සිතින් ශක්තිය පිට කිරීම. ඒකෙන් තමයි හුඟක් කර්ම ගෙවෙන්නෙ. කර්ම ගෙවන්නෙ නැතිව නිවන් මාර්ගයේ යන්නත් බෑ. ඒ වගේම කර්ම ගෙවෙනකල් නිවන් දකින්න හිටියොත් ඒක හරියන්නෙත් නෑ. ඒක කවදාවත් කෙරෙන්නෙ නැති දෙයක්. එතකොට කර්ම ගෙවන නියම ක්‍රමය තමයි මෙත්තා සහගත සිතකින් අප්‍රමාණ ලෝක සත්ත්වයින්ට මෙත් වැඩීම. ඒක තමයි ධර්මයේ පෙන්වා තියෙන්නෙ. එහෙම නැත්නම් විඳලම ගෙවන්න ඕන. නමුත් විඳල ගෙවන්න ගියොත් කවදාවත් ඉවර වෙන්නෙ නෑ. හැබැයි රහත් ඵලයට පත් වුණාම විඳින්න තියෙන බොහොමයක් කර්ම විපාක අහෝසි වෙනවා. මොකද කරපු බලවත් කර්ම තියාගෙන රහත්



වෙන්නත් බෑ, බාධා එනවා. එතකොට ඒවා ගෙවෙන්න ක්‍රමයක් තියෙන්නත් ඕන. නොගෙවා නිදහස් වෙන්නත් බෑ. ගෙවන ක්‍රමය තමයි මෙත්තා සහගත සිත. සතර බ්‍රහ්ම විහරණ වැඩූ අයට කාම ලෝකයේ කාමාවචර පාප කර්මයක් ඉතිරි වෙන්නෙ නෑ කියලත් ධර්මයේ පෙන්වා තියෙනවා. එතකොට කෙනෙක් කියන්න පුළුවන්, බුදුන් වහන්සේටත් කර්ම විපාක 12 ක් පල දුන්නා, මුගලන් මහරහතන් වහන්සේටත් පල දුන්නා... ඒ මොනවද කියල. මෙතැනදි කාමාවචර පාප කර්ම ඉතිරි වෙන්නෙ නෑ කියන්නෙ, උන් වහන්සේලාට අරිහත් ඵලයට බාධා පැමිණෙන යම්කිසි කර්ම කොටසක් තිබුණ නම් ඒ සියල්ල අහෝසි වෙනව කියන එක. අනෙක් ඒවා ශේෂ මාත්‍ර. ඒවා ප්‍රවෘත්ති විපාක වශයෙන් එන ඒවා. ඒවා අරිහත් ඵලයට බධා කරන ඒවා නෙවෙයි.

ඒ වගේම දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන් රජ්ජුමාලා කතාව... ආදී මේ සිද්ධි ගත්තම ඔය හැම එකක්ම පෙර සසර ගනුදෙනුවක් නම්, ඒ ගනුදෙනුවටත් පෙර තවත් ගනුදෙනුවක් තියෙන්න ඕන නේද, එහෙම වුණොත් කෙළවරක් නැතිව ඒ ගනුදෙනු ආපස්සට සම්බන්ධ වෙන්න ඕන නේද කියල. එහෙම සම්බන්ධ වෙන්නත් පුළුවන්. හැබැයි ඒක අචින්ත්‍ය වූ කර්ම විෂයට අයිති කාරණයක්. ඒක බුද්ධ විෂයක් මිසක් අනෙක් අයට සර්වාකාරයෙන් ගෝචර වෙන්නෙ නෑ. ඒ වගේම මේ සියළු දේ ඒ ආකාරයෙන්ම වෙනවත් නෙවෙයි. පෙර ආරම්භ කරපු සසර ගනුදෙනු තියෙනවා. ඒ වගේම අලුතින් හදාග න්න සසර ගනුදෙනුත් තියෙනවා. යම් ගනුදෙනුවක් ආරම්භ කර ගත්තොත් එතැන් පටන් චක්‍රයක් විදිහට ඉදිරියට යනවා. හැබැයි එහෙම ඉදිරියට යන්නෙත් ඒ ගැන බලාපොරොත්තු තියා ගත්තොත් තමයි.

උදාහරණයක් විදිහට කෙනෙක්, මට ගැහුවොත් මාත් ගහනව කියන අදහස ගත්තොත් ඒක තමයි ගැටළුව වෙන්නෙ. එහෙම නැතිව ගුටි කාපු කෙනා ඒක එතැනින් ඉවසල නිකං ඉන්නව නම් ගැටළුවක් නෑ. එහෙම කරන්නෙ නැතිව නඩු කිය කිය හරි පස්සෙන් පන්නනව නම්, ඒක දැකපු බාහිර කෙනෙක් හෝ ඕකට අපි පහර ගහනව කියල කියනව නම්, ඒ ඒ අය ඒ ගනුදෙනුව එතැන් පටන් ඉදිරියට ගෙනියනවා. එතකොට කොහොම හරි ගනුදෙනුවට පොටක් හැදෙනවා. එහෙම ඉදිරියට ගෙනියන්න කවුරුවත් බාර ගත්තෙ නැත්නම්, ස්වභාව ධර්මයම ක්‍රියාත්මක වෙලා ඒ ගනුදෙනුව කවද හරි සාධාරණ විදිහට අවසන් කරනවා. එතකොට කාටවත් ගැටළුවක් නෑ.

මේකට ගැළපෙන පැරණි කතාවක් තියෙනවා. එක්තරා පුද්ගලයෙක් එළුවෙක්ගෙ බෙල්ල කපල මරන්න හදන කොට, වෙලාවකට උඟ හිනා වෙනවා, වෙලාවකට අඬනවා. වෙලාවකට හිනා වෙන්නත්, වෙලාවකට අඬන්නත් හේතුව මොකක්ද කියල ඇහුවම එළුව මෙහෙම කිව්වලු. ඔබ වගේ මමත් මනුස්සයෙක් වෙලා ඉඳගෙන එළුවෙක්ගෙ බෙල්ල කැපුවා. ඒකෙ විපාකය විදිහට මමත් එළුවෙක් වෙලා ඒ එළුවගෙ රෝම ගණනට බෙලි කැපුම් කන්න සිද්ධ වුණා. මේ ඒ විදිහට බෙලි කැපුම් කන අන්තිම අත්බැව කියල පේනවා. ඒක මතක් වෙලා හිනා ගියා කිව්වා. ඒත් එක්කම මට උඹ මතක් වුණා. දැන් මෙච්චර කාලයක් මට වෙච්ච දේ උඹටත් සිද්ධ වෙන්නයි යන්නෙ. උඹත් මං වගේ කොච්චර කාලයක් බෙලි කැපුම් කන්නද

කියල මතක් වෙලා ඒකයි මම ඇඬුවෙ කිව්වා. ඒක අහල මේ පුද්ගලයා එළුව මරන්නෙ නැතිව, උඹට එහෙම දෙයක් වෙන්න මේ අත්බවේ මම ඉඩ දෙන්නෙ නෑ ඒක බොරු කරනව කියල, එළුවගෙ බෙල්ලට රැණක් දාල උගේ ආරක්ෂාවට ගොවිතැන් කරන තැනටත් අරගෙන ගිහින් නැවත ඇවිත් කාටවත් මුකුත් කරන්න බැරි වෙන්න කාමරයකට දාල ආරක්ෂා කරල ඒ අසළින්ම නිදා ගත්තා.

මේ විදිහට ටික දවසක් ගියා. දවසක් ගොවිපලට ගිහින් එළුවත් අරගෙන එනකොට වැස්සක් ආවා. විගහට ගෙදරට එනකොටම ළඟ තිබ්බ්ච ගලකට අකුණක් ගහල ගලේ පතුරක් ඇවිත් වැදිල එළුවගෙ බෙල්ල කැපිල මළා. එතකොට අර කියපු කතාව කොච්චර සත්‍යයක්ද කියල ඒ මනුස්සයට හිතුණා. එතකොට මනුස්සය එළුවගෙ බෙල්ල කපල පාපයක් කර ගත්තෙත් නෑ, සොබා දහමෙන්ම ක්‍රමයක් යෙදුණා. ඒ නිසා මනුස්සය එතැනින් ගනුදෙනුවක් හදා ගත්තෙත් නෑ. ඒ කර්මයට විපාක ලබා දීල සොබා දහමින්ම සාධාරණය ඉෂ්ට කළා. නමුත් මේ වගේ කර්ම වේග ක්‍රියාත්මක වෙනකොට ඒවාට මිනිස්සු ඇඟිලි ගහන්න ගිහින් තමයි අහක යන කුණු ගොඩවල් දාගන්නෙ. ඒත් මුල පටන්ම දෙව්දත් තෙර වගේ, මුගලන් මහරහතන් වහන්සේ මරපු තරුණ පිරිස වගේ, පළි ගන්නම දැඩි අධිෂ්ඨානයක් කරගෙනම හිටපු අයට ඒ වගේ දේවල්වලට ඇඟිලි ගහන්න එපා කියල කොච්චර කිව්වත් වැඩක් නෑ. ඒ අධිෂ්ඨානයේ දැඩි බව නිසා ඒ අයට ඉවසගෙන නිකං ඉන්න බෑ. ඒකට ඇඟිලි ගහන්නම හිතෙනවා. ඒ තමයි පෘතජ්ජන මනසෙ හැටි. පෘතජ්ජන මනස හරි දුර්වලයි. ඒ නිසා වහල් වෙනවා. මනස වහල් බවට පත් වීමෙන් මිදෙන්න බැරිව යනවා. නමුත් ධර්මාවබෝධය ලැබූ ආර්ය පුද්ගලයන් වහල් වෙන්නෙ නෑ. වහල් බවින් මිදෙනවා. ඒ නිසා ඒ අය ඒ වගේ දේවල් ඉවසගෙන ප්‍රඥාවෙන් කටයුතු කරනවා. එහෙම ඉවසල තමන්ගෙත් ඒ වගේ සසර ගනුදෙනු තියෙනව නම් ඒවා ඉදිරියට ගෙනියන්නෙ නෑ. එතකොට ඒවා අර වගේ ධර්මතාවයෙන්ම ක්‍රියාත්මක වෙලා ඒකට ක්‍රමයක් යෙදිල ඒ ගනුදෙනුව අවසන් කරනවා.

තමන් ප්‍රඥාවන්ත නම් මේ වගේ ගනුදෙනු නිසා එන විපාකවලින් තමන්ටම වළකින්න පුළුවන්. එතකොට ධර්මතාවයෙන්ම ක්‍රියාත්මක වෙලා ස්වභාවිකව හෝ වෙනත් කෙනෙක් මාර්ගයෙන් කර්ම විපාක එල දෙනව හැර ඒ ගනුදෙනුව එතැනින් එහාට දිගටම යැමක් නෑ. ඒ නිසා තමන් කරා බාහිර කෙනෙක්ගෙන් වේදනාවක් ආවොත් ඒකට ප්‍රතිචාර දක්වන්න යන්නෙ නැතිව ඉවසීමෙන් යුක්තව, ඒ කියන්නෙ බලාපොරොත්තු සහගතව ඒ පුද්ගලයට විනාසයක් නොකර ප්‍රයෝග සම්පත්තියෙන් උපක්‍රමශීලීව බේරෙන්න පුළුවන්. ගෞතම බුදුන් වහන්සේ ළඟට වසවර්ති මාරයා ඇතුළු මරඟනන් ආවෙත් උන් වහන්සේගෙ සසර තිබ්බ්ච කර්ම වේගයකට. ඒත් බදා ගන්න වේගයෙන්ම ඇවිත් නැවතත් පැනල යනවා. ඒ මාර සේනාව බෝ මැඩටම ඇවිත් යුද්ධ කළා. ඒකත් කර්ම වේගයක්. අන්තිමට මාර දූවරු තුන්දෙනා ගිනි ගත්තු ශරීර හා සමානව දිලිසෙන ශරීර මවාගෙන වේගයෙන් උන් වහන්සේගෙ උකුළට ආවා. එතකොට උන් වහන්සේ බලය ක්‍රියාත්මක කරල ඒ අය ආපසු ඒ ලෝකයටම විසි වෙන්න අධිෂ්ඨාන කළා. එතකොට ඒ වගේ ප්‍රයෝග සම්පත්තියකින් තමයි උන් වහන්සේ ඒ අවස්ථාවෙන් බේරුණේ. ඉතින් මේ කර්ම විෂය අචින්ත්‍ය නිසා මේක මේ ආකාරයි කියල අපිට හරියටම නිගමනය කරන්න බෑ. නමුත් මේ කියන හේතු උඩ ක්‍රමවේදය දකින්න පුළුවන්, මෙන්න මෙහෙමයි මේකෙන් බේරෙන්නෙ කියල.

ඒ වගේම අංගුලිමාල 999 දෙනෙක් මරල, තමන්ගෙ අම්මත් මරන්න යනකල්ම බුදුන් වහන්සේට අංගුලිමාලව දමනය කරන්න යොමු වුණේ නෑ. ඒකත් ඒ මැරුම් කාපු අයගෙ කර්ම වේගයක්, සසර ගනුදෙනුවක්. එහෙම නැත්නම් උන් වහන්සේට තිබුණා, මුලින්ම ඒ අයව මරන්න කලින්ම අංගුලිමාලව දමනය කරන්න. නමුත් ඒ අවස්ථාවෙදි උන් වහන්සේට ඒ කාරණය යොමු වුණේ නෑ. ඒ වගේම ශාක්‍ය කෝලිය යුද්දෙන් තමන්ගෙ ඥාතීන් විනාස වෙන්න යන කොට බුදුන් වහන්සේ මොන විදිහෙ උත්සාහයක් දැරුවත් ඒක නවත්වන්න බැරි වුණා. උන් වහන්සේ විශේෂයෙන්ම ඒ සඳහා උත්සාහ කරල තියෙනවා. ඒ විදිහට තුන් වතාවක්ම උත්සාහ කරල බැරිම තැන තමයි නිහඬ වුණේ. ඉතින් ඒ උත්සාහ කිරීමත් උන් වහන්සේගෙ කර්ම වේගයක් වෙන්න පුළුවන්. කර්ම විෂය අචින්ත්‍ය නිසා අපිට ඒක හරියටම නිගමනය කරන්න බෑ.

එතකොට මුගලන් මහරහතන් වහන්සේගෙ කතාව ගත්තත්, අර තරුණ හොරු කැළ උන් වහන්සේව නොමැරුව නම් ඒ කර්ම වේගය එල දෙන්න වෙනත් ක්‍රමයක් හරි එනවා. හැබැයි එතකොට කවුරුවත් ගනුදෙනු හදාගෙන චක්‍රයක් හැදෙන්නෙ නෑ. අර එළුවගෙ කතාව වගේ. වෛරයෙන් වෛරය නොසංසිඳේ කියන කාරණයත් මෙතැනින් ඔප්පු වෙනවා. ඒ වගේම මුගලන් හාමුදුරුවොයි ඒ තරුණ පිරිසයි අතර අන්‍යොන්‍ය සසර ගනුදෙනුවක් තිබිලත් නෑ. අර අම්මයි තාත්තයි මරල දාල තිබුණ අමානුෂික විදිහ දැකලයි ඒ තරුණ පිරිස ඒ වගේ අදහසක් ගත්තෙ. ඒ වගේ අදහසක් ගන්නත් ඒ තරම් කාලයක් අවශ්‍ය නෑ. ඇහි පිය ගහන මොහොතකුත් ඇති. සමහර විට කෙනෙකුට පිහියෙන් අනින්න ලොකු කෝන්තරයක් අවශ්‍ය නෑ. පුංචි වචනයක් වෙනස් වෙච්ච ගමන් තමන් දන්නෙත් නෑ පිහියෙන් ඇනල. තමන්ට මොකද වුණේ කියල තමන් දන්නෙත් නෑ. ඒකෙන් මුළු ජීවිත දෙකක්ම විනාසයි. ඇනපු කෙනා පස්සෙ කල්පනා කරනවා මොකද මේ මට වුණේ කියල. අන්තිමට බලන කොට සුළු දෙයකට ජීවිතයක් වනසල තමන්ටත් විසාල පාඩුවක් කරගෙන, පෙර ගනුදෙනුවක් පිරිමහන්න ගිහින් පවක් කර ගන්නවා. නමුත් ඒ අනින වෙලාවට එහෙම දෙයක් ගැන හිතන්නෙ නෑ. අර කර්ම වේගයෙන් ඒක වහනවා. ඒ වෙලාවට ප්‍රඥාවක් නෑ, අවිද්‍යාවෙන් හැම වෙලේම වහනවා. අන්ධෝ බාලෝ පෘතජ්ජනෝ කිව්වෙ ඒකයි. පෘතජ්ජනභාවය නිසාම අන්ධයි බාලයි. කොච්චර කිව්වත් වැටහෙන්නෙ නෑ.

ඒ නිසා සර්ව සාධාරණ ලෝකයක් ගොඩනගනව කියන කරන්න බැරි වැඩ කරන්න යන්නෙ නැතිව, ලෝකයේ අනිච්ච ස්වභාවය වටහගෙන කල්‍යාණ මිතුරු ඇසුරක් තුළින් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල ධර්මාවබෝධය ලබල මේ අනන්ත සසර දුකෙන් මිදෙන්න වහ වහා උත්සාහ කරන්න.

*පූජ්‍යපාද වතරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**

**අභයරතනාලංකාරය - 58**

# ගිහි ගෙදරදී වින්ද දුක් ගිනි... (III)



- වහරක අභයරතනාලංකාර හිමි

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක ඉඳෙද්දී විඳින්න සිද්ධ වෙච්ච දුක් ගිනි කන්දරාව අතරින් උන් වහන්සේ විසින් හෙළිදරව් කළ කිහිපයක් පමණයි මේ සටහන් කරන්නෙ. ඒ සියල්ලම සටහන් කිරීම ප්‍රායෝගිකව දුෂ්කර නිසාත්, අනවශ්‍ය නිසාත්, කිසිවෙකුටත් අගතියක් නොවෙන විදිහට, කෙනෙකුට මේ ජීවිතයේ තියෙන දුක් ගිනි ස්වභාවය පිළිබඳව යම් අවබෝධයක් ගන්න පුළුවන් කියල හිතෙන කරුණු කාරණා කිහිපයක් විතරක් මේ විදිහට සටහන් කරනවා. පසුගිය කලාපවලින් හෙළිදරව් කළ උන් වහන්සේගේ ජීවිතයේ මුහුණ දුන් දුක් ගිනිවල තවත් කොටසක් උන් වහන්සේ මේ විදිහට හෙළිදරව් කළා.

විශේෂයෙන් විවාහයෙන් පස්සෙ කෙලවරක් නැති ප්‍රශ්නවලට මම කොටු වුනා. මම පුළුවන් තරම් සමගියෙන් සමාදානයෙන් ඉන්නව කියල හිතාගෙන පවුලෙ සියළු බර කරට ගත්තා. වත්තෙන් ගන්න මොනවහරි ආදායමක් තිබුන නම්, ඒ හැම දෙයක්ම අම්මට ගන්න ඉඩ දුන්නා. ඒක කවුරුවත් ගන්න එපා, අම්මගෙ පාඩුවේ ඕන දෙයක් කර ගන්න පින් දහම් කර ගන්න ඉඩ දෙන්න, මම කන්න බොන්න දෙන්නම්, මට සමගියෙන් ඉන්න විතරක් ඉඩ හදල දෙන්න ඒ ඇති කියලයි මම ගෙදර සියළු දෙනාගෙන්ම ඉල්ලා හිටියෙ. නමුත් ඒකමයි මට කරන්න බැරි වුනෙත්. සමගිය සමාදානය කියන එක කවදාවත් ලැබුනෙ නෑ. පවුලෙ ඔක්කොම අඬාගත්ත ගමන්මයි හිටියෙ. එක් එක්කෙනා අඳෝනා කියනවා. අරයට සලකනවා, මෙයාට සලකන්නෙ නෑ... ඔය වගේ දේවල් තමයි අහන්න ලැබුනෙ. මම ඒකෙන් සෑහෙන දුක් වින්දා. මුළු ජීවිතය සම්පූර්ණයෙන්ම කළකිරිල ගියා. මේ මොනතරම් ගිනි ගොඩක්ද කියල විවාහ ජීවිතයත් අන්තිමටම එපා වුනා. ඒ ආපු දුක් කරදර නතර වුනේ නෑ. කාලයත් සමග ඒ ගින්න විවිධ ක්‍රමවලින් එන්න පටන් ගත්තා.

ඉතින් අන්තිමට සියල්ල අවුල් වෙන්න පටන් ගත්තා. මම ඔක්කොම අතට ගන්න යන්නෙ, තණ්හාකාරයා... ආදී වශයෙන් පවුලෙ අනික් අය මා ගැන ඔය වගේ අදහස් දෙන්න පටන් ගත්තා. අන්තිමට මම ආදායමක් ගන්න ඒවටත් අම්මා විරුද්ධ වුනා. අම්ම වචනයක් කිව්වොත් ඒක එහෙම්ම සාප වුනා වගේ. හැමදාමත් මොනවහරි කියනවා. මොකට මහන්සි වෙනවද? මොකට දඟලනවද? ඔය වේලක් ඇර වේලක් කෑවම මදැයි මොකට ඔච්චර නහින්න හදනවද?... අම්ම ඔහොම කතා කියනවා. මම අතිකාල කරල ආවත් ඔය වගේ කතා තමයි කියන්නෙ. කිසි කෙනෙක් කියන්නෙ නැති මහ පුදුමාකාර කතා. ඉතින් මේ වගේ ප්‍රශ්න උඩ මුල් කාලෙ ඉඳන්ම මහණ වෙන්න තිබ්බ්ච අදහස තවත් ඔප් නැංවුනා.

ඔය අතර ගෙදර කරදර තවත් වැඩි වුනා. මම කල්පනා කළා විවාහය අත්හැරල පැවිදි වෙන්න. ඒ 1978 වසරෙ. එතකොට මගේ වයස අවුරුදු 28 යි. ඉතින් නැන්දම්මත් (බිරිඳගෙ අම්මා) කිව්වා, පුතේ ඔය කරදර ගොඩේ උඹට ඉන්න බෑ පුතා පැවිදි වෙනවනම් පැවිදි වෙන්න, අපි දුවව බලා ගන්නම්, මේ සසර කෙටි කර ගන්න එක කොච්චර වාසනාවක්ද කියල. ඉතින් ඒ වෙලාවෙ මටත් හරි සන්තෝසයක් දැනුණා. හැබැයි මහණ වෙන්න අවසර දුන්නෙ එක පොරොන්දුවක් පිට. මේ වෙලාවෙ තමන්ට දාව දරුවෙක් බඩේ හිටියෙ නැත්නම් ඒ පොරොන්දුව ස්ථිරයි කිව්වා. හැබැයි ඒ වෙනකොටත් දරුවෙක් බඩට ඇවිත්ද නැත්ද කියන්න හරියටම මම දන්නෙත් නෑ. දරුවෙක් බඩට ඇවිත් හිටිය නිසා වෙන්න ඇති, ඒ වෙනකොට ඇයට වමනෙයි කලන්ත කැරකිලි ගතියයි එන්න පටන්ගෙන තිබුනා. හැබැයි එතකොට අපේ අම්ම කියන්නෙ මේ හැමදාම ඉවරයක් නැති ලෙඩෙක් කියල. මේ රණ්ඩුව නිසා අපේ මහගෙදර ඉන්න බැරිව මම ඇයගෙ මහ ගෙදර ඇයත් එක්කම ගියා. අන්තිමට බලනකොට දරුවෙක් බඩට ඇවිත් කියල දැනගත්තා. ඒ තමයි විවාහයේ පළවෙනි දරුවා, දුව. දැන් ඉතින් මහණ වෙන්න අවසර දෙන පොරොන්දුව ඉෂ්ට කරන්න බෑ කියල කිව්වා. ඉතින් මහණ වෙන අදහස එතැනින්ම නතර වුනා. ඒ එක අවස්ථාවක්. ඒත් කරදරවල ඉවරයක් තිබුණෙ නෑ.

ඒ පාර පළවෙනි දරුව ලැබිල කාලයක් ගියාට පස්සෙ දෙවෙනි වතාවටත් නැන්දම්ම කිව්වා, දරුව හිටියත් කමක් නෑ අපි බලාගන්නම් පුතා ගිහින් පැවිදි වෙන්න කියල. කරුමෙක හැටි කියන්නෙ ඒ වෙනකොට දෙවෙනි දරුවත් බඩට ඇවිත්. අර කරදරකාරී තත්වය නැවතත් ඇති වුනා. ගිනි ගෙඩිමයි එන්න ගත්තෙ. දැන් ඉතින් මොනව කරන්නද? දෙවෙනි වතාවටත් ඒ අදහස එහෙම්ම අත් හැරියා. අන්තිමට මම තීරණයක් ගත්තා, මේ දරුවො ☞

ඉගෙනගෙන රැකී රස්සා කරන්න විවාහ වෙන්න පුළුවන් මට්ටමට ආපු දවසට ගිහි ගෙදරත් එක්ක තියෙන මගේ බැඳීම ඉවරයි, මාව නැවතත් අල්ලන්න බෑ, ඔච්චරයි දරුවො කියල. දැන් ඉතින් කරන්න දෙයක් නෑ. එතකල් කාලයට ඉඩ දීල බලාගෙන හිටියා.

විවාහ වුනාට පස්සෙ මම හම්බකරපු මුදල් සියල්ල බිරිඳට තමයි ගෙනත් දුන්නෙ. කොහොමත් එදා ඉඳන්ම මම අතේ සතයක්වත් තියාගත්තෙ නෑ. මට ලාච්චු, අල්මාරි, පෙට්ටගම් ආදිය මුකුත් තිබුණෙ නෑ. එකම ලාච්චුවයි සියල්ලටම තිබුණෙ. ඒකත් බිරිඳගෙ අල්මාරියේ තිබිච්ච ලාච්චුවක්. මගේ මොනව හරි තිබුණ නම් ඒවත් ඒකෙ තමයි දැම්මෙ. මගේ ඇඳුම් ටික පවා ඒ අය රැකල දුන්න මිසක් වෙනම අමතර කියල දෙයක් මම තියාගත්තෙ නෑ. මුල් කාලෙ ඉඳන්ම එහෙමයි. නමුත් ගෙදර අනික් අය නම් ලාච්චු අල්මාරි තියාගෙන ඒවායේ ඉබි යතුරුත් දාගෙන තමයි හිටියෙ.අම්මට වත්තෙ පිටියෙ සියළු ආදායම ගන්න දුන්නා. කන්න බොන්න අඳින්න සියල්ලමත් සපයල දුන්නා. හැබැයි ඒ මොනව කළත් වැඩක් නෑ තනිකරම ගින්දර. ඔක්කොම එක වගේ. විවාහ වෙලා කෙටි කාලයකින් විවාහ ජීවිතයත් එපා වුනා. මහ ගින්දරක්. සමහර දවස්වලට ඒ ගින්දරින් බේරෙන්න මම බෝඩිමේ ඉඳන් වැඩට ගියා. දවස් කිහිපයකට හරි විවාහ ජීවිතයෙන් අහක් වෙලා හුදෙකලාව ඉන්න එක මට ලොකු සැනසිල්ලක්. නමුත් වැඩි දවසක් ඉන්න ලැබෙන්නෙ නෑ. ගෙදර අය ගහමරා ගන්නවා. දෙන්න තුන්දෙනා එකතු වෙලා රණ්ඩු වෙනවා. කිසිම සාධාරණ හේතුවකුත් නෑ. එක්කෙනෙකුට එක්කෙනෙක් අඩුපාඩු කියනවා. ඉවරයක් නැති අඬෝනා. අම්මට මෙහෙම දොස් කිව්ව කියනවා, වහ දෙනව කිව්ව කියනවා. ඔය වගේ කතා කියල අවුස්සන කොට අම්මත් ගෙදර උයන කෑම ගන්නෙ නැතිව තරහ වෙලා දාල යන්න යනවා. ඕකි ඉන්න කල් උයන්නෙත් නෑ කන්නෙත් නෑ කියනවා. නැන්දම්මගෙයි ලේලිගෙයි හබය ඉවරයක් නෑ. ඉතින් ඕකිව ගෙදරින් පන්නහන් කියල අම්ම මට කියනවා. මම ඉතින් කොහේ පන්නන්නද? මොන හේතුවක් උඩ පන්නන්නද? හිටියොත් අම්මට වහ දෙයිලු. අස්ථාන සැකය. ඔය වගේ මහ පුදුම කතා තමයි කියන්නෙ. ගෙදර අනිත් අයත් ඒකටම තමයි උදව් දෙන්නෙ. අම්මට මෙහෙම කිව්ව කියල අවුලනවා. ගෙදර මෙහෙම දෙයක් කතා වුනා, මම එහා පැත්තෙ ඉඳන් අහගෙන හිටියෙ... ඔය වගේ ගිනි ගෙඩිමයි දෙන්නෙ.

දවසක් අම්ම පෝය දවසට කලින් දවසෙ පොඩි පුතාවත් වඩාගෙන ඉඹල බොහොම සන්තෝසෙන් සමගියෙන් සමාදානයෙන් උදේ සිල් සමාදන් වෙන්න ගියා. මේ සමගිය සමාදානය ඉවසන්න බැරි ළඟම ඥාතියෙක් මොකද කළේ, අම්ම සිල් ගන්න එනකල් බලාගෙන ඉඳල උදේ පාන්දරම අම්මත් එක්ක අපේ බිරිඳ ගැන අභූත චෝදනාවක් කළා. ඉතින් අම්ම පහුවදා උදේ පන්සල් ඉඳන් ඇවිත් බුම්මගෙන කිසිම කතා බහක් නැතිව ආපු ගමන් තනියෙන් හාල් ළිපේ තිව්වා. මේක දැන ගත්ත අපේ බිරිඳ අඬෝනා තියන්න ගත්තා. මට මෙහෙම ඉන්න බෑ, මේක මහ කරදරයක්, හේතුවක් ඇතිව තරහ වෙනව නම් තරහ වෙන්න, තනියෙන් උයාගෙන කන්න මොකක්ද හේතුව, මෙහෙම විරසක වෙලා ඉන්න පුළුවන්ද? ඔයත් වැඩට ගියාම මම දරුවත් එක්ක තනි වෙනවා, ඒ අය ඔක්කොම එක පැත්තක්. මම මොකද කරන්නෙ?... මෙහෙම කෑගහනකොට ඉතින් මටත් කරන්න දෙයක් නෑ. ගෙදර ඔක්කොම ඉඳෙද්දි ඒ ගැන අහන්නත් බෑ. මම කිව්වා එහෙනම් ඉතින් බත් ටික බෙදාගෙන කාල යන්න ලෑස්ති වෙමු, අම්ම කන්නෙ නැත්නම් තනියෙන් උයාගෙන කාපුවාවෙ කියල. ඊට පස්සෙ අපි බත් බෙදාගෙන කාල පුතාටත් බත් කවල ඉතුරු වෙච්ච ඉඳුල් ටිකත් හෝදල දාල යන්න ගියා.
ඊළඟ දවසෙ මම ඇවිත් ගෙදර කවුරුවත් නැති නිසා අම්මගෙන් ඇහුවා මොකක්ද මේ තරහ වෙන්න හේතුව, මට රස්සාවට යන්නත් නෑ මම හරි අමාරුවක වැටුණෙ කියල. මොකද එහෙම තරහ වෙන්න මොනව හරි වචනයක් කියවෙන්න එපැයි. එතකොට අම්මත් කියනවා, ඒක තමයි පුතේ මාත් මේ බැලුවෙ, අර උඹල බත් කාල ළමයටත් කවල ගියාට පස්සෙ තමයි මට ඒක හිතුණෙ කියල. ඊට පස්සෙ අම්ම, අර පහළ අක්ක මාත් එක්ක මෙන්න මෙහෙම කතාවක් කිව්ව කියලා වෙච්ච සිද්ධිය කිව්වා. කෑට ගැහිච්ච බල්ලෙක් බත් මුට්ටියට හොම්බ දාල කාල ගියාලු, එතකොට උඹල බල්ලට ගහල පැන්නුවලු. ඒ වගක් අම්මට කියන්න එපා කියල, ඔහොමම බත් මුට්ටිය කූරු ගාල තියන්න කියල උඹේ නෝන කිව්වලු. ඒකයි පුතේ මමත් විස්වාස කළේ. අම්ම මෙහෙම කිව්වට පස්සෙ, මම ඇහුව ඉතින් ඕක විස්වාස කරන්න පුළුවන්ද කියල. ඉතින් පුතේ උඹලත් කෑවම මමත් කල්පනා කළා එහෙම දෙයක් වුණා නම් උඹලත් කාල ළමයටත් කවයිද කියල, එහෙම නම් ඒක අහකට දාල යනවනේ, මේක ඇත්තක් වෙන්න බෑනෙ... අනේ පුතේ ඒ ළමයව එක්කගෙන වරෙන්... මම මීට පස්සෙ ඔය වගේ දේවල් විස්වාස කරන්නෙ නෑ කිව්වා.

දැන් මොකද වෙලා තියෙන්නෙ, අර ඥාතියා අපේ අම්මයි බිරිඳයි කොටවන්න, බිරිඳ කියපු විදිහට අර වගේ අභූත චෝදනාවක් ගොතල කියල තියෙන්නෙ. ඒ කියන්නෙ බල්ලෙක් බත් මුට්ටිය කෑව නම් සාමාන්‍යයෙන් අපි ඒක මනුස්සයෙකුට කන්න දෙන්නෙ නෑ විසි කරනව මිසක්. ඒත් බිරිඳගෙ ගතිවල හැටි මෙහෙමයි කියල පෙන්වන්න, බල්ල කෑවත් කමක් නෑ සද්ද නැතිව අම්මට කන්න දීපං කියල බිරිඳ කිව්ව විදිහට තමයි අර වගේ කතාවක් ගොතල අම්මත් එක්ක කියල තියෙන්නෙ. කවුරුවත් කරන්නෙ නැති මහ නීච වැඩ. නමුත් අපිව නීච කරවන්න තමයි අර වගේ කතාවක් ගොතල කිව්වෙ. එතකොට අම්මත් ඉතින්, මුන් පුදුම ජාතියෙ එවුන්නෙ කියල ඒක විස්වාස කළා.

දැන් ඉතින් බිරිඳ නැවතත් ගෙදර එක්කගෙන ආවට පස්සෙ අම්ම අර ඥාතියත් එක්ක තරහයි. හැබැයි බිරිඳත් එක්ක බොහොම හොඳයි. ඕක රුස්සන්නෙ නැතිව නැවතත් අර ඥාතියා මොකද කළේ, කොහොමහරි බිරිඳ හිතවත් කරගෙන ඇයත් එක්ක අම්මගෙ දොස් කියන්න පටන් ගත්තා. අනේ නංගියේ අම්මගෙ හැටි මම දන්නෙ නැද්ද, අම්මගෙ හැටි මෙහෙමයි කියල කියන්න පටන් ගත්තම ඇයත් මඬේ හිටවපු ඉන්නක්

වගේ තමන්ට හිතවත් පැත්තට නැමෙනවා. ඒව විස්වාස කරනවා. අම්මත් ඉතින් නිකං ඉන්නෙ නෑ මොනව හරි කියවනවා. ඔහොම කාලයක් ඉඳල නැවතත් බිරිඳ අම්ම එක්ක හිතවත් වෙලා අර ඥාතියාට දොස් කියනවා. ඕක තමයි මාරුවෙන් මාරුවට සිද්ධ වුණේ. මොන විදිහකින්වත් සමගියෙන් ජීවත් වෙලා කටයුතු කරන්න බැරි වුණා.

අන්තිමට ඔක්කොම අය විවාහ වෙලා එක ගෙදර ඉන්න කොට තමයි ප්‍රශ්න ටිකෙන් ටික වැඩි වුනේ. අම්මත් උදේ ඉඳන් රෑ වෙනකල් අඳෝනා නගන්න ගත්තා, මම කීයක් හරි ගත්ත ඒකත් ඉවරයි අනේ මට වෙච්ච දෙයක් කියල. ඔය අතර නංගිලාගෙ වැඩ බලාගන්න හිටිය ගැහැණු ළමයෙක්, මම නංගිලාට දොස් කිව්ව කියල කේලමක් ඒ අයත් එක්ක කියල තිබුණා. ඒ ළමයගෙ කියමන අහල ඒ අය ඒක විස්වාස කරල මාත් එක්ක ජන්ම වෛර බැඳ ගත්තා. මම මොනව කිව්වත් ඒ අය ඒක විස්වාස කළේ නෑ. ඒ වෛරය දිගටම තිබුණා. පස්සෙ ඒ අය කටුමැටි ගහල වෙනම ගෙයක් හදාගෙන පදිංචියට යන කොට මම ඒකටත් මුදල්වලින් ආධාර කළා. තවත් අඩුපාඩුකම් ටිකක් තිබිල ඒ වැඩකටයුතු ටික කරගන්නත් මුදල් දුන්නා. ඒ මොනව කළත් ඒ අයගෙ වෛරය සංසිඳුනෙ නෑ.

ඔය අතර නංගිත් රස්සාවට යන්න ලෑස්ති වෙලා සල්ලි නැතිව හිටපු කාලයක් තිබුණා. මොකද ඉතින් රස්සාවකට යන්න ගියාම බෝඩිම් ගාස්තු, ඇඳුම් පැළඳුම්, කන්න බොන්න... ආදියට මාස දෙකකටවත් සෑහෙන්න අතේ කීයක් හරි තියෙන්න ඕන. ඒ කාලෙ හැටියට රුපියල් 250 ක් ඒ සඳහා අවශ්‍යයි. ඒ වෙනකොට තාත්තත් හිටියා. ඔය අතර අපේ වත්තෙ ටිකක් මෝරපු පළල කොස් ගහක් තිබුණා. තාත්ත කිව්ව ඒ කොස් ගහ කපල විකුණල සල්ලි අරගෙන ඒ කටයුතු ටික කරගන්න නංගිට රුපියල් 250 ක් දෙන්න කියල. මම කිව්වා වත්තටම වටින ගහකට තියෙන්නෙ ඔය කොස් ගහ විතරයි, ඕක විකුණන්න එපා මට දෙන්න, මම ඒ වෙනුවට මගේ ගානෙ රුපියල් 250 ක් දෙන්නම් කියල. ඒ පාර ඒකට කැමති වෙලා මගේ පොතේ තිබ්ච්ච රුපියල් තුන්සිය ගණනකින් රුපියල් 250 ක් දුන්නා. හැබැයි මම සියලු දෙනාම ඉදිරියේ ප්‍රසිද්ධියේම කිව්වා, ආයෙත් කවුරුවත් කොස් ගහට අයිතිවාසිකම් කියන්න එපා, කපන්නත් එපා මම ඒක අරගෙන



තියෙන්නෙ කියල.

ඔහොම කාලයක් ගියාට පස්සෙ මම දවසක් සෙනසුනකට ගියාම ඒකෙ භාවනා කුටි වගයක් හදනවා. ඒ ප්‍රධාන කුටියට දිග යට ලීයක් අවශ්‍ය වෙලා තිබුණා. මේකට මෙච්චර ප්‍රමාණයේ කොස් ලී තිබුණ නම් හොඳයි කියල ඒ අය කියන කොට, මට හිතුණා අර කොස් ගහ දෙන්න. මොකද ඒ වෙද්දි ඒක මගෙන් කවුරුවත් ඉල්ලල තිබුණෙත් නෑ, කාටවත් දෙන්න බලාපොරොත්තු වෙලා තිබුණෙත් නෑ. ඉතින් මම කිව්වා, හැබැයි මා ළඟ ගහ කපන්න සල්ලි නෑ ඒක කරගන්න පුළුවන් නම් මම කොස් ගහ දෙන්නම් කියල. පස්සෙ ඒ අයම වියදම් කරල කොස් ගහ කපල ඉරල අරගෙන ලී ටික පන්සලට ගෙනිච්චා. ඊට පස්සෙ නංගිලගෙ ගෙදරින් කියන්න පටන් ගත්තා, ඒ කොස් ගහ ඒ අය ඉල්ලන්න හිටියෙ ඒ අයගෙ ගේ වහළ හදාගන්න, මම ඒක දැනගෙනම ඒ අය ගේ හදනවට ඉරිසියාවට ගහ වෙන කෙනෙකුට දුන්න කියල. අන්තිමට ඒකත් මා පිට දාල මට අපවාද කළා. නමුත් මම දන්නෙ නෑ එහෙම දෙයක්. අනෙක මට වික්ක ගහක් ආයෙත් ඉල්ලන්න වටින්නෙ නෑ. ඉතින් මට විකුණපු දේ නිසා මට ඕන දෙයක් කරගන්න පුළුවන්. අනෙක ඒ අය නිකමටවත් මට එහෙම දෙයක් මතක් කරල තිබුණෙත් නෑ. මම ඉතින් මට අයිති ගහ නිසා ඒක සාසනික කටයුත්තකට දුන්නා. ඒ වුණාට ඒ අය ඒක පිළිගත්තෙ නෑ. මම ඒ අයත් එක්ක ඉරිසියාවට කරපු දෙයක් කියල තමයි හිතාගත්තෙ.

ඉතින් මට ඒ හැමෝගෙන්ම දුක් ගිනි ආව මිසක් කවදාවත් සතුටක් ආවෙ නෑ. ඒ අතර මගේ ඥාතීන්ගෙන් කොඩිවිනත් එන්න පටන් ගත්තා. ඒක ඊටත් වඩා මහා භයානක පැත්තක්. ඒ කරපු කොඩිවින නිසා ගෙදර තත්ත්වය සම්පූර්ණයෙන්ම වෙනස් වෙලා ගියා. මිනී අළුවලින් භූමි පාළුවකුත් කරල තිබුණා. අම්බලම් පාළුවො කියන කුරුමිනි ජාතියකින් මුළු ගේම වැනසුවා. උන් මේ ලෝකෙම ඉන්න කළු කුරුමිනි ජාතියක්. උන්ට මොනව හරි අමනුස්ස දිෂ්ටියක් සම්බන්ධ කරල තමයි ඒ වගේ දේවල් කරන්නෙ. අන්තිමට ගෙදර සම්පූර්ණ වහලම හිල් විදල කුරුමිනි පැටව් දාල විනාස වෙලා ගියා. හැබැයි ඒ අය කරපු අනවින කොඩි වින පස්සෙ මට අහු වුනා. ඊයම් කොළවල මිනී අළු ඔතල උළුවස්සෙ ගහල තිබුණා. ඒව ඒ තරම් සැරයි. සියල්ල විනාස වෙලා යනවා. ඊට අමතරව භයානක භූමි පාළුවකුත් කරල තිබුණා. ඒකෙන් තමයි වටේ ඉන්න ඥාති පිරිස මට එපා වුනේ. ඒ අය මට ජාති ජාතිත් ඕන නෑ කියන අදහසමයි ආවෙ. ඒ අය ළඟ ගුණ ධර්මයක්, හිතවත්කමක්, නෑදෑකමක් ගෑවිලාවත් තිබුණෙ නෑ. එහෙම දෙයක් තිබුණ නම් අර විදිහෙ නීච වැඩ කරන්නෙ නෑ. ඒ අය කොච්චර එහෙම දේවල් කළත් මම කවදාවත් ඒ අයට අංශු මාත්‍රයකින්වත් එහෙම දෙයක් කරන්න තියා එහෙම දෙයක් ගැන සිතිවිල්ලක්වත් හිතුවෙ නෑ.

ඒ අය මට කොච්චර අණ වින කොඩිවින කළත් මට කිසිම තරහක් ආවෙ නෑ. ඒ වෙලාවට මම හිතලම බලනවා, මේ තරම් නපුරු දේවල් මට කරද්දිත් ඇයි මට ඒ අයට නි ය පො ත් තෙ න් කොනිත්තන්න තරම් ☞

දෙයක්වත් කරන්න අදහසක් එන්නෙ නැත්තෙ කියල. එහෙම දෙයක් හිතෙන්නෙම නෑ. ඒ කාලෙත් එහෙමයි. හැබැයි මේක මහ පුදුම අසාධාරණයක්නෙ කියල තේරෙනවා. මේ වගේ අසමජ්ජාතියේ වැඩවල බරපතලකම මේ අයට තේරෙන්නෙ නැත්ද කියල මම ඒ ගැන ළතැවෙනවා.

1975 ඉඳන් 1985 වෙනකල් පූගොඩ පේෂකර්ම සංස්ථාවෙ වැඩ කරල ගෙදර ඇති වෙච්ච මේ කරදර නිසා 1985 දි මට රස්සාවෙන් අයින් වෙන්න සිද්ධ වුනා. රස්සාවට නොගිහින් ඉඳලමයි සේවය හැර ගියා සේ සලකල අයින් වෙන්න සිද්ධ වුනේ. මොකද ගෙදර ඔක්කොම කරදරයි අඥානායි මගේ පිට එනකොට වැඩට යන්න වෙන්නෙ නෑ. ඉවරයක් නැති කරදර. මම වැඩට යන වෙලාවට ගෙදර අය ගහමරා ගන්නවා. ඉතින් කොහොමහරි මට නවතින්න වෙනවා. ඔය විදිහට රස්සාවට නොග හින් ඉන්න කොට ඒ අය 1982 ඉඳන් 1985 වෙනකල් අවුරුදු 3 ක්ම මම එනකල් බැලුවා. ඊට පස්සෙ තමයි අස්වෙන්න සිද්ධ වුනේ. අවුරුදු 35 ක් වගේ අඩු වයසින් තමයි මට රස්සාවෙන් අයින් වෙන්න සිද්ධ වුනේ. ඉතින් රස්සාවෙන් අයින් වෙලා නිකං බලාගෙන ඉන්න පුළුවන්කමක් තිබුනෙ නෑ. කොහොමහරි ගෙදර ඉන්න අයට කන්න අඳින්න අරන් දෙන්න ඕන. අන්තිමට කරගන්න දෙයක් නැතිකමට, කාලයක් මම පොල් රා මැදීමත් කළා. ඒ කියන්නෙ මම පොඩි කාලෙ ඉඳන් වත්තෙ හිටවල තිබ්බ්ච තැඹිලි පැළ ඒ වෙනකොට පීදිලා තිබුනා. මම ඉනිමග ක් තියාගෙන ගස් 7-8 ක විතර මල් කැපුවා. මල් කපල රා බාල කොටසක් තෙලිජ්ජ විදිහටත් උනු කළා. රාවලටත් වික්කා. ඒ කාලෙ ඉතින් ආදායමක් තිබුනෙ රා වලින්. රා බෝතල් 7-8 ක් විතර දවසකට ගන්නවා. අවුරුදු දෙකක් විතර ඒ විදිහටත් ජීවත් වුණා.

ඊට පස්සෙ තමයි වෙද හෙදකම්, සෙත් ශාන්ති ආදී ගුප්ත කටයුතු පටන් ගත්තෙ. රස්සාවක් කරල හරි ගියේ නැති වුනාට ඒ කටයුතුවලින් සෑහෙන්න ලැබීම් එන්න පටන් ගත්තා. හැබැයි ඒකටත් ගෙදර නෝන කැමති වුණේ නෑ. මොකද බේත් හේත් ගන්න ගෑනු ළමයිත් එන නිසා. මොනව හරි ලෙඩක් දුකක් හැදුනම ඉතින් ගැහැණු ළමයි කියල අයින් කරන්න පුළුවන්යැ! ඒ අයත් ඉතින් බේත් හේත් ගන්න, නොයෙක් සෙත් ශාන්ති කරගන්න එනව තමයි. නමුත් ඒ ගැහැණු උදවියට උදව් කරනවට ගෙදර නෝන කැමති වුණේ නෑ. ඒ වගේ දෙයකට කාන්තාවක් එහෙම ආවොත් දින ගණනාවක් කතා නොකර ඉන්නවා. හැබැයි ඉතින් ඇය කාන්තාවො සම්බන්ධයෙන් ඒ වගේ මතයක හිටියට මුදල්වලට නම් අංශු මාත්‍රයකවත් වංචාවක් කළේ නෑ. මම කොච්චර මුදල් දුන්නත් වැඩකට නැති අමතර දේවල්වලට වියදම් කළේ නෑ. ණය වුණෙත් නෑ. ඒ ගතිය උපරිමයෙන්ම තිබුණා. මම කමිස සාක්කුවේ සල්ලි දාල එල්ලල තියන කොට ගන්න කියල කිව්වොත් මිසක් කවදාවත් සතයක්වත් ගත්තෙ නෑ. ගන්න කිව්වට පස්සෙ තමයි සාක්කුවෙන් සල්ලි ගන්නෙ. සල්ලි ටික ඔක්කොම ඇයට දෙන නිසා මමත් බස් එකට යන්න ඇයගෙන් තමයි ඒ මුදල්වලින්ම කීයක් හරි ඉල්ල ගත්තෙ. කොයි වෙලාවකවත් ඇය මුදල්වලට වංචාවක් නම් කළේ නෑ. කඩේකින් වැරදිලා හරි මුදල් වැඩිපුර දීල තිබුණොත් ආපහු ගෙනිහින් දෙනවා. අගහිගකම් තිබුණත් ඒ වැඩිපුර සතයක්වත් ගත්තෙ නෑ. කාටවත් ණය වෙන්න කැමති නැති එහෙම සිරිතක් ඇයට තිබුණා. නමුත් ඉතින් ඇගේ අනිත් ගති ලක්ෂණවලින් මගේ නිදහසට බාධා වුණා.

ඔහොම කාලයක් ඉන්නකොට ඉපදිච්ච දෙවෙනි දරුව ලෙඩ වෙන්න ගත්තා. බලනකොට ඒක මහ කර්මජ රෝගයක්. දැන් ඉතින් මගේ බලාපොරොත්තුවට ලොකු පහරක් වැදුනෙ. ඇඟපත ශක්තිමත්ව යෝධයෙක් වගේ හිටියට, ඉගෙන ග න්නත් හොඳට පුළුවන් වුනාට, බුද්ධි මට්ටමත් තිබුණට වැඩක් නෑ ඒකා අසනීපකාරයා. ළමය ලොකු මහත් වෙනකොට සහනයක් වෙයි කියල හිතුවත් අසනීපය නිසා ඒ බලාපොරොත්තුත් සුන් වුනා. මොකද ඒ අසනීපය හැදුනට පස්සෙ කියන්න කරන්න දෙයක් නෑ. මොන වැඩක්වත් කරන්න බෑ. ඔතනින් පස්සෙ මම සෑහෙන්න පෙලෙන්න පටන් ගත්තා. අන්තිමට මම නව ගුණ යන්ත්‍රයක් හදල දැම්මම අවුරුදු දෙක තුනක් යනකල් ඒ අසනීපය හැදෙන්නෙ නැතිව තිබිල නැවතත් දරුණුවට හැදෙන්න ගත්තා. කොහොම හරි ඔහොම ඉඳල මාත් එක්ක ඒ කාලෙ සම්බන්ධ වෙලා හිටපු භික්ෂූන් වහන්සේ නමක් ඇසුරු කරල මේ ළමය හොඳට බණ භාවනා කරල ඒවායින් ප්‍රතිඵලත් අරගෙන දහන් සමාධිත් වඩා ගත්තා. එහෙම හැකියාවක් තිබුණා. කරේ දාල තිබ්බ්ච පෙන්ඩනයට ධාතූන් වහන්සේලා පවා වඩින්න ගත්තා. ඒක රත්තරන්වලින් ත්‍රිමාණීයව බෝ කොළ හැඩයට හදපු පෙන්ඩනයක්. ඒකට ධතූන් වහන්සේ නමක් වැඩල හිටියා. එක දවසක් ඔහු භාවනා කරන කොට ගුප්ත ලෝකයේ කවුරුහරි කෙනෙක් කනට ඇහෙන්නම කියල තිබුණා, ධාතූන් වහන්සේලා වඩම්මවන්න මේකෙ ඉඩ මදි ලොකු පෙන්ඩනයක් හදා ගන්න කියල. පෙන්ඩනය ඇරල බලනකොට කට මට්ටමට ධාතූන් වහන්සේලා හත් අටනමක් වැඩල. ඊට පස්සෙ ඒ පෙන්ඩනය අහක් කරල ලොකු එකක් හදල දාගත්තම ඒකත් පිරෙන්නම ධාතූන් වහන්සේලා වැඩල තිබුණා. එහෙම විශේෂයක් තිබුණා. පෙර සසර හේතුවකට එහෙමත් ගුණයක් තිබුණා. හැබැයි ඒ අතර බලවත් කර්ම විපාකයකුත් තිබුණා. අන්තිමට බැලුවම පැවිදිවෙන මට්ටමට හොඳට හිටිය ළමයෙක්. ඒ පාර මහණ වෙන්න අවසර ඉල්ලුවා. මම කිව්ව ඉතින් මට ප්‍රශ්නයක් නෑ මහණ වෙනවනම් මහණ වෙන්න කියල. නමුත් ළමයගෙ අම්ම ඒකට අවසර දුන්නෙ නෑ. ඔය ප්‍රශ්නය උඩ තමයි ගෙදරින් තරහ වෙලා ගිහින් අන්තිමට දඩබ්බර වැඩ කරන්න පටන් ගත්තෙ.

ඊට පස්සෙ නොයෙක් විකෘති අදහස් ගත්තා. ආත්මාරක්ෂක සටන් ඉගෙන ගන්න යනව කියල වැලි කොට්ටවලටයි යකඩ කැලිවලටයි ගහන්න ගිහින් අමනුස්සයො ඇඟට ඇතුල් වුණා. ඒ වගේ අවස්ථාවක ඒකට ගැළපෙන අමනුස්සයො ඇඟට ඇතුල් වීම ස්වභාවයක්. මොකද ඒ වගේ දේවල්වලට කැමති අමනුස්සයොත් ඕන තරම් ඉන්නවා. ඒ අයගෙ දෘෂ්ටියත් ඒකම නිසා ඇවිත් බැල්ම දාගන්නවා. චන්ඩි අමනුස්සයො ඇඟට ආවම බේරෙන්න බෑ. එතකොට නිකං ඔල්මාද ගතියක් එක්ක තමයි කටයුතු කරන්නෙ.

පොඩ්ඩක් ඇත්නම් අවිස්සිලා රණ්ඩුවලට යනවා. ඔය වගේ සටන් ශිල්ප හදාරන බොහොමයක් උදවියට එහෙම දෙයක් තියෙනවා. ඒ කාරණය මම අනන්තවත් දැකල තියෙනවා. ඒ අය කොච්චර ඉවසගෙන හිටියත් හරියන්නෙ නෑ. ඒව හදාරන හුඟක් අයගෙ මනසෙ රණ්ඩු කරන ඒ වගේ පොඩි පිස්සුවක් තියෙනවා. එතකොට ගති ආකර්ශන නියමය අනුව ඒ ගතියට සමාන ගතියක් තියෙන අමනුස්සයො ඇඟට සම්බන්ධ වෙනවා. මේ ළමයටත් ඒක තමයි වුණේ. පොඩ්ඩක් ඇත්නම් ඇවිස්සෙනවා. වචනයක් එහා මෙහා වුණත් ගහගන්න එනවා. හොස්ස ළඟින් මැස්ස යන්න බෑ. කාටවත් කතා කරන්න බෑ. තැන නොතැනක් බලන්නෙ නෑ. පිට අයටයි, ගෙදර අයටයි, මටයි කාටත් එකයි. ඊට පස්සෙ ඉතින් කොල්ලො කුරුට්ටොත් එක්ක කාල බීල නටන්න පටන් ගත්තා. මුල් කාලෙ හොඳට හිටියා. නමුත් අන්තිමට හිතා ගන්නත් බැරි මහ දඩබ්බරයෙක් වුනා. අපේ තාත්තගෙ ගති ලක්ෂණමයි තිබුනෙ. දේපළ විනාස කරනවා, කිසිම දෙයක් තියා ගන්න බෑ. කොල්ලො කුරුට්ටොත් එක්ක ගිහින් රණ්ඩු සරුවල් චණ්ඩිකම් කරනවා. අන්තිමට බලනකොට මට ගැළපෙන වාතාවරණ එකක්වත් නැතිව ගියා. අවුරුදු 30 ක් විතර යනකල්ම එක දිගටම ගින්නක්මයි වින්දෙ. මොන විදිහට යහපත් කටයුතු කරගෙන හිටියත් ගෙදර කාගෙන්වත් චිත්ත ප්‍රසාදයක් නම් ආවෙ නෑ. හැම කෙනෙක්ගෙන්ම ආවෙ දුක් ගිනි දෙන අසහනකාරී දේවල්.

ඒ සිද්ධිවලින් පස්සෙ දෙමාපියන්, සහෝදර සහෝදරියන්, භාර්යාව, දූ දරුවො මේ සියල්ලම අන්තයට යනකල්ම මට එපා වුනා. නමුත් මම කවුරුවත් එක්කවත් රණ්ඩු වුනේ නෑ. තරහ වුනෙත් නෑ. බොහොම හොඳින් කතාබහ කළා. නමුත් හිත අභ්‍යන්තරයෙන් ඒ අය ජාති ජාතිත් මට මුණ ගැහෙන්න එපා කියන අදහසමයි ආවෙ. යම් දවසක මම ඒ අයගෙන් නිදහස් වුනා කියන්නෙ මහ විසාල ලාභයක් කියන අදහස තමයි ආවෙ. හැබැයි කවදහරි ඒ අයගෙ සම්බන්ධය කෙලවර වෙනකල්ම මම ඒ අයට උදව් උපකාර කරනවා, ඒ අයත් එක්ක තරහ වෙන්නෙ නෑ කියන තැනට මගේ හිත වැඩිල තිබුණෙ. තාත්ත නැති වෙච්ච දවසෙත් මට චිත්තප්‍රසාදයක් මිසක් අප්‍රසාදයක් ආවෙ නෑ. තාත්ත වෙනුවෙන් දන්පිං දීල අවශ්‍ය යුතුකම් සියල්ල ඉටු කළා. නමුත් ජාති ජාතිවත් සම්බන්ධ වෙන්න එපා කියන බලාපොරොත්තුව තමයි තිබුනෙ. අම්ම ගැනත් ඒ වගේ අදහසක් තමයි ආවෙ. ඒ වෙන කාරණයක් නිසා නෙවෙයි, මගේ මේ සසර ගමන කෙළවර කර ගන්න තියෙන බාධාව නිසා. ඒ අය මගෙන් වෙන් වෙනකල්ම ඒ දහ දුක මට ආවා. හැබැයි අවසානය



වෙනකල් මම ඒ අයට උපරිමයෙන් යුතුකම් ඉටු කළා. නමුත් ඒ අය මම එහෙම කළයි කියල පිළිගත්තෙ නෑ. හැබැයි මධ්‍යස්ථව පැත්තක ඉඳන් බලාගෙන ඉන්න කෙනෙකුට තේරෙනවා, මම තරම් අංග සම්පූර්ණව ඒ අයට උදව් උපකාර කරපු කිසිම දරුවෙක් නෑ කියල. බුද්ධ දේශනාව අනුව සාසනය පැත්තෙනුත් ඒ අයට කරන්න පුළුවන් උපරිම යුතුකම් මම ඉටු කළා. කිසිම ලාභ කීර්ති ප්‍රසංසාවක් බලන්නෙ නැතිව, තමන්ගෙ සැප දුක් බලන්නෙ නැතිව ඒ අය වෙනුවෙන් ඇප කැප වෙලා මහන්සි වෙලා මම තරම් දුක් විඳපු කෙනෙක් තවත් ඉන්නව කියල මම හිතන්නෙ නෑ. ඒ වගේම ඒ ආපු දුක් කරදර නිසා ඒ අය තරම් මට අප්‍රිය වෙච්ච තවත් අය මේ ලෝකෙ හිටිය කියලත් මම හිතන්නෙ නෑ. එහෙම වෙලත් මම තරම් සමගියෙන් සමාදානයෙන් හිටපු තවත් කෙනෙක් නැති තරම්. මම හිනා වෙලා ඉන්න කොට ඒ අය මාව අඬවන්නමයි බැලුවෙ. මගේ අදහසයි මම ඔය කිව්වෙ.

ඉතින් බුදුන් වහන්සේ දේශනා කරපු ක්‍රමයටත් මම අම්මටයි තාත්තටයි මගේ උපරිමයෙන් මට පුළුවන් විදිහට සැලකුවා. හැබැයි විශේෂයෙන් ඒ විදිහට සලකන්න ලැබුණෙ අම්මට විතරයි. මොකද තාත්තට දහමක් ගැන කිසිම හැඟීමක් තිබුනෙ නෑ. ඒ ගැන කිසිම කතාබහක් කළේ නෑ. කවදාවත් පන්සලකට යන්න, පිනක් දහමක් කරගන්න ආවෙ නෑ. ඒ පැත්ත පළාතටවත් ගන්න බැරි වුනා. ඉතින් ඒකට මට කරන්න දෙයක් නෑ. නමුත් තාත්ත මියගියාම ඒ වෙනුවෙන් කරන්න පුළුවන් පින් දහම් කටයුතු මම උපරිමයෙන් සිද්ධ කළා. විශේෂයෙන් සමාධියට යොමු කරල බලලම කළා. නමුත් අම්ම නම් ජීවතුන් අතර ඉඳෙද්දි දහමට ගන්න පුළුවන් හැම උත්සාහයක්ම කළා. බුද්ධ දේශනාවට අනුව සියක් අවුරුද්දක් ජීවත්වෙන දරුවෙක් අවුරුදු සියයම තමන්ගෙ අම්මයි තාත්තයි කර උඩ තියාගෙන සියළු ඇප උපස්ථාන කළත්, බීපු කිරි කඳුලක ණයක්වත් ගෙවන්න බෑ. හැබැයි එහෙම කෙනෙක් ශ්‍රද්ධාවෙන්, සීලයෙන්, ඍතයෙන්, ත්‍යාගයෙන්, ප්‍රඥාවෙන් තොර තමන්ගෙ අම්මයි තාත්තයි යම් කිසි විදිහකින් ඒ මාත්‍රයක හරි පිහිටෙව්වනම් ඒ දරුවා ඒ මුළු අත්බවයෙම අම්මටයි තාත්තටයි ගෙවන්න තිබ්ච්ච ණයත් ගෙවල අනන්ත සසර සියළු ණයත් ගෙවල වැඩිපුරත් ගෙව්ව වෙනවා. ඒ තමයි බුද්ධ දේශනාව. ඉතින් මට එහෙම දෙයක් අම්ම වෙනුවෙන් කරන්න පුළුවන්කම ලැබුණා. නමුත් ඉතින් මැරෙන මොහොතෙදි එහෙම මාත්‍රයකවත් පිහිටල හිටියද කියන එක තමයි ගැටළුව. ඒක ඉතින් මට තාම හරියට යොමු වුණේ නෑ, ඒ අය ඉන්නෙ ප්‍රේත අපායකද දේව අසුර කියන කොටසෙද කියල. මොකද ඇඳුම් එහෙම තියෙනවා. නිරුවත් නෑ. යන්න එන්නත් හැකියාව තියෙනවා. හැබැයි දරුණු ගති තමයි තියෙන්නෙ. නමුත් දරුණු ගති තියෙන දෙවි දේවතාවොත් ඉන්නවා.

ඉතින් අම්ම අන්තිම කාලෙ මේ සාසනය කෙරෙහි යම්කිසි චිත්ත ප්‍රසාදයක පිහිටුවන්න මට පුළුවන් වුණත්, සසරෙ ආපු ගති ලක්ෂණය අන්තිම මොහොතෙත් ඇදිල ආවා.

ඉතින් අවසානය වෙනකල්ම ඔය කරදරකාරී ක්‍රමය තුළම දහම් මාර්ගයේ ගමන් කරනවා. මේ ධර්මයේ නිදහස් බව කොච්චර ශාන්තද ප්‍රණීතද, බුදුන් වහන්සේ දේශනා කළ මග කොච්චර නිදහස්ද, මේ ලෝකය අල්ල ගත්තම තියෙන දුක් කරදර මේව නේද... කියන ඔය අදහසමයි මට ආවෙ. ඒ වාතාවරණය මහ දුක් ගිනි ගොඩක් කියල දැක්ක නිසාමයි මට ඒ අයගෙන් අයින් වෙන්න අදහස ආවෙ. දුක් ගිනි ගොඩක් මැද්දෙ යන ගමනක් තමයි මේ තියෙන්නෙ. දැන් ඉතින් කාමයට බැඳීමකුත් නෑ, දැහැමින් සාමයෙන් ඉන්න බලනවා. හැබැයි දැහැමින් ඉඳල පවුල් ජීවිතයක් ගත කරන්න බැරි බව දැන ගත්තා. ඊට වඩා හොඳයි කවදහරි මේ සසර ගමන කෙළවර කර ගන්න පැවිදි වෙනව කියල හිතල තමයි අවසාන නිග මනයට බැස්සෙ. දරුවන්ගෙන් හෝ කවද හරි මගක් හැදෙයි කියල හිතුවත් ඒක ඊටත් වඩා ගිනි ගොඩක් වුනා. අවසානයේ බැලුවෙ මේ අය විවාහ වෙලා අයින් වුනාට පස්සෙවත් කරදර නැති වෙයි කියල. නමුත් එක්කෙනෙක් විවාහ වෙලා ඊටත් වඩා ගිනි ගෙඩි එන්න ගත්තා. අන්තිමට ඇවිලෙන ගින්නට පිදුරු දැම්ම වගේ වුණා. මම දැන ගත්තා ඔය අස්සෙ ඊළඟ එකත් විවාහ වුනොත් මහ ගින්නක්ම තමයි, මට කවදාවත් නිදහසක්නම් ලැබෙන්නෙ නෑ ගිනි ගොඩේම තමයි ලගින්න වෙන්නෙ කියල. ඒ අවස්ථාවෙ තමයි තීරණය කළේ සියල්ල අතහැරල පැවිදි වෙන්න.

හැබැයි ඔය දුක් කරදර අතරෙම තමයි ධර්මාවබෝධයෙන් කරන කටයුතු සියල්ලමත් කරගෙන ආවෙ. ඒ ධර්ම මාර්ගයේම තමයි දිව්වෙ. නොයෙක් ආකාරයේ ගුප්ත කටයුතු වලින්, අණවින කොඩිවිනවලින් එන හැම බලයක්ම මැඩ පවත්වන්න පුළුවන් ශක්තියක් මේ ධර්ම මාර්ග යෙන්ම මට ලැබුණා. ඒ ශක්තියෙන් සෙත් ශාන්ති, බෙත් හේත් ආදී කටයුතු කරල අනෙක් පිරිසටත් ඔය කරදර බාධක මැද්දෙම උදව් උපකාර කළා. ඒ ආපු දුක් කරදරවලටත් ධර්මානුකූල ක්‍රමවලින් මුහුණ දුන්න මිසක් කාටවත් හිංගි හිංසා වෙන අනවින කොඩිවින ආදී අධාර්මික ක්‍රමවලින් විසඳුම් හොයන්න ගියේ නෑ. ඒ ක්‍රමවලින් විසඳුම් හොයන්න ගියා නම් තවත් විනාසයක්ම වෙනව මිසක් මේ දුක් කරදර කවදාවත් කෙළවරක් වෙන්නෙ නෑ. අන්තිමට ධර්මානුකූල ක්‍රමවලින්ම තමයි ජය ගත්තෙ. බොහොම අමාරුවෙන් තමයි මම ඔය කටයුතු කරගෙන ගියේ.

ඉතින් මේ වගේ තවත් සිද්ධි ගණනාවක් මුල් කරගෙන තමයි මම අවසන් තීරණයක් ගත්තෙ. අදින් පස්සෙ උඹලත් එක්ක ගත කරපු මගේ කාලය ඉවරයි, දැන් උඹලට පුළුවන් විදිහකින් ජීවත් වෙයල්ල මම යනව පැවිදි වෙන්න කියල තමයි මම එළියට බැහැල ගියේ. ඒ ගිය ගමන් තමයි පැවිදි වුනේ. අන්තිමට ඉතින් මම පැවිදි වුනාට පස්සෙ ඒ අයත් අතරමං වෙයි කියල බයට, සියල්ල බුද්ධ සාසනයට බාර දීල පවුලෙ ඔක්කොම පැවිදි වෙන්න තීරණය කළා. ඒ තීරණය උඩ තමයි මගෙන් පස්සෙ පවුලෙ සියළු දෙනාම පැවිදි වුනේ. අද ඒ අය පැවිදි වෙලා මොන තත්වයෙන් හිටියත් මම මේ කිව්වෙ එදා සිද්ධ වෙච්ච දේවල්, එදා ඒ අයගෙ ගති ලක්ෂණ. ඒ ටික කිව්වෙත් මේ සසරෙ තියෙන ගින්න පෙන්වන්න, මනුස්සයින්ගෙ ගති වෙනස් වෙන හැටි පෙන්වන්න මිසක් ඒ අයත් එක්ක තරහකට අමනාපයකට නෙවෙයි.

අනික් කාරණය තමයි මේ වගේ දුක් කරදරවලට නොපෙනෙන බලවේගත් සම්බන්ධ වෙලා ඒ අයගෙ විරෝධතාත් නැගෙනවා. එහෙම නැගිල මා වටා ඉන්න ඒ ඥාති පිරිසටත් සම්බන්ධ වෙලා අමනුස්සයො හොඳ පැත්තට වඩා නරක පැත්තට බලය යොදවනවා. එතකොට මා වටා ඉන්න අයගෙ මනුස්ස ස්වභාවයත් වෙනස් වෙනවා. ඒ අයවත් දන්නෙ නෑ තමන්ට මේ මොකක්ද වෙන්නෙ කියල. මට ආපු දුක් කරදරවලට ඒකත් ප්‍රධාන හේතුවක්. ඒක විශේෂයෙන් හේතු වෙන්න ඇත්තෙ, මා පිළිබඳව මොනවහරි විශේෂයක් ලෝකයට ඇති නිසා. ඒ නිසා මේ වගේ දුක් කරදර සියල්ලන්ටම එක වගේ නෑ. මොනවහරි ලෝකයට විශේෂයක් වෙන්න තියේනම් ඒ වගේ අවස්ථාවකදි තමයි ඒ දුක් ගිනි වැඩියෙන් හට ගන්නෙ. ඒක ස්වභාවයක්. ඒකෙන්ම තමයි දහම නැගෙන්නෙත්. ඒ කියන්නෙ අපිව පරාජය කරන්න අවශ්‍යතාවයක් තියෙන පිරිස් ගුප්ත ලෝකයෙත් ඉන්නවා. විශේෂයෙන් මාර පාක්ෂික බලවේග. මොකද අපි හොඳින් හිටියොත් ඒ අයට ලොකු පාඩුවක්. ඒ නිසා ලෝකයට දහමක් මතු කරල යහපතක් කරන උදවියට, ඒ අය සාමාන්‍ය උදවියට වඩා දුක් කරදර දෙනව වැඩියි. හැබැයි අපි ඒකෙන්ම පන්නරය ලබනවයි කියන කාරණය ඒ අය දන්නෙ නෑ.

නම් පෙර අත්බැව්වල කොහොම දුක් ගිනි කඳන් විඳින්න ඇත්ද? මතුවටත් මේ විදිහටම ගියොත් සසර කොහොම නම් ගිනි කඳුවලට මුහුණ දෙන්න වෙයිද?

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# රෝග රැසකට සුව දෙන තවත් ප්‍රත්‍යක්ෂ ඔසුවක්...

බඩවැලේ වේලීම (මළ බද්ධය), අර්ශස්, ඇඟපත ඉදිමීම, අධි රුධිර පීඩනය, අඩු රුධිර පීඩනය, නින්ද නොයෑම, හිසේ කැක්කුම, සිහි විකල් වීම, පීනස, පපුවේ සෙම, වේලුම් කැස්ස, හන්දි තද වීම, නිතර දහදිය දැමීම හෝ සීතල දැනීම, කන් අගුල් වැටීම, ඇස්වල ආබාධ, කටහඬ ගොත වීම, දිව අප්‍රාණික වීම, අත පය පණ නැති වීම කියන මේ රෝගී තත්ත්වයන් අද සමාජයේ සුලභව දකින්න තියෙනවා. කෙනෙක් මේ වගේ රෝගයකින් හෝ රෝග කිහිපයකින් පීඩා විඳින්න පුළුවන්. අද කාලයේ කර්ම විපාකවලටත් වඩා ප්‍රයෝග විපත්ති නිසා ඇති වෙලා තියෙන මේ කියන රෝගී තත්ත්වයන්ට වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙත් සමාධියෙන් මතු කරගත්, දැනටමත් අත්හදා බලන ලද ප්‍රත්‍යක්ෂ ඔසුවක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. හැබැයි මීට පෙරත් බෙහෙත් ලිපිවලින් සඳහන් කළා වගේ මේ ඖෂධයෙන් කෙරෙන රෝග සුව වීමටත් කෙනෙක්ගෙ කර්ම ශක්තියේ අඩු වැඩි බව බලපාන්න පුළුවන්.

මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ ඉදුණු පුවක් ලෙලි කිලෝ ග්‍රෑම් 10 ක ඉස්ම (පුවක් ලෙලි කිච්චම, විට කන්න ගන්න කොටස හැර ඊට පිටින් තියෙන සියලුම කොටස් අයිතියි), අක්කපාන කොළ කිලෝ ග්‍රෑම් 5 ක ඉස්ම, පුවක් මල් කිලෝ ග්‍රෑම් 1 ක ඉස්ම සහ වේලා ගත් දම් මල් කුඩු. හැබැයි මේ කිච්චෙ රෝගීන් වැඩි පිරිසකට හදන්න අවශ්‍ය අමුද්‍රව්‍ය ප්‍රමාණයක් නිසා මේ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය ප්‍රමාණයට මේ අමුද්‍රව්‍ය ගන්න පුළුවන්. උදාහරණ විදිහට ඉදුණු පුවක් ලෙලි කිලෝ ග්‍රෑම් 1 ක් ගන්නව නම් ඊට ගැළපෙන්න අක්කපාන කොළ ග්‍රෑම් 500 යි, පුවක් මල් ග්‍රෑම් 100 යි යොදා ගන්න ඕන. මෙතනදි දම් මල් කුඩු කොච්චර ප්‍රමාණයක්ද කියල බරින් කියන්න බෑ. අර ලැබෙන ඉස්ම වර්ග තුනෙන් අනල ගුලි හදන්න පුළුවන් ප්‍රමාණයට ගන්න ඕන. ඒ නිසා ටිකක් වැඩිපුර සූදානම් කරල තියාගන්න එක හොඳයි.

පළමුවෙන්ම ඉදුණු පුවක් ලෙලි තලල කොටල, උණු කර නිවා ගත් වතුර බෝතල් 5 ක් දමල මිරික ගන්න ඕන. හැබැයි මේ වතුර බෝතල් 5 ක් ගන්නෙ ඉහත කියපු විදිහට පුවක් ලෙලි කිලෝ ග්‍රෑම් 10 ක් ගන්නව නම් විතරයි. ඒ නිසා ඒ අමුද්‍රව්‍ය ප්‍රමාණයට ගැළපෙන විදිහට අවශ්‍ය වතුර ප්‍රමාණය ගන්න ඕන. ඊළඟට අක්කපාන කොළ කොටල වතුර නොදා ඉස්ම ගන්න ඕන. පුවක් මල් ඉස්ම ගන්න කොට නිවා ගත් උණු වතුර බෝතල් 1/2 ක් (කිලෝ ග්‍රෑම් 1 ක් සඳහා) දමල මිරික ගන්න ඕන. ඊළඟට දම් මල් වේළල කුඩු කරල පෙනේරයකින් හලාගෙන ඉහත ඉස්ම වර්ග තුනත් සමග අනාගෙන පෙති හෝ කෝපි ගෙඩි තරම් ගුලි වශයෙන් සකස් කරල මඳ අව්වෙ වේල ගන්න ඕන. මේ හදාගත් ගුලි 2 බැගින් දවසකට තුන් වරක් කෑමට පසු අවශ්‍ය තරම් කාලයක් පාවිච්චි කරන්න ඕන.









සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මම යනු කවරෙක්ද?

හැම මනුස්සයෙක්ම භාවිතා කරන වචනයක් තමයි ''මම'' කියන ආමන්ත්‍රණය. ඉංග්‍රීසි භාෂාවෙන් ''අයි'' කියනවා, දෙමළ භාෂාවෙන් ''නාං'' කියනවා. මේ මොන භාෂාවකින් කිව්වත් ''මම'' කියල අපි ගන්න හැඟීම එකයි. මේ විදිහට ''මම'' කියල හඟවන්නෙ කවුද කියල විග්‍රහ කරල බලමු.

මම ගමනක් ගියා. කෙනෙක් මෙහෙම ප්‍රකාශ කරනවා. ඔහුට මොකද වුණේ? මගදී හදිසි අනතුරකට ගොදුරු වෙලා. ඔහු රෝහලට ඇතුළත් කළත් අතපය කැඩිල. ජීවත් කරවන්න නම් අත්පා කපන්න වෙනවා. වෛද්‍යවරුන්ගේ නිගමනය අනුව සැත්කමක් මගින් අතපය ඉවත් කළ ඔහුගේ කඳ දැන් ජීවත් වෙනවා. ඔහුට සිහිය ආවෙ රෝහලේ ඇඳ උඩදී. ''මම කොහෙද මේ ඉන්නෙ? මට මොකද මේ වුණේ?'' මේ තමයි ඔහුගෙ කතාව.

අතපය නැතත් ''මම'' යන හැඟීමේ කිසිම අඩුවක් නෑ. ටික දවසක් ගත වුණා. නැවතත් ඔහු රෝගී බවට පත් වෙනවා. වකුගඩු නරක් වෙලා. සැත්කමක් මගින් වෙන කෙනෙක්ගෙ වකුගඩුවක් බද්ධ කරල ඔහුගේ ජීවිතය බේර ගන්නවා. දැන් ඔහු කලින් වගේම කතා කරනවා. ''මේක නම් මම පෙර කරපු පාපයක්! මේ ආත්මෙ නම් මෙහෙම වෙන්න මම අපරාධයක් කරල නෑ.'' ඒත් ''මම'' යන හැඟීමේ නම් කිසිම අඩුවක් නෑ. යන්තම් මාසයක් ගතවුණා විතරයි, නැවතත් ආබාධයක්. ලේ විස කරල. හදවතත් දුර්වලයි. වෛද්‍යවරුන්ගෙ මහත් උත්සාහයෙන් ධෛර්යයෙන් හදවත් සැත්කමකුත් කරල ලේත් අමුතුවෙන් දෙනවා. ඔහුට දැන් සිහිය තියෙනවා. දැන් ඔහු මෙහෙම කියනවා. ''මෙහෙම ජීවත් වෙලා මොකටද මම මළා නම් මීට හොඳයි!'' මේ තමයි ඔහුගෙ කතාව. "මම" යන හැඟීමෙ නම් කිසිම අඩුවක් නෑ වගෙයි.

මේ විදිහට ශරීරයේ කොටස් ඉවත් කළත්, වෙනත් කෙනෙක්ගෙ අවයව බද්ධ කළත්, ශරීරය වෙනස් වුනා මිසක් වෙනත් කිසිම වෙනසක් " මම" කියන හැඟීමෙ නම් අඩු වීමක් වෙලා නෑ. ලේවලත්, හදවතෙත්, අනිකුත් ඉන්ද්‍රියන්ගෙත් නැති මේ ''මම'' ඉන්නෙ කොහෙද? මගේ අත, මගේ කකුල, මගේ හදවත... මේ සියල්ල මගේ මිසක් ''මම'' නෙවෙයි. ඇඟත් මගේ ඇඟ. නමුත් යමෙකුට තමන් පෙන්වන්නෙයි කිව්වොත් තමන් දෙසටම අත දිගු කරල තමන්ගෙ ශරීරය පෙන්වනවා. නමුත් ඒක මගේ ශරීරය කියල කිව්ව මිසක්, මම කවුද කියල දකල නැති බව තමයි පේන්නෙ. ඉතින් මම කියන කෙනා ලොකුද, පොඩිද, කළුද, සුදුද, තලඑළළුද, කෙබඳුද? මේ කාරණය හොඳින් හොයල බලල



තේරුම් ගන්න ඕන.

මියගිය මොහොතේ චුත වුණේ කවුද? පටිසන්ධිය ලැබුවෙ කවුද? මගේ මගේ කියපු ශරීරය නම් මම වෙලා හිටියෙ නැති බව ඔප්පු කරමින් මගේ කියපුවා දමල ගිහින්, මම කියපු කෙනාගෙ මළ මිනිය නම් තියෙනවා. ඒ ''මම'' හොයන්න නම් පටිසන්ධිය ලබපු කෙනා හොයන්න වෙනවා. කෙස්, ලොම්, නියපොතු, දත්, සම්, මස්, ඇට, ඇටමිදුළු, නහර ආදියේ පටන් තද ගතියට තිබුණු කෑලි ටික ඔක්කොම තියෙනවා. ද්‍රව ගතියට තිබුණු පිත, සෙම, සැරව, ලේ ආදියත් සේරම තියෙනවා. ඇගේ දුවපු වායුවක් තිබුණ නම් ඒකත් එක්කො බාහිර පරිසරයේ වායුවලට මිශ්‍ර වෙලා, නැත්නම් මළ මිනිය ඇතුලෙ. උෂ්ණයත්, හරියට අව්වට රත්වෙන්න දමල තිබ්බ්ච කෙහෙල් කොටයක් අව්ව නැති තැනක තියල තිබුණම උෂ්ණය අවට පරිසරයට එකතු වෙලා නිවෙනව, සීතල වෙනව වගේ, ශරීරයත් මැරිල ටික වෙලාවකදී කෙහෙල් කොටේ වගේ සීතල වෙනවා. තිබුණ සේරම කොටස් මෙහේ දාල ගිහින්. නමුත් "මම" එතැන නෑ. එහෙනම් "මම" කියපු කෙනාට වෙච්ච දේ හොයන්න උතුම් බුදු දහම අරගන්න ඕන.

මරණයෙදී සිද්ධ වෙන්නෙ මොකක්ද? මැරෙන්න ටිකකට කලින් ඔය කියන ඇස, කන, දිව, නාසය, ශරීරය බාගෙට මැරෙනවා. ඒ කිව්වෙ "මම" කියපු කෙනා රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේවා ලබා ගත්තෙ ඔය කියපු ඉන්ද්‍රියන් පහෙන්. මේ ලෝක සම්මතයේ ''මම'' කියපු කෙනා ඇත්ත වශයෙන්ම බැලුවොත් හරිම පුංචියි. ඇහැට පේන කෙනෙක් නෙවෙයි. ඒකට තමයි පටිසන්ධියෙදී හේතු ඵලයක් වශයෙන් ගොඩනැගෙන වස්තු රූපය කියල කියන්නෙ. ඒ කියන්නෙ "මම" කියන කෙනා ගොඩ නැගෙන්නෙ පරමාණුව කියන අති සූක්ෂම රූප මාත්‍රයකින්, අවිද්‍යාවේ තෘෂ්ණාවේ හේතු ඵලයක් වශයෙන්. මේ ''මම'' යන්න සංඥා මාත්‍රයකින් ගොඩනැගෙනවා. තවදුරටත් බැලුවොත් ආසාවේ හේතු ඵලයක් හැර, මම කියල එකාකාරව පවතින සදාතනික කෙනෙක් නැති බව පේනවා. හැබැයි විද්‍යාඥයින් කියන පරමාණුව නෙවෙයි බුදුන් වහන්සේ දේශනා කළේ. ඊට වඩා ලක්ෂ කෝටි වාරයකින් කුඩා එකක්. කුඩා වුණාට හරිම බලවත්. මේ වස්තු රූපයට ධර්ම සට්ඨනය වෙලා දැනීම් හෙවත් විඥ්ඥාණ පහළ කරනවා. විඥ්ඥාණ ධාතු කියන්නෙ හිතින්ම පමණක් වටහා ගන්න පුළුවන් දෙයක්. අනාවරණ ඥානය නිසා බුදුන් වහන්සේට මේ විඥ්ඥාණ ධාතුවේ හැටි දකින්න පුළුවන් වුණා. අපි නිකම්ම විස්වාසයකින් නෙවෙයි, හේතු සාධක ඇති විස්වාසයකින් ඒක පිළිගන්නවා. කොහොමද කියනව නම්, ඇමෙරිකාව, එන්ගලන්තය ආදී රටවල්වලට අපි නොගිහින් තිබුණට, ඇත්තටම දැක්කෙ නැති වුණාට, ගියපු අය අනුසාරයෙන්, විවිධ මාධ්‍යවලින් දකල ඒ විස්වාසයෙන් පිළිගන්නවා වගේ අපිත් විඥ්ඥාණයේ හැටි අහල තමයි පිළිගන්නෙ.

විඥ්ඥාණය සහ විඥ්ඥාණ ධාතු කියන්නෙ අවස්ථා දෙකක්. ධාතුවක් කියන්නෙ කොටසක්. විඥ්ඥාණ හැදෙන මූලික කොටස තමයි විඥ්ඥාණ ධාතු කියන්නෙ. විඥ්ඥාණය කියන්නෙ රැනක්.

හරියට දම්වැලයි දම්වැල් පුරුකයි වගේ. දම්වැල් පුරුක් සම්බන්ධ වෙලා තමයි දම්වැල හැදෙන්නෙ. ඒ වගේ, ධාතුවක් කියන්නෙ පුරුකක්. විඤ්ඤාණය කියන්නෙ දම්වැලක් වගේ රැනක්.

ඉතින් රූප, ශබ්ද, ගන්ධ... ආදී ආස්වාදයන්ට හිත තියාගෙන ඉන්න කොට, ඒවම ස්පර්ශ කරමින් දන ගන්න තියෙන ආසාව නිසා විඤ්ඤාණ ධාතුව ඔය කියන වස්තු රූපය නමැති සුද්ධාෂ්ටකය ඇසුරු කරගෙන එක් භවයකින් චුත වෙන මොහොතෙ කර්ම, කර්ම නිමිති, ගති නිමිති කියන ආසාවෙන් බැඳුණු ලෝකාස්වාදයකට බලාපොරොත්තු තියාගෙන අල්ලගත් නාම රූප ඇසුරු කරමින්, භවාංග හිත කියන මනෝ විඤ්ඤාණය පහල කරගෙන, ඒ විඤ්ඤාණය ක්ෂණයක් පාසා නැසෙන කොට අලුත් එකක් අල්ලගෙන අවිද්‍යා තෘෂ්ණා දෙකේ සංයෝගයෙන්, කර්ම ශක්තිය උපකාරයෙන් පවත්වා ගෙන යන මේ නාම රූප පරම්පරාවට තමයි ඔය ''මම'' කියන හැඟීම ඇති වෙන්නෙ. ඒ විඤ්ඤාණය හැම වෙලේම ආසාවෙන් ඉන්නෙ, එහෙම පරම්පරාව ගෙනියන ගමන් රූප බලන්න, ශබ්ද අහන්න, ගඳ සුවඳ දැන ගන්න, රස විඳින්න, ස්පර්ශ විඳින්න, ඒවා ගැන අතීත අරමුණු අල්ලමින් ආස්වාද විඳින්න. අර කියපු මනෝ ධාතුව සුද්ධාෂ්ටකය ඇසුරු කරගෙන ඉන්නෙත් ඒ නිසා. මෙතැනදි ඇසුරු කරගෙන ඉන්නවා කිව්වම, විඤ්ඤාණ ධාතුව සුද්ධාෂ්ටකයට විප්‍රයුක්ත ප්‍රත්‍යයෙන් තමයි ප්‍රත්‍ය වෙන්නෙ. ඒ කියන්නෙ වෙන් වෙලා ඇසුරු කරනවා. හරියට ජලයට තෙල් දැම්ම වගේ. එතකොට එකතු නොවී ජලය ඇසුරේ තෙල් තියෙනවා. නමුත් ජලයට සීනි දැම්මොත් දියවෙනවා. එතකොට ඒක සම්ප්‍රයුක්ත ප්‍රත්‍යයෙන් තමයි ප්‍රත්‍ය වෙන්නෙ. මේ විදිහට මනෝ ධාතුව සුද්ධාෂ්ටකය ඇසුරු කරගෙන ඉන්න කොට ඒකට තමයි කොහෙන් ගෙනාවත් රූප පරමාණු ස්පර්ශ කරන්නෙ. ඒකෙ රැඳිල වැලඳගෙන ඉන්න මනෝ ධාතුව, හැම වෙලේම කර්ම ශක්තියෙන් ගෙනත් ස්පර්ශ කරවන ධර්ම කලාප මගින්, මැරෙන මොහොතේ අල්ලගත් කර්ම, කර්ම නිමිති, ගති නිමිතිවලට අනුව අනුකූල ලෙස ස්පර්ශ කරවමින් ඒ ස්පර්ශ ආස්වාද විඳ විඳ පැවතගෙන එනවා.

හැබැයි එහෙම මතකයන් ගත්තට මදි. ඒවා අතීතයෙන් ඇද ඇද ගත්තට ලෝකයේ රූප කලාප ස්පර්ශ කරල ඒ ඒ වෙලාවෙම ආස්වාද විඳගන්න හිත බලාපොරොත්තු වෙන නිසා, මනෝ ධාතුව ඇලී පවතින ඒ සුද්ධාෂ්ටකයේ තියෙන පඨවි ගතිය ස්පර්ශ කරන්න, කර්ම ශක්තියෙන් පඨවි ගතිය ස්පර්ශයට සුදුසු විදිහට ඔප් නැංවුන කාය දසකය (කාය ප්‍රසාද රූපය) කියල තවත් පරමාණුවක් ළං කරගෙන ඉන්නවා. වස්තු රූපයට සම්බන්ධ වුණ පරමාණුවේ ආපෝ ගතියට ස්පර්ශ වෙන්න තවත් ඒ ගතිය ඔප් නැංවුණ පරමාණුවකුත්, තේජෝ ගතිය ස්පර්ශ කරන්න ඒ ගතිය මතු කරගත් පරමාණුවකුත්, වායෝ ගතිය ස්පර්ශ කරන්න ඒ ගතිය මතුකරගත් පරමාණුවකුත්, ආකාස ගතිය ස්පර්ශ කරන්න ආකාස ගතිය ඔප් නැංවුණ පරමාණුවකුත් වටකරගෙන පිරිවර විදිහට පරමාණු වශයෙන් තියා ග න්නවා (මේවාට කියන්නෙ ප්‍රසාද රූප කියල).

මේවා සිද්ධ වෙන්නෙ අපි කරපු කර්ම නිසා ඒ පැවැත්මට හැඩග ැසුණු ශක්තියෙන්, බලයෙන්. ආසාවන් නිසා මේවා ඇසුරු කළත් මනෝ ධාතුව සුද්ධාෂ්ටකය පමණක් ඇසුරු කරගෙන ඉන්නව නම් මහ බලවත් වෙනවා. එතකොට දැනෙන ගතිය, ඒ කියන්නෙ මනෝ ධාතුවේ නියම ස්වභාවය මතුවෙනවා. ඒ නියම ස්වභාවය, මනෝ ධාතුව සුද්ධාෂ්ටකය පමණක් ස්පර්ශ කරමින් ඉන්න වෙලාවෙදි මතුවෙනවා. මනෝ ධාතුව නිදහසේ ආසාවන් පස්සෙ නොගිහින් ඉන්න කොට ආවේණික වූ ආලෝක ධාතුව ක්‍රියාත්මක වෙනවා. එතකොට එළිය දැනෙනවා. ප්‍රභාස්වර බව කිව්වෙ ඒකට. ඒ මනෝ ධාතුව සුද්ධාෂ්ටකය ස්පර්ශ නොකර හිටියොත්, රූප ස්පර්ශ නැති (ධර්ම රූප හැර) දැනීම හෙවත් මනෝ ධාතුවේ නියම තත්ත්වයට පත්වෙනවා. අරූප ලෝක ස්වභාවය කියන්නෙ ඒකයි. මේ ස්වභාවයෙදි සුද්ධාෂ්ටකය ස්පර්ශ කරමින් ඉන්නකොට තිබුණු එළිය ක්‍රමයෙන් කුඩා වෙනවා. එහෙම වෙන්නෙ එළිය මූල වූ මනෝ ධාතුවෙන් විහිදෙන දැනීම් එළිය, වදින්න තැනක් නැති නිසා. උපමාවක් කියනව නම්, වලාකුළක්වත් නැති අහස තියෙන දවසක ෆ්ලෑෂ් ලයිට් එකක් බිමට පාත් කළාම හැම තැනම එළියයි. ආකාසය දෙසට හැරෙව්වම එළිය පේන්නෙ නෑ. දීප්තිය පේන්නෙ නෑ. නමුත් එළිය තියෙන බව දන්නවා. මේ තමයි අරූපයේ ''මම'' කියන සංඥාව.

මනෝ ධාතුවට ආකාසය අරමුණු වෙනකොට දැනීම් ආලෝකය දීප්තිමත් වළාකුලක ස්වභාවයෙන් අනන්තව පැතිරිලා පේනවා. එහෙම එළිය වෙන්නෙ ආකාස ධාතුව අලෝභ, අද්වේශ, අමෝහ හේතුවේ ඵලයක් වශයෙන් සකස් වෙච්ච නිසා. මුල් වෙච්ච අරමුණ අරූපාවචර නිසා ඒක අලෝභ, අද්වේශ, අමෝහවලට අයිති වෙන්නෙ. ආකාසයෙන් මිදිල විඤ්ඤාණංචායතනයට පත් වුණාම, යම් කිසි කිරි ටිකක් ලිපේ තියල රත් වෙනකොට කිරි හිඳිල තෙල් පැදිලා යනව වගේ, තෙලේ හෝ වතුරේ පාටක් කියන්න බෑ වගේ, අනන්ත ආකාසය තිබ්බ්ච තැනම අනන්ත විඤ්ඤාණය පැතිරිලා පේන්න පටන් ගන්නවා. දැන් "මම" කියන්නෙ අන්න ඒ අනන්ත විඤ්ඤාණයට. "මම" කියන සංඥාවෙන් දැකපු දැනීම ආකිංචඤ්ඤායතන අවස්ථාවේ ඉතා කුඩා දැනීම් බිඳක් විදිහට පේනවා. නේවසංඥා නාසංඥායතන අවස්ථාවේ දැනීමේ දර්ශනය ගෙවෙන හැටි, ඉතා සියුම් දැනීම් මාත්‍රය ගෙවිල අහෝසි වෙන්න යනකොට නැවතත් හිතින්ම දැනීම් ගොඩනගල මුං ඇටයක් තරමට ගෙ ාඩනැගෙමින් නොනැවතී කරන



ක්‍රියාවක් විදිහට නිරන්තරයෙන් සිද්ධ කරන ආකාරය දකින කොට, "මම" කියන හැඟීම ඇති කරන මේ දැනීම් ස්වභාවය නිතර ගොඩනගන දෙයක් බවත්, කිසි හරයක් ඉතිරි නොකර ඒ ඒ අවස්ථාවේම ගෙවිල යන දෙයක් බවත් වැටහෙන්න පටන් ගන්නවා. ඒ ඒ මොහොතේ ගොඩනගන දැනීම් මාත්‍ර වැලකට, හේතු ඵල පරම්පරාවකට " මම" කියනවා මිසක් මීට අමතරව ඒකාකාරව පවතින සදාතනික මමෙක් නැති බවත් වැටහෙන්න වෙනවා.

"මම" කියන්නෙ කොයි මොහොතකවත් ඒකාකාරව පවතින කෙනෙක් නෙවෙයි. කර්ම ශක්තිය ක්‍රියාත්මක වෙන නිසා මොහොතින් වැනසෙන කොටම ආසා බලාපොරොත්තු ශක්තිය නිසා ඒ මොහොතේම ඊළඟ අවස්ථාව හදනවා. මේ වේගය තරම් වේගවත් ක්‍රියාවලියක් විශ්වයේ වෙනත් කිසි තැනක ☞

නෑ. වැල නොකැඩී අනන්ත සංසාරයේ පටන් එන නිසා, එක් කෙනෙක් ඉන්නව වගේ පේනවා. කරජකාය ඇතුළෙ ඇසුරේ ඉන්නව වගේ පේනවා. ඒ කරජකාය කිව්වෙ මේ ''මම'' කියල පෙන්වපු අති සියුම් නාම රූප පරම්පරාවේ ගතියට අනුව විහිදෙන, කාන්දමට අහු වෙලා ආහාර ඕජසින් හදපු ශරීරයට. ඒ ශරීරය ඒ ගතියට අනුව වැඩෙනවා මිසක් කවුරුවත් හදනව නෙවෙයි. බැරිවෙලා හරි මරණයක් වෙලා සූක්ෂම ශරීරයෙන් යන්න වුණොත් හෝ චුත වුණොත්, සූක්ෂම කර්මජ සිරුරක් පිටවෙනවා. ඒක කාන්දම් ශක්තියෙන් හැදෙනවා. ඒකට හිතන්න දෙයක් අවශ්‍ය නෑ. කර්ම ශක්තිය මුල් වෙලා හට ගත්තට පසු චිත්ත, ඍතු, ආහාර ඇසුරෙන් ඒක සිද්ධ කරනවා. මේ ඇලීම්, ගැටීම්, ආසාවල් දුරු කළ අයට, පටිසන්ධියකින් ලබපු ශරීරය තියෙද්දිම තමන් හුරු කරල තිබුණ ගතිවලට අනුව ශරීර මවාගෙන සියුම් ශරීර කුඩුවකුත් ඇතිව කැමති තැනකට යන්න එන්න පුළුවන්. ශක්තිය බලවත් කරල මනෝ ධාතුවෙන් වැඩ ගන්නත් පුළුවන්. ඒවාට ඍද්ධි බල කියල කියනවා.

මේ ක්‍රියාවලිය තේරුම් ගන්න බැරි වුණාම, අපට පේන්නෙ සත්ත්වයෙක්/පුද්ගලයෙක් යනව එනව කියල. ඒ සත්ත්වයා/ පුද්ගලයා හැඩයි, කළුයි, සුදුයි, ලස්සනයි කියනවා. පුද්ගලයෙක් ගැන හැඟීම් ඇති වෙනවා. මේ මුළාව ඍෂිවරු කියන යෝගීන්ටවත් ඇරගන්න බැරි වුණා. ඒ නිසා සියුම් ශරීරයක් ඇති ආත්මයක් මේ ශරීරය ඇතුළෙ තිබිල පිටවෙලා යනව කියනවා. ඒ අයත් එහෙම නම් අද ඉන්න ලෞකික ධ්‍යාන ලාභීන්, විවිධ සමාධි වඩපු අය රැවටෙන එක පුදුමයක්ද? පොඩ්ඩක් හිතන්න, ඔළුවෙ ඉඳන් ගෝනියක් පෙරවගෙන වහගෙන ළමයෙක් පාරෙ ගියා නම් අපි කියනවද දුඹුරු පාට ගෝනියක් පාර දිගේ යනව දැක්ක කියල? පේන හැටි ඇහුවොත් නම් එහෙම පේනව කියන්න පුළුවන්. ඒක මොකක්ද කියල ඇහුවොත් දන්න කෙනා කියනවා, ගෝනියක් යනව වගේ පෙනුණට ගියේ ළමයෙක්, ගෙ ා්නියකින් වහගෙන යනකොට පේන්නෙ ගෝනියක් යනව වගෙයි කියල.

මේ වගේ අපි දැන ගන්න ඕන, කෙනෙක් මැරිල සූක්ෂම කයකින් පිටවෙන කොට හෝ මැරිල චුත වෙලා පිටවෙන කොට හෝ පේන්නෙ නියම සත්ත්වයා නෙවෙයි කියල. ඒ පේන ශරීරයත් අර ගෝනිය වගෙයි. සත්ත්වයා කියල සම්මතයක් හදාගෙන තියෙන්නෙ පාට කියන්න, හැඩරුව කියන්න තරම් දෙයක් නෙවෙයි, ඇහැටවත් පේන්නෙ නැති හේතුඵල ක්‍රියා පරමාණු පුංජයක් බව දැනගන්න ඕන. මේ ටික බලල හරියට තේරුම් ගත්ත නම්, සතෙක් ගැන නැවතත් හොයන්න යන්නෙ නෑ. සත්වයා කියන්නෙ මායාවක් බව වටහා ගන්න පුළුවන්. ඒ වගේම ''මම'' කියල කෙනෙක් ඉන්නව කියල ආත්ම දෘෂ්ටියක් නොගත යුතුයි.

මීළඟට විඤ්ඤාණය පිළිබඳ කතා කළොත් චිත්ත, මනෝ, විඤ්ඤාණ කියන නම්වලින් අද මේක හඳුන්වනවා. විචිත්‍ර බව විද්‍යමාන වන ගති පෙන්වන නිසා චිත්ත කියල හඳුන්වන්න පුළුවන්. මේ මේ ආකාරයි කියල මනින ලක්ෂණයෙන් මනෝ නමින් හඳුන්වන්න පුළුවන්. ඥානයෙන් තොර වූ නිත්‍ය, සැප, ආත්ම (නිච්ච, සැප, අත්ථ) හැඟීමෙන් මනින ගති ඇති කරන නිසා විඤ්ඤාණ කියලත් කියන්න පුළුවන්. මේක උත්සාහය, වීර්ය සහිත බලාපොරොත්තුවක්. ආරම්මන විජානන ලක්ෂණය (අරමුණු විවිධාකාරයෙන් දැන ගන්නා ලක්ෂණය) සිත බව බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. මනෝ විඤ්ඤාණ ධාතුව කියන්නෙ ලෝකයේ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති ආදී වශයෙන් හඳුන්වන ආකාරයන්ගේ ආකාර වශයෙන් වටහා ගැනීමට හේතුවන මූල වැටහීම් මාත්‍රය. මනෝ විඤ්ඤාණ පහල වෙන්නෙ මනෝ තලයේ යම් නාම රූප පහල කරන ධර්මතාවන්ගේ සට්ඨනයක්, ස්පර්ශයක් පහල කරන කොට. එතකොට ඒකෙ ප්‍රතිඵල විදිහට ඒ ක්‍රියාවලිය සිද්ධවන මොහොතෙදිම විඤ්ඤාණ පහල වෙලා ක්ෂණයකින් බිඳිල යනවා. මේ විඤ්ඤාණක්ෂණ වැලක් ඇති වෙනකොට දැන ගැනීමේ, විඳීමේ, රැස් කිරීමේ සහ පැතීමේ බලාපොරොත්තුව නිසා ඇති කරන ඇද ගැනීමේ ශක්තිය ඇතිව පහල වන විඤ්ඤාණ ක්ෂණයකට අනුරූප මතක සටහන් අරමුණු කරල ගොඩනගා ගන්නවා.

ඒ වගේම ඒ නාම රූප ඇසුරු කරන විඤ්ඤාණ ක්ෂණය නාම රූප වටහා ගන්නා බලය වැඩි කරමින් ඊළඟට අනුකූලව නිපදවන විඤ්ඤාණයෙදි පෙරට වඩා බලවත් කරල නිපදවනවා. තත්පරයකදි කෝටි ලක්ෂ වාර ගණන් මේ චිත්තක්ෂණ ඉපදෙමින් බිඳෙමින් ඒවායේ බැසගත් නාම රූප ධර්මයන් නිසාත්, පැවැත්වීමේ බලාපොරොත්තුව නිසාත්, එකින් එකට වර්ධනය වෙමින් මේ විඤ්ඤාණ පරම්පරාව ගේන කොට, භවයේ මතක සටහන් විදිහට නාම ගෝත්‍ර ධර්මතා නමින් ඇදෙමින් ඒවාට අනුරූපව අවිද්‍යා තෘෂ්ණා හේතු කරගෙන බලවත් කරනවා. මේකට ආසේවන ප්‍රත්‍යය කියලත් කියනවා. මේ නිසා යම් අතීත අරමුණක් හොඳ වේවා, නරක වේවා දිගින් දිගටම කැමැත්තෙන් මෙනෙහි කරන කොට, ඒ විඤ්ඤාණ බලවත් වෙලා ඒවාට ආවේණික ගතිය වර්ධනය කරනවා. අවිද්‍යා, තණ්හා දෙක මුල් කරගෙන අනාගතයෙත් බලාපොරොත්තු වෙනවා. ඒ නිසා නැවතත් කාම සිතිවිලි ඇති වෙනවා. මේ විදිහට විඤ්ඤාණ පරපුර හැදෙනවා. එහෙම නැත්නම් පින් සිත්, පව් සිත්, අව්‍යාකෘත සිත් (විපාක සිත් හෙවත් පින් පවු නොවන සිත්) කියල කියනවා. යම් විටෙක මේ පින් පව් දෙකින් වෙන් වෙන ලොකෝත්තර ආර්ය අෂ්ටාංගික මාර්ගය වඩන කොට සමථ පලයක් වශයෙන් චිත්ත නම් වූ අරමුණු දැනෙන බව පමණක් ඉතිරි වෙනවා. එතකොට ප්‍රභාස්වර බව මතු වෙනවා. ආර්ය වූ චතුර්ථ ධ්‍යාන සිත ප්‍රභාස්වරයි. ''පභස්සර මිදං භික්ඛවේ චිත්තං'' කියල චිත්ත බව විද්‍යමාන වෙනවා.

විඤ්ඤාණත් චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණ, ඝාන විඤ්ඤාණ, ජිව්හා විඤ්ඤාණ, කාය විඤ්ඤාණ, මනෝ විඤ්ඤාණ කියල හය ආකාරයි. මේවා පෙර භවයේ ලැබූ පටිසන්ධි විඤ්ඤාණය, භවාංග චිත්තය, පෙනීම, ඇසීම, ගඳ සුවඳ දැනීම, රස දැනීම, ස්පර්ශය දැනීම ආදී වශයෙන් විද්‍යමාන වන විපාක සිත්වලට ගැනෙනවා. ක්‍රියාත්මක වන ලෙසින් කරනවා, බලනවා, අහනවා, ඉඹිනවා, රස විඳිනවා, ස්පර්ශ කරනවා කියල ගැනීම පින් සිත් පව් සිත් වශයෙනුත්, ධර්ම ශ්‍රවණ, ආර්ය දර්ශන ආදිය කුසල් සිත් වශයෙනුත් ගැනෙනවා. (පින් සහ කුසල් කියන්නෙ එකක් නෙවෙයි දෙකක් බව තේරුම් ගන්න ඕන. හරියට එකම ගෙඩියක ලෙල්ල සහ මදය වගෙයි.) මෙයින් පව් සිත් හට ගැනීමට ක්‍රියා කළාම දුක් විපාකත්, පින් සිත්වලින් භවයේ සැප විපාකත් විඳින්න ලැබෙනවා. කුසල් සිත්වලින් කෙරෙන්නෙ නිවන් මග වැඩීම.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 57 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

● ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ● අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ● චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ● චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ● ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ● අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ● යසස් දර්ශනප්‍රිය මහතා - අළුත්ගම ● ඩබ්. ඒ තිළිණවතී මහත්මිය - කඩවත ● සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ● ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ● පිටකෝට්ටේ ● ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ● නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

● ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ● චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ● සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ● තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ● අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ● කේ.කේ ජයමනි චන්ද්‍රිකා මහත්මිය සහ දිනේෂ් ධර්මප්‍රිය මහතා - කරාපිටිය, ගාල්ල - රු. 7,000/- ● අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ● ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ● සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ● අමිල සුගතපාල මහතා ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 5,000/- ● අසේල වෛද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - කොළඹ 05 - රු. 5,000/- වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු 5,000/- ● කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ● ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ● කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ● ඒ. එම්. ඩී. සී අමරසිංහ මහතා - දුම්මලසූරිය - රු. 3,000/- ● සකුන්තලා කරුණාතිලක මහත්මිය සහ උදාර කරුණාතිලක මහතා - බත්තරමුල්ල - රු. 3,000/- ● ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගෙ ාඩ කළුතර - රු.2,500/- ● ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ● ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ● ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ● ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ● ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ● සංජය රණවීර මහතා - මහරගම - රු.2,000 ● නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ● දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 2,000/- ● ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න - රු. 2,000/- ● ඔමෙත් ජයසිංහ පුතා ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 2,000/- ● සංජීවනි ලියනගේ සහ මල්ලිකා විජේතිලක මහත්මීන් - බුලත්සිංහල - රු. 2,000/- ප්‍රේමලතා රත්නායක මහත්මිය - නුගේගොඩ - රු 2,000/- ● ධනුෂ්ක, නයනි, සසිකලා, සුනේත්‍රා, කල්‍යාණවතී යන මහත්ම මහත්මීන් - මීගොඩ - රු. 1,700/- ● අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ● තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ● පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුල් සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ● විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.1,500/- ● කෝසල ජයතිලක මහතා - ගම්පහ - රු. 1,500/- ● ඒ. එල්. ජී වීරසූරිය මහත්මිය සහ තාරක, මංජුල පුතුන් දෙදෙනා - රු. 1,500/- ● දූලීකා ගුණවර්ධන මෙනවිය - අතුරුගිරිය - රු. 1,500/- ● ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු.1,400/- ● කේ. ශිවන්ති ශෂිප්‍රභා ප්‍රනාන්දු, කේ. තිලකරත්න ප්‍රනාන්දු, ජී.ඩී මල්ලිකා, කේ. ළහිරු අසංග ප්‍රනාන්දු යන මහත්ම මහත්මීන් - කිරිමැටියාන - රු. 1,210/- ● පද්මා ජයනෙත්ති මහත්මිය - නුගේගොඩ - රු.1,000/- ● ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ● එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ● ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ● නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-● ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ● අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ● එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ● සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ● සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ● ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ● ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ● සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ● ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ● මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1000/- ● බී.කේ විශාකා මහත්මිය ඇතුළු පවුලේ සැම - දෙල්කඳ - රු.1,000/- ● ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ● ඩී. චාමර චතුරංග මහතා සහ කේ. පී. සී. කේ පතිරණ මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ● වයලට් කුසුමලතා වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු.1,000/- ● නවින්දා බුද්ධදාස මහත්මිය - මිරිහාන - රු. 1,000/- ● යූ. එච් ලාල් ලලිත් මහතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ● ශ්‍රියා සමරරත්න මහතා සහ ශෙවන්ති සමරරත්න මහත්මිය - මොරටුව - රු. 1,000/- ● සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ගම්පහ - රු. 1,000/- ● තිසර ශානක කරස්නාගොඩ මහතා - ගම්පහ - රු. 1,000/- ● චන්ද්‍රිකා පෙරේරා මහත්මිය - රතුපස්වල - රු. 1,000/-, ● කුසුම් වික්‍රමසිංහ මහත්මිය සහ නන්දනී කරස්නාගොඩ මහත්මිය - රදාවාන - රු. 1,000/- ● ආනන්ද රණසිංහ මහතා - හොරණ - රු.1, 000/- ● අත්තනගල්ල ප්‍රාදේශීය මහ ලේකම් කාර්යාලයේ සැලසුම් අංශයේ කාර්ය මණ්ඩලය - රු. 1,000/- ● ඊ. ඒ එරන්දති සදසීලි මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ● පී. ඩී සෝමාවතී මහත්මිය - හොරණ - රු.1,000/- ● නලින්ද ප්‍රේමරත්න මහතා - මහරගම - රු. 1,000/- ● ප්‍රියසලා පද්මසිරි මෙනවිය ඇතුළු පවුලේ සැම - මැදවච්චිය - රු. 1,000/- ● තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, හංසි නෙත්මිණී මුණසිංහ මෙනවිය - කොට්ටාව, කරුණා මහවත්ත මහත්මිය - බෝපෙ, චන්ද්‍රානි බියට්‍රිස් මහත්මිය - මහරගම, චිත්‍රා නානායක්කාර මහත්මිය සහ එරන්දිකා ශිවන්ති මහත්මිය - මහරගම, රංජිත් වික්‍රමසිංහ

මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, දමයන්ති ලියනගේ මහත්මිය - කිතලපිටිය, ප්‍රියන්ත ගුණතිලක මහතා - පිලියන්දල, ඩී. ජී. ටී. මැණිකේ මහත්මිය - යටිවැල්දෙනිය - එකතුව - රු. 5,800/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 194,610/- ● පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 276,000/- ● අනෙකුත් වියදම් - 16,110/- ● සම්පූර්ණ වියදම - රු. 292,110/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878(9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල. - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල. (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726, (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# ලොව මත නොනැසී වෙහෙසෙනු විදසුන් මත්තේ...

සිරවී සසර බැම්මට ඇලිලා ලොවට
මුසුවී මනු සතුන් අකුසලයට පවට
හසුවී මරුගෙ සැප ලෙස දිස්වූ ඇමට
විසිවී නිවන් මග ලෝ සතගෙන් දුරට

රාගය ගිනිය තිරිසන් ලොව දුක දෙවන
දෝසය ගිනි කඳකි මහ නිර දුක් ලැබෙන
මෝහය නිසා මේ ලෙස සසරක දැවෙන
පාපය දැකල මිදුනම නිම වෙයි ගමන

රෝදය ලෙසින් හේතුවෙ ඵල ලෙස දිවෙන
ලෝකය ගිනි ගොඩකි නිති දුක් කඳ දෙවන
සෝකය දුක දෙවයි ලොව සැප ලෙස මැවෙන
මෝහය දුරැර මිදුනම හිමි වෙයි නිවන

කරමින් පාප කම් අකුසල් දිවිය පුරා
සරමින් සසර ඇවිදියි දුක් කළුළු පෙරා
දරමින් දහම මතු සැනසුම් සුවය අරා
වරමින් පාප අකුසල් ගනු කුසල දරා

අන් සත දොස් සෙවුම නොම වෙයි කළ යුත්තේ
තම සිත නිවන වෙත යොමවා ගත යුත්තේ
මේ ගත වන මොහොතෙ මරු පසු පස ඇත්තේ
ලොව මත නොනැසී වෙහෙසෙනු විදසුන් මත්තේ



පබැඳුම - වළස්මුල්ලේ සුචරිත ආරියරත්න



# ඇසිපිය ගසන මොහොතක...

දුලභව සිදුවූ බුදු උපතක කලකි ලද
අලසව හිටියොතින් නොලැබෙති එලය එද
සැලසුණ දෙසකි වැඳ ගැනුමට මොහොත කද
නොලබති සැවොම හිටියද මෙහි සැපද විඳ

තියෙනා විටදි නැත අගයක් සතට ලොවේ
මියෙනා මොහොතෙදිත් ලොව වෙත මනස දිවේ
ලබනා අත්බවද දුක් විඳ එලෙස ගෙවේ
සිතනා කෙනෙක් නැණ නුවණින් එතැන නිවේ

පෙරත් අසූ මහ සව්වන් පෙරුම් පිරූ
සරත් සසර සුළු පින්කම් කරන් හුරූ
තුරත් ඒ අතර දුගතිව ගියත් දැරූ
දෙයක් වෙද ඇදී ඇත මතු ලෙසින් සරූ

ඇහිපිල්ලක ගසන මොහොතකි ලැබ ඉන්නේ
දුහුවිල්ලක වටින දෙයකද නොකරන්නේ
සැනසිල්ලක සුවය බල බල වෙහෙසෙන්නේ
සිතිවිල්ලක ගුණය ඇති බව නොම දන්නේ

පිටතින් දකින දසුනක තතු නොකොට සුළු
නැණසින් දකිනු මතුවට මහ කඳකි අළු
සසරින් තැනුව දුක් කඳ මහ කළුළු හෙලූ
මෙතැනින් පටන් ගෙන අහවර කෙරෙන වලූ

දැන් දැන් සිටම දල්වා නැණ එළි පහන
ඉන්නා ටික කලට ලැබ ගෙන සුව සහන
පින් දම් කළොත් මොහොතක බුදු බණ අහන
තුන් ලොව ජය ගනී ඇත නිවනට යහන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී